# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා
ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති
අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ
අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ
අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

තිළිණය ලෙසින් රජයෙන් මේ පොත ලදිමි
කියවා එයින් නැණ ගුණ එළි කර ගනිමි
මගෙ රට වෙනුවෙන් ම දෑ සම්පත් රකිමි
මේ පොත එන වසරෙ වෙන කෙනකුට පුදමි

**அரசின் வெகுமதியாய் நூலிதனைப் பெற்றேன்**
**அறிவு பெருகிடவே நூலிதனைக் கற்பேன்**
**தாய் நாட்டின் வளமெனவும் நூலிதனைக் காப்பேன்**
**பல மாணவரும் பயின்றிடவே நூலிதையே அளிப்பேன்**

From the government, I received this as a gift
I’ll read it, light up my knowledge and practise thrift
On my country’s own behalf, I’ll protect the national resources
And offer this book to another one as a fresh garland of roses



**"අලුත් වෙමින්, වෙනස් වෙමින්, නිවැරදි දැනුමෙන්**
**රටට වගෙ ම මුළු ලොවට ම වෙන්න නැණ පහන්"**

<u>ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය</u>

ගෙවී ගිය දශක දෙකකට ආසන්න කාලය ලෝක ඉතිහාසය තුළ සුවිශේෂී වූ තාක්ෂණික වෙනස්කම් රැසක් සිදුවූ කාලයකි. තොරතුරු තාක්ෂණය, සන්නිවේදනය ප්‍රමුඛ කරගත් සෙසු ක්ෂේත්‍රවල ශීඝ්‍ර දියුණුවත් සමඟ වත්මන් සිසු දරු දැරියන් හමුවේ නව අභියෝග රැසක් නිර්මාණය වී තිබේ. අද සමාජයේ පවතින රැකියාවල ස්වභාවය නුදුරු අනාගතයේ දී සුවිශේෂී වෙනස්කම් රැසකට ලක් වනු ඇත. එවන් වටපිටාවක් තුළ නව තාක්ෂණික දැනුම සහ බුද්ධිය කේන්ද්‍ර කරගත් සමාජයක වෙනස් ආකාරයේ රැකියා අවස්ථා ද ලක්ෂ ගණනින් නිර්මාණය වනු ඇත. ඒ අනාගත අභියෝග ජයගැනීම වෙනුවෙන්, ඔබ සවිබල ගැන්වීම අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මගේත්, අප රජයේත් ප්‍රමුඛ අරමුණයි.

නිදහස් අධ්‍යාපනයේ මාහැඟි ප්‍රතිලාභයක් ලෙස නොමිලේ ඔබ අතට පත් වන මෙම පොත මනාව පරිශීලනය කිරීමත්, ඉන් අවශ්‍ය දැනුම උකහා ගැනීමත් ඔබේ ඒකායන අරමුණ විය යුතු ය. එමෙන් ම ඔබේ මවුපියන් ඇතුළු වැඩිහිටියන්ගේ ශ්‍රමයේ සහ කැපකිරීමේ ප්‍රතිඵලයක් ලෙස රජය විසින් නොමිලේ පාසල් පෙළපොත් ඔබ අතට පත් කරනු ලබන බව ද ඔබ වටහා ගත යුතු ය.

ලෝකය වේගයෙන් වෙනස් වන වටපිටාවක, නව ප්‍රවණතාවලට ගැළපෙන අයුරින් නව විෂය මාලා සකස් කිරීමටත්, අධ්‍යාපන පද්ධතිය තුළ තීරණාත්මක වෙනස්කම් සිදු කිරීම සඳහාත් රජයක් ලෙස අප කටයුතු කරන්නේ රටක අනාගතය අධ්‍යාපනය මතින් සිදු වන බව අප හොඳින් ම අවබෝධ කරගෙන සිටින බැවිනි. නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල භුක්ති විඳිමින්, රටට පමණක් නොව ලොවට ම වැඩදායී ශ්‍රී ලාංකික පුරවැසියකු ලෙස නැඟී සිටින්නට ඔබ ද අදිටන් කරගත යුතු වන්නේ එබැවිනි. ඒ සඳහා මේ පොත පරිශීලනය කිරීමෙන් ඔබ ලබන දැනුම ද ඉවහල් වනු ඇති බව මගේ විශ්වාසයයි.

රජය ඔබේ අධ්‍යාපනය වෙනුවෙන් වියදම් කරන අතිවිශාල ධනස්කන්ධයට වටිනාකමක් එක් කිරීම ද ඔබේ යුතුකමක් වන අතර, පාසල් අධ්‍යාපනය හරහා ඔබ ලබා ගන්නා දැනුම හා කුසලතා ඔබේ අනාගතය තීරණය කරන බව ද ඔබ හොඳින් අවබෝධ කර ගත යුතු ය. ඔබ සමාජයේ කුමන තරාතිරමක සිටිය ද සියලු බාධා බිඳ දමමින් සමාජයේ ඉහළ ම ස්තරයකට ගමන් කිරීමේ හැකියාව අධ්‍යාපනය හරහා ඔබට හිමි වන බව ද ඔබ හොඳින් අවධාරණය කර ගත යුතු ය.

එබැවින් නිදහස් අධ්‍යාපනයේ උපරිම ප්‍රතිඵල ලබා, ගෞරවනීය පුරවැසියකු ලෙස හෙට ලොව දිනන්නටත් දේශ දේශාන්තරවල පවා ශ්‍රී ලාංකේය නාමය බබළවන්නටත් ඔබට හැකි වේවා! යි අධ්‍යාපන අමාත්‍යවරයා ලෙස මම ශුභ ප්‍රාර්ථනය කරමි.

**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පෙරවදන

ලෝකයේ ආර්ථික, සමාජීය, සංස්කෘතික හා තාක්ෂණික සංවර්ධනයත් සමග අධ්‍යාපන අරමුණු වඩා සංකීර්ණ ස්වරූපයක් ගනී. මිනිස් අත්දැකීම්, තාක්ෂණික වෙනස්වීම්, මනෝවිද්‍යාත්මක පර්යේෂණ සහ අධ්‍යාපනය පිළිබඳ නව දර්ශක ඇසුරෙන් ඉගෙනීමේ හා ඉගැන්වීමේ ක්‍රියාවලිය ද නවීකරණය වෙමින් පවතී. එසේ වුව ද ශිෂ්‍ය අවශ්‍යතාවලට ගැළපෙන ලෙස ඉගෙනුම් අත්දැකීම් සංවිධානය කරමින් ඉගැන්වීම් ක්‍රියාවලිය පවත්වාගෙන යාම සඳහා විෂය නිර්දේශයේ දැක්වෙන අරමුණුවලට අනුකූලව, විෂයානුබද්ධ කරුණු ඇතුළත්ව පෙළපොත සම්පාදනය වීම අවශ්‍ය ය. පෙළපොත ශිෂ්‍යයාට ඉගෙනීමේ උපකරණයක් පමණක් නොව ඉගෙනුම් අත්දැකීම් ලබාගැනීමට, අභියෝගතා වර්ධනයට, චර්යාමය හා ආකල්ප වර්ධනයක් වන පරිදි ඉහළ අධ්‍යාපනයක් ලැබීමට ඉවහල් වන ආශීර්වාදයකි.

රටට වැඩදායී, පූර්ණ පෞරුෂයකින් හෙබි, යහපත් පුරවැසියකු වීමේ පරිචය ලබා ගැනීමට මෙම පෙළපොත ඔබට උපකාරී වෙතැයි මම අපේක්ෂා කරමි.

මෙම පෙළපොත් සම්පාදනයට දයක වූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික මහත්ම මහත්මීන්ටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ ස්තූතිය පළ කර සිටිමි.

**ඩබ්ලිව්. ඩී. පද්මිණී නාලිකා**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2018.05.07

**නියාමනය හා අධීක්ෂණය**

| | |
|---|---|
| ඩබ්ලිව්. ඩී. පද්මිණි නාලිකා | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**මෙහෙයවීම :**

| | |
|---|---|
| ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සම්බන්ධීකරණය**

| | |
|---|---|
| ඒ. එම්. ආර්. කේ. අධිකාරි | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**සංස්කාරක මණ්ඩලය**

| | |
|---|---|
| මහාචාර්ය පත්මසිරි කන්නන්ගර | ඉතිහාස හා පුරාවිද්‍යා අධ්‍යයන අංශය<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය |
| ආචාර්ය අනූෂා සේනාධිරාජා | ඉතිහාස අධ්‍යයන අංශය<br>අග්නි දිග විශ්වවිද්‍යාලය |
| චන්දිමා නිශානි ධර්මපාල | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>ජාතික අධ්‍යාපන ආයතනය |

**ලේඛක මණ්ඩලය**

| | |
|---|---|
| ආචාර්ය රෝහිත දසනායක | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>පේරාදෙණිය විශ්වවිද්‍යාලය |
| ජේ. එම්. සුදර්මාවතී | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>කැලණිය විශ්වවිද්‍යාලය |
| ඩබ්ලිව්. ඒ. සමන්ති ශිරෝමාලා ගුණවර්ධන | කථිකාචාර්ය<br>ජාතික අධ්‍යාපන ආයතනය |

| | |
|---|---|
| එම්. ඩී. තිලකලතා | ගුරු සේවය<br>සී. ඩබ්. ඩබ්. කන්නන්ගර ම.වි<br>බොරැල්ල |
| නලීන් බණ්ඩාර | ගුරු සේවය<br>කුරුවිට මධ්‍ය මහ විද්‍යාලය<br>කුරුවිට |
| මේරි ඩොනේටා කන්‍යා සොයුරිය | විශ්‍රාමික නියෝජ්‍ය විදුහල්පති |
| යූ. එල්. එම්. බසීර් | විශ්‍රාමික ගුරු උපදේශක |
| යූ. එල්. එස්. මරික්කාල් | ගුරු උපදේශක<br>කලාප අධ්‍යාපන කාර්යාලය<br>වත්තේගම |

**භාෂා සංස්කාරක**

| | |
|---|---|
| එම්. ඒ. එම්. දමයන්ති | නව ආදර්ශ ප්‍රාථමික පාසල් සංවර්ධන ව්‍යාපෘතිය,<br>අධ්‍යාපන අමාත්‍යාංශය |

## පිට කවර නිර්මාණය

| | |
|---|---|
| ඩබ්ලිව්. ඉසුරි මධුෂානි | පරිගණක අංශය<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## පරිගණක අක්ෂර සංයෝජනය සහ පිටු සැකසීම

| | |
|---|---|
| ඩබ්ලිව්. ඉසුරි මධුෂානි | පරිගණක අංශය<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

# පටුන

# 01 කාර්මික විප්ලවය

**හැඳින්වීම**

මිනිසා සිය දෑතේ සවියෙන් භාණ්ඩ නිෂ්පාදනය කිරීම වෙනුවට යන්ත්‍ර සූත්‍ර යොදා ගෙන භාණ්ඩ නිෂ්පාදනය කරමින් දශක හයක පමණ කාලයක් තුළ කාර්මික හා තාක්ෂණික ක්ෂේත්‍රයේ ඇති කළ පුළුල් වෙනස කාර්මික විප්ලවය යනුවෙන් හැඳින්වේ.

## 1.1 කාර්මික විප්ලවයේ ආරම්භය හා වර්ධනය

18 වන සියවස අග භාගයේ දී බ්‍රිතාන්‍යයේ කාර්මික විප්ලවය ආරම්භ විය. එතැන් සිට අඩ සියවසක් පමණ යනතුරු කාර්මික විප්ලවය බ්‍රිතාන්‍යයට සීමා වී තිබුණි. එහෙත් 19 වන සියවස වන විට යුරෝපයේ සෙසු රටවලට හා ලෝකයේ වෙනත් රටවලට ද කාර්මික විප්ලවයේ බලපෑම පැතිරුණි.

කාර්මික විප්ලවය යුරෝපයේ ආරම්භ වීමට බලපෑ ප්‍රධාන හේතුව වෙළෙඳාම යි. 18 වන ශතවර්ෂය වන විට යුරෝපයේ තත්ත්වය විමසා බැලුවහොත් බ්‍රිතාන්‍යය හැරුණු විට ප්‍රංශය, පෘතුගාලය, ස්පාඤ්ඤය වැනි රටවල් ද යටත් විජිත පිහිටුවාගෙන බහුල වශයෙන් වෙළෙඳ කටයුතුවල නිරත වූ බව පෙනේ. එසේ තිබිය දී කාර්මික විප්ලවය බ්‍රිතාන්‍යයේ ආරම්භ වූයේ කවර හේතු නිසා ද යන්න විමසා බැලීම වැදගත් වේ.

### ❖ කාර්මික විප්ලවය බ්‍රිතාන්‍යයේ ආරම්භ වීමට හේතු

16 වන සියවසේ සිට යුරෝපයේ වෙළෙඳ හා වාණිජ්‍ය කටයුතු දියුණු වූ අතර 18 වන ශතවර්ෂය පමණ වන විට යුරෝපා රටවල් අතුරින් පෘතුගාලය, ස්පාඤ්ඤය, ඕලන්දය හා ප්‍රංශය වැනි රටවල්වලට වඩා එංගලන්තය ඉදිරියට පැමිණ තිබිණි. මේ නිසා කර්මාන්ත සඳහා මුදල් ආයෝජනය කළ හැකි ධනවතුන් පිරිසක් එරට බිහි විය. මේ අතර 18 වන සියවස වන විට බ්‍රිතාන්‍යයේ ජනගහන වර්ධනය අධික වීම නිසා භාණ්ඩ සඳහා වූ ඉල්ලුම වැඩි වූ අතර ඊට ප්‍රමාණවත් ලෙස භාණ්ඩ නිෂ්පාදනය කිරීම අභියෝගයක්ව පැවතුණි. එය කාර්මික ක්ෂේත්‍රයේ දියුණුවක් ඇති වීමට බලපෑවේ ය. එසේ ම 14 වන හා 15 වන සියවස්වල දී යුරෝපයේ ඇති වූ පුනරුදය නිසා විද්‍යාත්මක දැනුමේ පුළුල් වීමක් දැකිය හැකි ය. යන්ත්‍ර සූත්‍ර නිපදවීම සඳහා එම දැනුම යොදා ගැනීමට හැකියාව ලැබුණි. එසේ ම යන්ත්‍ර සූත්‍ර තැනවීමට අවශ්‍ය යකඩ හා වානේ වැනි ඛනිජ සම්පත් ද බ්‍රිතාන්‍යය සතුව තිබුණි. එපමණක් නොව බලශක්තිය සඳහා අවශ්‍ය ගල් අඟුරු ආදිය සපයා ගැනීමත් එරටට පහසු විය.

සමකාලීනව ප්‍රංශය වැනි රටවල ද විශාල ජනගහනයක් සිටි නමුත් බ්‍රිතාන්‍යයට සාපේක්ෂව එම රටවල වෙළෙඳ දියුණුව සීමිත වී තිබුණි. එහෙත් බ්‍රිතාන්‍යය විවිධ වාණිජ නීති මගින් සිය යටත් විජිතවලට බාහිර රටවල් සමඟ වෙළෙඳ සබඳතා පවත්වා ගැනීමට තිබූ ඉඩකඩ බොහෝ දුරට අහුරා තිබුණි. මේ නිසා බ්‍රිතාන්‍යය යටත් විජිතවලට අවශ්‍ය භාණ්ඩ බ්‍රිතාන්‍යයෙන් ආනයනය කිරීමට සිදු වීමෙන් එරට භාණ්ඩවලට යටත් විජිතවලින් හොඳ ඉල්ලුමක් ඇති විය. බ්‍රිතාන්‍යයේ වෙළෙඳපළවලින් වැඩි ඉල්ලුමක් ඇති වූ ඇතැම් භාණ්ඩ යන්ත්‍රානුසාරයෙන් නිෂ්පාදනය කිරීමට යෝග්‍ය වූ ඒවා විය. බ්‍රිතාන්‍ය කපු රෙදිවලට යටත් විජිතවලින් ඉහළ ඉල්ලුමක් පැවති නමුත් එතෙක් පැවති නිෂ්පාදන ක්‍රම අනුව කෙටි කාලීනව රෙදිපිළි නිෂ්පාදනය ඉහළ දැමීමට හැකියාවක් නො තිබිණ. මෙසේ බ්‍රිතාන්‍ය නිෂ්පාදනවලට පැවති අධික ඉල්ලුම නිසා කෙටි කාලීනව නිෂ්පාදනය වැඩි කිරීමේ අවශ්‍යතාවක් මතු විය. එරට කාර්මික ක්ෂේත්‍රයේ ශීඝ්‍ර දියුණුවක් ඇති වූයේ මෙම අභියෝගයට විසඳුම් වශයෙනි.

සමකාලීනව බ්‍රිතාන්‍යයේ කෘෂිකාර්මික ක්ෂේත්‍රයේ ද වෙනස්වීම් ගණනාවක් සිදු විය. එහි දී ඉඩම් හිමියන් විසින් සුළු ගොවියන් සතුව තිබූ කුඩා ඉඩම් කැබලි එකතු කර විශාල ගොවිපළවල් සකස් කර ගන්නා ලදි. මෙය ඉඩම් කොටු කිරීමේ ව්‍යාපාරය නමින් හැඳින්වේ. මේ නිසා ඉඩම් අහිමි වූ ගම්බද ගොවීහු රැකියා සොයා නගරවලට සංක්‍රමණය වූහ. මේ නිසා බිහි වූ අතිරික්ත ශ්‍රමය, කාර්මික දියුණුවට යොදා ගත හැකි විය.

සෙසු රටවල මෙන් නොව බ්‍රිතාන්‍යයේ සමාජ තරාතිරම කුමක් වුවත් හැකියාව ඇති පුද්ගලයන්ට ධනය උපයාගත හැකි පසුබිමක් තිබුණි. ආකල්පමය වශයෙන් එරට පැවති මෙබඳු නිදහස් සමාජ පසුබිම නව අදහස් ප්‍රචලිත වීමට හේතු වූ අතර එය කාර්මික ක්ෂේත්‍රයේ දියුණුවට ද හිතකර විය. එසේ ම ආර්ථික ක්ෂේත්‍රයේ සිදු වන වර්ධනයට සාපේක්ෂව කර්මාන්ත හා ව්‍යාපාර සඳහා ප්‍රාග්ධනය සපයන බැංකු හා මූල්‍ය ආයතන බිහිවීමක් දක්නට ලැබිණි.

බ්‍රිතාන්‍යයේ පැවති දේශපාලන ස්ථාවරත්වය ද කාර්මික විප්ලවය සඳහා උපකාරි විය. ආර්ථික සංවර්ධනය සඳහා ව්‍යාපාරික කටයුතුවල යෙදීමට නිදහස, උපකාරය හා බදු සහන ආදිය පාර්ලිමේන්තුව මගින් ලැබිණි.

යුරෝපයේ අනෙක් රටවල් හා සසඳන විට බ්‍රිතාන්‍යය තුළ කාර්මික විප්ලවය සඳහා සුදුසු පසුබිමක් පැවැතිණි. කුඩා දිවයිනක් වීම, අභ්‍යන්තර වශයෙන් රටපුරා විහිදුණු පොදු වෙළෙඳපොළක් ගොඩනගා ගැනීමට හැකි වීම, නිෂ්පාදන භාණ්ඩ සඳහා ඉහළ මිලක් ලබා ගත හැකි වීම හා ලන්ඩන් නගරය අමුද්‍රව්‍ය, ප්‍රාග්ධනය, නිෂ්පාදන ද්‍රව්‍ය බෙදා හරින මධ්‍යස්ථානයක් වීම යන සාධක රැසක් ද බ්‍රිතාන්‍යයේ පැවතීම නිසා සෙසු රටවලට වඩා කාර්මික නිෂ්පාදන ක්ෂේත්‍රයේ ඉදිරියට පැමිණීමට බ්‍රිතාන්‍යයට හැකි විය.

## 1.2 කාර්මික විප්ලවයේ ප්‍රබෝධය

බ්‍රිතාන්‍යයේ කාර්මික විප්ලවය පහත දැක්වෙන පරිදි ප්‍රධාන කර්මාන්ත තුනක් ඇසුරින් සිදු විය.

- පේෂ කර්මාන්තය
- යකඩ හා වානේ කර්මාන්තය
- ගල් අඟුරු කර්මාන්තය

මෙම ක්ෂේත්‍රවල ඇති වූ වර්ධනය ක්‍රමයෙන් ප්‍රවාහන, සන්නිවේදන හා කෘෂිකර්මය ආදි වෙනත් ක්ෂේත්‍රවල දියුණුවට ද හේතු වී ඇත.

**පේෂ කර්මාන්තය**

බ්‍රිතාන්‍ය රෙදිපිළිවලට යටත් විජිතවලින් ඉහළ ඉල්ලුමක් පැවති බැවින් රෙදිපිළි නිෂ්පාදනය ශීඝ්‍රයෙන් වර්ධනය කිරීමේ අභියෝගයට එරට රෙදිපිළි නිෂ්පාදකයෝ මුහුණ දුන්හ. 1733 වර්ෂයේ දී ජෝන් කේ විසින් දුවන නඩාව (flying Shuttle) නිපදවනු ලැබීම නිසා රෙදි වියීම තරමක් වේගවත් විය. එහෙත් රෙදි වියීමට අවශ්‍ය නූල් සැකසීම වේගවත් නොවීම තවදුරටත් ගැටලුවක්ව පැවතිණ. එවකට පැවති තත්ත්වය අනුව නූල් කටින්නන් හය දෙනෙකු විසින් දිනකට සපයන ලද නූල් ප්‍රමාණවත් වූයේ එක් රෙදි වියන්නෙකුට එක් දිනකට පමණි. මේ නිසා නූල් කැටීම වේගවත් කිරීම ගැන බ්‍රිතාන්‍යයන් තුළ උනන්දුවක් ඇති විය. එම උනන්දුවේ ප්‍රතිඵලයක් වශයෙන් ජේම්ස් හාග්‍රීව්ස් නැමැත්තා විසින් 1764 වර්ෂයේ දී කපු කැටීම සඳහා ජෙනී නැමැති යන්ත්‍රයක් නිපදවන ලදි. මෙම යන්ත්‍රය අතින් ක්‍රියා කරවන්නක් විය. පසුව 1769 දී රිචඩ් ආර්ක්රයිට් ජල බලයෙන් ක්‍රියා කරන, ඊට වඩා කාර්යක්ෂම නූල් කටින යන්ත්‍රයක් නිපදවී ය. එය ජල රාමුව ලෙස හඳුන්වන ලදි. ඊට පෙර කපු කැටීම සඳහා යොදා ගත් යන්ත්‍ර දෙස බලන විට ආර්ක්රයිට්ගේ සොයාගැනීම වැදගත් එකකි. එහෙත් එම යන්ත්‍රය විශාල වූ බැවින් නිවෙස් තුළ භාවිතය දුෂ්කර විය. එසේ ම එය ක්‍රියාත්මක කරවීමට වේගවත් ජල දහරාවක් අවශ්‍ය වූ බැවින් එය භාවිත කළ හැකි වූයේ ජල පහසුකම් සහිත ස්ථානවල පමණි.



රූපය 1.1 - 1764 වර්ෂයේ දී කපු කැටීම සඳහා ජේම්ස් හාග්‍රීව්ස් නිපදවූ ජෙනී යන්ත්‍රය



රූපය 1.2 - රිචඩ් ආර්ක්රයිට් විසින් නිපදවන ලද ජල බලයෙන් ක්‍රියා කරන නූල් කටින යන්ත්‍රය

ජෙනී යන්ත්‍රය හා ජල රාමුව යන යන්ත්‍ර දෙකෙහි ම මූලධර්ම ප්‍රයෝජනයට ගත් සැමුවෙල් ක්‍රොම්ප්ටන් 1779 වර්ෂයේ දී මියුල් යන්ත්‍රය නමින් නව යන්ත්‍රයක් නිපදවී ය. එමගින් වඩාත් සියුම් හා ශක්තිමත් ලෙස නූල් සකසා ගත හැකි විය. අනතුරුව 1785 වර්ෂයේ දී පමණ එඩ්මන්ඩ් කාර්ට්රයිට් නැමැත්තා විසින් මියුල් යන්ත්‍රය වාෂ්ප බලයෙන් ක්‍රියාත්මක කරවීමේ ක්‍රමයක් සොයා ගන්නා ලදි. මේ අනුව වසර 30ක පමණ කාලයක් තුළ දී කපු කැටීම ඉතා කාර්යක්ෂම කර ගැනීම සඳහා අලුත් යන්ත්‍ර සූත්‍ර මෙන් ම නව තාක්ෂණික ක්‍රම ද සොයා ගත හැකි විය. මේ නිසා රෙදි විවීමේ කර්මාන්තය කෙටි කාලයක් තුළ විශාල විපර්යාසයකට ලක් විය.

**ක්‍රියාකාරකම 1**

1. පේෂ කර්මාන්තයට අදාළ කොටසින් කෙටි ප්‍රශ්න සකස් කරන්න.
2. පේෂ කර්මාන්තයේ ඇති වූ කාර්මික දියුණුව පහත මාතෘකා අනුව පැහැදිලි කරන්න.
   - පේෂ කර්මාන්තයේ කාර්මීකරණයක් ඇති වීමට හේතු
   - පේෂ කර්මාන්තයේ නව නිමැයුම් හා ඉන් සිදු වූ සේවය

**යකඩ හා වානේ කර්මාන්ත**

බ්‍රිතාන්‍යය යපස් නිධි බහුල රටකි. කාර්මික විප්ලවයට පෙර සිට ම අවි ආයුධ, ගෘහ උපකරණ හා කෘෂි උපකරණ සෑදීමට බ්‍රිතාන්‍යයෝ යකඩ හා වානේ නිපදවූහ. මේ සඳහා යපස් උණු කරන ලද්දේ දර භාවිතයෙනි. එහෙත් කාර්මික විප්ලවයත් සමග මහා පරිමාණයෙන් යන්ත්‍ර සූත්‍ර සෑදීමට යකඩ හා වානේ අවශ්‍ය වූ හෙයින් දර භාවිතයෙන් අවශ්‍ය ප්‍රමාණය නිපදවීමට නොහැකි විය.

මේ නිසා ඒ සඳහා වෙනත් විකල්ප මාර්ගයක් ලෙස ඒබ්‍රහම් ඩර්බි විසින් ගල් අඟුරු යොදා යපස් උණු කිරීමේ ක්‍රමය සොයා ගන්නා ලදි. මෙමගින් වාත්තු කළ යකඩ නිපදවීමට හැකි විය. 1784 වර්ෂයේ දී හෙන්රි කෝට් රෝලර් යන්ත්‍රය නිපදවීම නිසා තැළිය හැකි යකඩ හෙවත් පදම් කළ යකඩ නිපදවීමට අවස්ථාව ලැබිණි. 1856 වර්ෂයේ දී හෙන්රි බෙසමර් විසින් යකඩවල ඇති අපද්‍රව්‍ය ඉවත් කර වානේ නිපදවිය හැකි නව ක්‍රමයක් සොයා ගන්නා ලදි. මෙම ක්‍රමය තවත් වර්ධනය කර 1860 වර්ෂයේ දී විවෘත උදුන් ක්‍රමය සොයා ගැනීමෙන් උසස් තත්ත්වයේ වානේ නිපදවීමට හැකියාව ලැබුණි. මේ ක්‍රමයෙන් ලාභදායී ලෙස මෙන් ම ඉක්මනින් ද වානේ නිපදවීමට හැකි විය. යකඩ හා වානේ කර්මාන්තයේ දියුණුවට හේතු වූ තවත් කරුණක් වූයේ විලියම් සීමන්ස් යපස් උණු කිරීමට විදුලි උදුනක් සකස් කිරීම ය. මෙම නව නිපදවීම් මගින් යකඩ හා වානේ කර්මාන්තයේ ශීඝ්‍ර දියුණුවක් ඇති විය.



රූපය 1.3 - හෙන්රි බෙසමර්ගේ වානේ නිපදවීමේ උදුන

**ක්‍රියාකාරකම 2**

1. **යකඩ හා වානේ කර්මාන්තයට අදාළ කොටසින් කෙටි ප්‍රශ්න සකස් කරන්න.**
2. **යකඩ හා වානේ කර්මාන්තයේ ඇති වූ කාර්මික දියුණුව පහත මාතෘකා අනුව පැහැදිලි කරන්න.**
   - **යකඩ හා වානේ කර්මාන්තයේ දියුණුවක් ඇති වීමට හේතු**
   - **යකඩ හා වානේ කර්මාන්තයේ නව නිමැවුම් හා ඉන් සිදු වූ සේවය**

**ගල් අඟුරු කර්මාන්තය**

බ්‍රිතාන්‍යය ගල් අඟුරු ආකාරවලින් ද බහුල රටකි. දකුණු වේල්ස්, යෝක්ෂයර් හා ලැන්කැෂයර් ගල් අඟුරු ආකර සහිත ප්‍රදේශ කිහිපයකි. යපස් උණු කිරීම, යන්ත්‍ර සූත්‍ර ක්‍රියා කරවීම හා ගෙ දොර භාවිතය සඳහා ලාභදායි හා කාර්යක්ෂම බලශක්තියක් ලෙස ගල් අඟුරු ජනප්‍රිය විය. කාර්මික විප්ලවයත් සමග ගල් අඟුරු සඳහා ඉල්ලුම වැඩි වුවත් ගල් අඟුරු කැණීම පහසු නොවී ය.

කැණීමේ දී ආකරවල එකතු වන ජලය ඉවත් කිරීම, ගැඹුරට කැණීමේ දී ආකර පතුලේ විෂ වායු තිබීම, ආකර පතුලේ උෂ්ණත්වය වැඩි වීම, ආකර තුළට ආලෝකය සැපයීම වැනි ගැටලු සඳහා විසඳුම් සෙවීමට නව නිපදවීම් කීපයක් ම සොයා ගැනිණි.

තෝමස් නිව්කොමන් විසින් ආකරවල ජලය නල මගින් ඉවත් කිරීමට හා වාතය කෘත්‍රිම ලෙස සිසිල් කිරීමට වාෂ්ප එන්ජිමක් සොයා ගන්නා ලදි. එහෙත් නිව්කොමන්ගේ වාෂ්ප එන්ජිම ඵලදායිතාවෙන් අඩු එකක් වූ අතර එය ගල් අඟුරු කර්මාන්තයට තරම් වත් සෙසු කර්මාන්තවලට යොදා ගැනීම අපහසු විය. මේ නිසා ජේම්ස් වොට් නිව්කොමන්ගේ වාෂ්ප එන්ජිම වැඩි දියුණු කොට වඩා විධිමත් වාෂ්ප එන්ජිමක් නිපදවී ය. එය සියලු කර්මාන්තවලට යොදා ගත හැකි කාර්යක්ෂම එන්ජිමක් විය.



රූපය 1.4 - තෝමස් නිව්කොමන් විසින් නිපදවන ලද වාෂ්ප බලයෙන් ක්‍රියා කරන යන්ත්‍රය දැක්වෙන සිතුවමක්


රූපය 1.5 - ජේම්ස් වොට් විසින් නිපදවන ලද වාෂ්ප එන්ජිම

හම්ෆ්‍රි ඩේවි විසින් ආරක්ෂක ලාම්පුව නිපදවීම නිසා ආකරවලට ආලෝකය ලබා ගැනීම හා සම්බන්ධව පැවැති ගැටලුව ද නිරාකරණය විය. මෙතෙක් කල් තඹ කම්බි යොදා ගනිමින් ගැහැනුන් හා ළමුන් ලවා දුෂ්කර අන්දමින් ආකරවලින් ගල් අඟුරු පිටතට ගෙන ඒමේ ක්‍රමය වෙනුවට 1839 වර්ෂයේ දී යකඩ කේබල් කම්බි මගින් ආකරවලින් ගල් අඟුරු පිටතට ගෙන ඒමේ ක්‍රමයක් සොයා ගැනිණි.


රූපය 1.6 - ආකරවලින් ගල් අඟුරු පිටතට ගැනීම. මේ සඳහා ළමා ශ්‍රමය භාවිත කළ අන්දම

ගල් අඟුරු කර්මාන්තයේ ඇති වූ දියුණුව නිසා එමගින් අතුරු ප්‍රතිලාභ රැසක් හිමි විය. ගල් අඟුරු පිළිස්සීමෙන් ලැබෙන ගල් තාර මහාමාර්ග ඉදිකිරීම සඳහා යොදා ගැනිණි. ගල් අඟුරු මගින් රෙදිපිළි සායම් කිරීමට අවශ්‍ය සායම් වර්ග නිෂ්පාදනය කිරීමට ද හැකි විය. ඖෂධ, සුවඳ විලවුන්, තෙල් හා පොහොර නිපදවීමට ද ගල් අඟුරු යොදා ගැනිණි.


රූපය 1.7 - හම්ප්‍රිඩේවිගේ ආරක්ෂක ලාම්පුව

**ක්‍රියාකාරකම 3**

**ගල් අඟුරු කර්මාන්තයේ ඇති වූ දියුණුව පහත මාතෘකා යටතේ පැහැදිලි කරන්න.**

**1. ගල් අඟුරු කර්මාන්තයේ කාර්මික දියුණුව ඇති වීමට හේතු.**

**2. නව නිපැයුම් මගින් ගල් අඟුරු කර්මාන්තයට ඉටු වූ සේවය.**

### කාර්මික විප්ලවයේ ව්‍යාප්තිය

බ්‍රිතාන්‍යයේ පේෂ කර්මාන්තය, යකඩ කර්මාන්තය හා ගල් අඟුරු කර්මාන්තය ආශ්‍රිතව ඇති වූ කාර්මික දියුණුව කෙටි කාලයක් තුළ දී ම වෙනත් අංශ කරා ද ව්‍යාප්ත වූ බව පෙනේ. එකී ව්‍යාප්තියේ ස්වභාවය පිරික්සන විට කාර්මික විප්ලවය වෙනත් ක්ෂේත්‍රවලට හා වෙනත් රටවල් කරා ව්‍යාප්ත වීම වශයෙන් ක්ෂේත්‍ර දෙකක් ඔස්සේ විග්‍රහ කළ හැකි ය.

### 1 වෙනත් ක්ෂේත්‍ර කරා ව්‍යාප්ත වීම

කාර්මික විප්ලවය නිසා කාර්මික හා තාක්ෂණික ක්ෂේත්‍ර ආශ්‍රිතව බිහි වූ නව දැනුම කර්මාන්ත හා නිෂ්පාදන කටයුතුවලට පමණක් සීමා නොවී ය. එය තවත් ක්ෂේත්‍ර කරා ද පැතිරී ගියේ ය. ප්‍රවාහනය, සන්නිවේදනය හා කෘෂිකර්මාන්තය යන ක්ෂේත්‍රකෙරෙහි ඇති වූ කාර්මික විප්ලවයේ බලපෑම් හේතුකොටගෙන ඒවායේ ශීඝ්‍ර දියුණුවක් සිදු විය.

### ප්‍රවාහන ක්ෂේත්‍රයේ ව්‍යාප්තිය

කාර්මික විප්ලවයේ බලපෑම් නිසා ප්‍රවාහන ක්ෂේත්‍රයේ වෙනස්කම් රැසක් සිදු විය. කර්මාන්ත ක්ෂේත්‍රයේ ඇති වූ දියුණුවත් සමග කර්මාන්ත ශාලාවලට අවශ්‍ය අමුද්‍රව්‍ය ප්‍රවාහනය හා නිමිද්‍රව්‍ය වෙළෙඳපළවල් කරා ගෙන යාම සඳහා මාර්ග පහසුකම් වැඩි දියුණු කිරීමේ අවශ්‍යතාවක් මතු විය. ඒ අනුව 1811 වර්ෂයේ දී ජෝන් මැකඩම්

මහා මාර්ග ඉදි කිරීම සඳහා නව ක්‍රමයක් සොයා ගත්තේ ය. එය මැකඩම් ක්‍රමය නමින් හැඳින්වේ.

**මැකඩම් ක්‍රමය**

**ලොකු ගල් හා පස් අතුරා කරන ලද ශක්තිමත් අත්තිවාරමක් මත කුඩා කළු ගල් කැබලි අතුරා, තලා මට්ටම් කොට මහා මාර්ග තැනවීමේ ක්‍රමය, මැකඩම් ක්‍රමය නම් විය.**

මෙම ක්‍රමය භාවිතයෙන් ඉදි කළ මහා මාර්ගවල භාණ්ඩ සහ මගීන් විශාල සංඛ්‍යාවක් ගෙන යන වාහන වුව ද වේගයෙන් හා පහසුවෙන් ධාවනය කළ හැකි විය. ඒ අනුව එබඳු මාර්ග සැතපුම් සිය ගණනක් බ්‍රිතාන්‍යයේ හා ස්කොට්ලන්තයේ කෙටි කලක් තුළ ඉදි කෙරිණි.

මෙසේ මහා මාර්ග වැඩි දියුණු වීමත් සමඟ ප්‍රවාහනය සඳහා යොදා ගැනුණු යන්ත්‍ර සූත්‍රවල ද දියුණුවක් ඇති විය. 1814 වර්ෂයේ දී ජෝර්ජ් ස්ටීවන්සන් වාෂ්ප බලයෙන් ක්‍රියා කරන දුම්රිය එන්ජිම නිපදවීම කාර්මික විප්ලවයේ වැදගත් සන්ධිස්ථානයකි. ඒ අනුව ගල් අඟුරු හා සෙසු භාණ්ඩ ප්‍රවාහනය සඳහා දුම්රිය යොදා ගැනීමට හැකියාව ලැබුණි. නිෂ්පාදිත භාණ්ඩ කර්මාන්ත ශාලාවල සිට වෙළෙඳපොළ දක්වා දුම්රිය මඟින් ප්‍රවාහනය කිරීම හේතු කොටගෙන ඒ සඳහා ගත වූ කාලය අඩු වූ අතර විශාල තොග වශයෙන් භාණ්ඩ ප්‍රවාහනය නිසා ප්‍රවාහන වියදම ද අඩු විය. දුම්රිය එන්ජිම සොයා ගනිමින් ප්‍රවාහන ක්ෂේත්‍රයේ විප්ලවයක් කළ ජෝර්ජ් ස්ටීවන්සන් වයස අවුරුදු 17 වන තෙක් ම අකුරු කියවීමට වත් නොදත් අයෙකු යැයි ද මතයක් පවතී.



රූපය 1.8 - ජෝර්ජ් ස්ටීවන්සන්



රූපය 1.9 - ජෝර්ජ් ස්ටීවන්සන්ගේ දුම්රිය එන්ජිම

කාර්මික විප්ලවය නිසා ගොඩබිම් ප්‍රවාහනයේ ඇති වූ දියුණුවත් සමඟ නාවික හා ජල ප්‍රවාහන ක්ෂේත්‍රවල ද දියුණුවක් ඇති විය.

1807 වර්ෂයේ දී ඇමෙරිකන් ජාතික රොබට් පුල්ටන් දුම් බෝට්ටුව නිපදවී ය. මගීන් ගෙන යාම සඳහා 1811 වර්ෂයේ දී හෙන්රි බෙල් දුම් නැව නිපදවී ය. දුම් නැවට ඉන්ධන වශයෙන් ආරම්භයේ දී දරත් පසුව ගල් අඟුරුත් යොදු ගැනිණි. 1885 වර්ෂයේ දී ජර්මනියේ ඩෙම්ලර් විසින් මෝටර් රථය ද 1903 දී ඇමෙරිකාවේ රයිට් සහෝදරයන් විසින් ගුවන් යානය ද නිපදවනු ලැබීම ප්‍රවාහන ක්ෂේත්‍රයේ ප්‍රබල වෙනසක් ඇති කිරීමට සමත් විය. මෙසේ කාර්මික විප්ලවයේ ව්‍යාප්තිය නිසා කෙටි කාලයක් තුළ ගොඩබිමෙන්, ජලයෙන් හා ගුවනින් කෙරෙන ප්‍රවාහන කටයුතුවල මහත් පෙරළියක් ඇති විය.



රූපය 1.10 - ඩෙම්ලර්ගේ මෝටර් රථය



රූපය 1.11 - රයිට් සහෝදරයන් නිපදවූ ගුවන් යානය

## සන්නිවේදන ක්ෂේත්‍රයේ ව්‍යාප්තිය

ප්‍රවාහන කටයුතුවල දියුණුවට සමගාමීව සන්නිවේදන ක්ෂේත්‍රයේ ද වේගවත් දියුණුවක් ඇරඹිණි. මෙතෙක් බ්‍රිතාන්‍යයේ පැවතියේ අධික වියදම් සහිත තැපැල් ක්‍රමයකි. ව්‍යාපාරික කටයුතුවල දී කෙටි කාලයක් තුළ දී අඩු වියදමකින් ලිපි හුවමාරු කර ගැනීමේ අවශ්‍යතාව මතු විය.

මේ සඳහා 1840 දී "පෙනී තැපැල් සේවය" නමින් නව තැපැල් සේවයක් එංගලන්තයේ ආරම්භ කෙරිණි. මේ මගින් රටේ ඕනෑ ම තැනකට පැන්සයක් ගෙවා ලිපියක් යැවීමට හැකි විය.

කාර්මික ක්ෂේත්‍රයේ හා ප්‍රවාහන ක්ෂේත්‍රයේ ඇති වූ ශීඝ්‍ර දියුණුවත් සමග ලිපි හුවමාරුවට වඩා ඉක්මනින් ස්ථාන දෙකක් අතර පණිවුඩ හුවමාරු කර ගැනීමේ අවශ්‍යතාවක් මතු විය. මේ සඳහා සිදු කෙරුණු අත්හද බැලීම්වල ප්‍රතිඵල වශයෙන් 1844 වර්ෂයේ දී සැමුවෙල් මෝස් විදුලි පණිවිඩ ක්‍රමය (Telegraph) සොයා ගන්නා ලදි. ඒ යටතේ ස්ථාන දෙකක් අතර විදුලි කම්බියක් යොදු ගෙන සංකේත උපයෝගී කර ගනිමින් පණිවිඩ හුවමාරුව ඇරඹිණි.




**රූපය 1.12 - 19 වන සියවසේ මුල සිට ම විද්‍යුත් ක්‍රම භාවිත කරමින් දුරස්ථ ස්ථාන සන්නිවේදන කටයුතු දියුණු කිරීම ගැන විවිධ පර්යේෂණ සිදු කෙරුණි. එහි ප්‍රතිඵල වශයෙන් 1876 වර්ෂය වන විට දුරින් පිහිටි ස්ථාන දෙකක් අතර කේබල් මගින් කටහඬින් අදහස් හුවමාරු කර ගැනීමට යොදා ගත හැකි උපකරණයක් නිපදවනු ලැබී ය. එය දුරකථනය නමින් හැඳින්වේ. දුරකථනය සොයා ගන්නා ලද්දේ ඇලෙක්සැන්ඩර් ග්‍රැහැම්බෙල් විසිනි.**

1895 දී ගුග්ලි මාර්කෝනි ගුවන් විදුලි තරංග මගින් පණිවුඩ යැවීමේ ක්‍රමය සොයා ගැනීමත් පසුව ජෝන් ලෙගී බෙයාර්ඩ් රූපවාහිනිය සොයා ගැනීමත් නිසා සන්නිවේදන ක්ෂේත්‍රයේ විශාල පරිවර්තනයක් ඇති විය. ගුවන්විදුලිය හා රූපවාහිනිය සොයා ගැනීම සන්නිවේදන ක්ෂේත්‍රයේ උන්නතියට පමණක් නොව වෙළෙඳාම, වාණිජ්‍ය කටයුතු හා වෙනත් ආර්ථික කටයුතුවල ප්‍රගතියට ද හේතු විය.



**රූපය 1.13 - මාර්කෝනිගේ ගුවන්විදුලි යන්ත්‍රය**



**රූපය 1.14 - ජෝන් ලෙගී බෙයාඩ් සහ ඔහු නිපදවූ රූපවාහිනිය**

## කෘෂිකර්මාන්තයේ ව්‍යාප්තිය

කාර්මික විප්ලවයට සමගාමීව කෘෂි ක්ෂේත්‍රයෙහි ද විශාල වර්ධනයක් ඇති විය. මේ සඳහා බලපෑ ප්‍රධාන සාධක කිහිපයක් හඳුනාගත හැකි ය.

- ❖ මහා පරිමාණ ගොවිබිම් ආරම්භ කිරීම
- ❖ ශෂ්‍ය මාරු ක්‍රමය

- සත්ත්ව පාලන කටයුතු සඳහා නව තාක්ෂණය යොදා ගැනීම
- නව කෘෂිකාර්මික ක්‍රම හා උපකරණ භාවිතය

කාර්මීකරණයත් සමඟ විශාල ලෙස කර්මාන්ත ශාලා ආරම්භ වීම හේතු කොටගෙන ජනතාව විශාල වශයෙන් නගර කරා ඇදී ඒම නිසා ඔවුන්ගේ ඉඩ කඩම්වල වගා කිරීමට නොහැකි විය. එමෙන් ම ගම්බද ඉතිරිව සිටි සුළු පරිමාණ ඉඩම් හිමියනුත් විවිධ හේතු මත තම ගොවිබිම් අතහැර දමන තත්ත්වයක් උදා විය. මේ අනුව අතහැර දැමූ එමෙන් ම ගොවීන්ගෙන් පවරාගත් කුඩා ප්‍රමාණයේ ගොවිබිම් විශාල ප්‍රමාණයක් එකතු කරමින් මහා පරිමාණ ගොවිබිම් ආරම්භ කෙරිණි. ඉඩම් කොටු කිරීමේ ව්‍යාපාරයට අයත් වූ මෙම ඉඩම්වල මහා පරිමාණයෙන් වගා කිරීමේ ප්‍රතිඵලයක් ලෙස කෘෂිකාර්මික දියුණුවක් ඇති විය.




රූපය 1.15 ශෂ්‍ය මාරු ක්‍රමයට අනුව ගොවිතැන් කිරීම

වගා කටයුතු සඳහා ශෂ්‍ය මාරු ක්‍රමය හඳුන්වා දීම ලෙඩ රෝග ව්‍යාප්තිය අවම කිරීමටත් ඵලදායිතාව වැඩි කිරීමටත් හේතු විය. ජෙත් රෝටල් විසින් අශ්වයන් බඳින ලද නගුල්වලින් පේළියට වැපිරීමේ ක්‍රමය හඳුන්වාදෙන ලදි. එමගින් වැපිරීමට අවශ්‍ය බීජ ප්‍රමාණය අඩු කර ගැනීමට හා වැඩි ඵලදායිතාවක් ලබා ගැනීමට හැකි විය.

එමෙන් ම සත්ත්ව පාලන කටයුතු සඳහා යොදාගත් තාක්ෂණික ක්‍රම හේතුකොට ගෙන සත්ත්ව නිෂ්පාදන ඉහළ ගියේ ය. රොබට් බැක්වෙල් විසින් බැටලු වර්ග අභිජනන ආශ්‍රිත සොයාගැනීම් කිරීම උදාහරණයක් ලෙස පෙන්වා දිය හැකි ය.

කාර්මික විප්ලවයත් සමග වඩාත් කාර්යක්ෂම උපකරණ බිහිවීම, කෘෂි ක්ෂේත්‍රයේ විශාල පෙරළියක් ඇති කිරීමට හේතු විය. කැලෑ එළිපෙහෙළි කිරීමට, බිම් සැකසීමට, බීජ වර්ග නිෂ්පාදනයට යන්ත්‍ර සූත්‍ර නිපදවනු ලැබී ය. එමෙන් ම කෘෂි ක්ෂේත්‍රයෙහි වැඩි ඵලදාවක් ලබා ගැනීම සඳහා පොහොර වර්ග නිපදවීම කෙරෙහි අවධානය යොමු කිරීම වැදගත් කොට සැලකිය හැකි ය. මේ සම්බන්ධව කරන ලද අත්හදා බැලීම්වල ප්‍රතිඵලයක් ලෙස ක්‍රි. ව. 1800 පමණ වන විට ගුවානෝ පොහොර නම් පොහොර විශේෂයක් මුලින් ම දකුණු අප්‍රිකාවේ නිෂ්පාදනය කෙරිණි. ඉන් පසු ඇමෙරිකාවේ ද මෙම පොහොර නිෂ්පාදනය කෙරිණි. රසායනික පොහොර හා කෘෂි රසායන නිෂ්පාදනය ද පසු කලෙක සිදු කෙරිණි.

කාර්මික විප්ලවයත් සමග වර්ධනය වූ නවීන ප්‍රවාහන මාධ්‍යයන් හා ගබඩා පහසුකම් නිසා කෘෂිකාර්මික හා සත්ත්ව නිෂ්පාදන අඩු පිරිවැයක් යටතේ නිපදවිය හැකි වූ හෙයින් ඒවා ලාබදායී මිලට අලෙවි කිරීමට හැකි විය. මේ නිසා කෘෂි නිෂ්පාදන සඳහා විශාල ඉල්ලුමක් ඇති විය.

### 2 වෙනත් රටවල් කරා ව්‍යාප්තිය

බ්‍රිතාන්‍යයෙන් ආරම්භ වූ කාර්මික විප්ලවය ඉතා කෙටි කලකින් යුරෝපා මහද්වීපයේ රටවල ව්‍යාප්ත විය. අනතුරුව ආසියා, ඇමෙරිකා, අප්‍රිකා මහද්වීපවලත් එය පැතිරිණ. 19 වන සියවසේ දී වෙනත් රටවලට කාර්මීකරණය ව්‍යාප්තවීමට බලපෑ හේතු කිහිපයකි.

- ලොව පුරා ජනගහනය ශීඝ්‍රයෙන් වර්ධය වීම නිසා භාණ්ඩවලට තිබූ ඉල්ලුම ඉහළ යාම
- යුරෝපය තුළ ගමනාගමන හා ප්‍රවාහන කටයුතුවල වර්ධනය
- ප්‍රංශය හා ජර්මනිය ගල් අඟුරු සොයා ගැනීම

මේ අනුව ලෝකයේ සෙසු රටවල් ද එංගලන්තය මෙන් යන්ත්‍ර සූත්‍ර භාවිත කරමින් තම නිෂ්පාදන වේගවත් කිරීමට උනන්දු විය. ප්‍රංශය හා ජර්මනිය යන රටවල අමුද්‍රව්‍ය බහුලව පැවැති වෙළෙඳපොළවලට සමීප වූ ප්‍රදේශවල කාර්මික මධ්‍යස්ථාන බිහි විය. කාර්මික අතින් විශේෂ දියුණුවක් අත්කරගත් ජර්මනිය පළමු ලෝක යුද්ධය ආරම්භක අවධියේ දී බලවතෙකුගේ තත්ත්වයට පත්ව සිටියේ ය. මෙලෙස ප්‍රංශය, බෙල්ජියම, ඔස්ට්‍රියාව, හංගේරියාව, ප්‍රෂියාව ආදී යුරෝපයේ සෙසු රටවලටත් කාර්මික විප්ලවය පැතිරිණි. ඔස්ට්‍රියානු අධිරාජ්‍ය සැතපුම් 30, 000ක දුර මාර්ග ඉදි කළ අතර ඒ කාලය තුළ බෙල්ජියමේ මාර්ග පද්ධතිය ද දෙගුණයකින් පුළුල් කෙරිණි. අනතුරුව සෑම රටක ම දුම්රිය මාර්ග ඉදිවීම දක්නට ලැබුණි. බ්‍රිතාන්‍ය යටත් විජිතයක් වශයෙන් පැවැති ඇමරිකන් ජනපදවලට ද කාර්මික විප්ලවයේ බලපෑම ඇති විය. නිදහස දිනා ගැනීමෙන් පසුව එරට කාර්මික ක්ෂේත්‍රයේ ශීඝ්‍ර දියුණුවක් සැලසුණි.

19 වන සියවස අගභාගය හා 20 වන සියවස මුල් දසක කීපය තුළ කාර්මික ක්ෂේත්‍රයේ අතිවිශාල ප්‍රගතියක් උදා කරගත් ආසියාතික රටක් වූයේ ජපානය යි. බටහිර ක්‍රම හා ආකෘති අනුගමනය කරමින් විද්‍යාත්මක හා තාක්ෂණික ක්ෂේත්‍රවල ඉමහත් ප්‍රගතියක් අත්කරගත් රටවල් සමග තරගකාරීව සිටින රටක් බවට ජපානය පත්ව තිබේ.

විසිවන සියවස වන විට චීනය, ඉන්දියාව, ලංකාව ඇතුළු ආසියාවේ බොහෝ රටවලට ද කාර්මික විප්ලවයේ බලපෑම තදින් පැතිරිණි. මෙසේ කාර්මික විප්ලවය ලොව සෙසු රටවල් කරා ව්‍යාප්ත වීමත් ප්‍රවාහන හා පණිවිඩ හුවමාරු ක්ෂේත්‍රයේ එමඟින් ඇති වූ ශීඝ්‍ර දියුණුවත් නිසා ලෝකය එක ම ගම්මානයක් බවට පත්වීමට මග සැලසුණි.

### කාර්මික විප්ලවයේ ප්‍රතිඵල

ලොව පුරා ඇති වූ කාර්මික විප්ලවය නිසා, එම රටවල දේශපාලන, සමාජ හා ආර්ථික ක්ෂේත්‍රයේ පුළුල් වෙනස්කම් ඇති විය. මෙම ප්‍රතිඵල යහපත් මෙන් ම අයහපත් ලක්ෂණවලින් ද සමන්විත විය.

### දේශපාලන ක්ෂේත්‍රයේ ඇති කළ වෙනස්කම්

කාර්මික විප්ලවය නිසා උපරිම ලාබ ලැබීම අරමුණු කොටගෙන මුදල් ආයෝජනය කළ ධනපති පන්තියක් හා ශ්‍රමය විකුණා ජීවත් වන නිර්ධන පන්තියක් බිහි විය. ධනහිමියෝ නිර්ධන පන්තියේ ශ්‍රමය අඩු මිලට ලබා ගෙන, සිය ව්‍යාපාරික කටයුතුවල යොදවා එමඟින් විශාල ලාබ ලැබූහ. එහෙත් කර්මාන්තශාලාවල සේවය කළ කම්කරුවන්ගේ ජීවන තත්ත්වය ඉතා ම පහත් මට්ටමක පැවතුණි. ඔවුනට අයත්ව තිබූ මෙම පීඩාකාරී වාතාවරණය නිසා ම ධනපතීන් හා කම්කරුවන් අතර ගැටුම්, වෘත්තීය සංගම් බිහිවීම, සේවක වැඩවර්ජන, අයිතිවාසිකම් සඳහා සටන් ආදිය ආරම්භ විය. මෙම තත්ත්වය ලිබරල්වාදය, සමාජවාදය වැනි දේශපාලන දර්ශනවල ව්‍යාප්තියට හේතු විය.




**රූපය 1.16 කම්කරුවන් තම අයිතිවාසිකම් ඉල්ලා උද්ඝෝෂණයක**

ඇඩම්ස්මිත් නැමැත්තා ධනවාදය විග්‍රහ කරමින් රාජ්‍ය නිර්බාධවාදය නම් සංකල්පය ඉදිරිපත් කළේ ය. රටේ ආර්ථික කටයුතුවල දී පෞද්ගලික අංශයේ සහභාගිත්වය දිරිමත් කිරීම හා රජයේ මැදිහත් වීම අවම කිරීම රාජ්‍ය නිර්බාධවාදය ලෙස සැලකිය හැකි ය. එමෙන් ම කාර්මීකරණය යුරෝපය පුරා පැතිර යාමත් සමග අමුද්‍රව්‍ය අඩුමිලට ලබා ගැනීමේත් නිෂ්පාදිත භාණ්ඩ වැඩි මිලට විකුණා ගැනීමේත් අවශ්‍යතාව ප්‍රබල ලෙස මතු විය. මේ හේතුව නිසා යුරෝපා රටවලට තම යටත් විජිත පූර්ණ වශයෙන් දේශපාලනික ආධිපත්‍යයකට නතු කර ගැනීමේ තරගයක නිරත වීමට සිදු විය. මේ අනුව 1850 වර්ෂයට පසුව ඇති වූ මෙම අධිරාජ්‍යවාදය නව අධිරාජ්‍යවාදය ලෙසින් හැඳින්වේ. මෙසේ තම යටත් විජිත පුළුල් කර ගැනීමට යුරෝපා රටවල් තරගයක නිරතවීම නිසා එය පළමු ලෝක මහා සංග්‍රාමය ඇති වීමට පවා මුල් වූ හේතු සාධකයක් විය.

**ආර්ථික ක්ෂේත්‍රයේ ඇති කළ වෙනස්වීම්**

කාර්මික නිෂ්පාදන පුළුල්වීම හා වෙළෙඳ හා වාණිජ කටයුතු, ආර්ථික ක්ෂේත්‍රයේ පෙරමුණ ගැනීම කාර්මික විප්ලවයේ දී වූ වැදගත් පෙරළියකි. ඒ අනුව කම්හල් හිමි ධනපති පන්තියක් හා වෙළෙඳ පන්තියක් ක්‍රමයෙන් වර්ධනය විය. සුළු ඉඩම්වල ගොවීන්ට තම කටයුතු කරගත නොහැකිව කම්හල්වල ශ්‍රමිකයන් සේ නගරයට ඒමට සිදු විය. මේ නිසා ස්වයංපෝෂිත ආර්ථික ක්‍රමය බිඳවැටී වැටුප මත සේවය කරන කම්කරු පිරිසක් බිහි විය. මේ අනුව සාම්ප්‍රදායික කෘෂි ආර්ථික රටාව පසෙකට තල්ලු වී, ආනයන අපනයන වෙළෙඳ ආර්ථිකය ඉදිරියට ආවේ ය. කෘෂි නිෂ්පාදන කටයුතු ද කාර්මීකරණය වී, ආහාර ද්‍රව්‍ය විශාල වශයෙන් වෙළෙඳපොළට සැපයිණි. මේ නිසා යුරෝපා රටවල හා ඔවුන්ගේ යටත් විජිත බවට පත් වූ ආසියා, අප්‍රිකා, ලතින් ඇමරිකා ප්‍රදේශවල ද දේශීය මෙන් ම විදේශීය වෙළෙඳාම ද දියුණු විය. එමෙන් ම ධනවාදි ආර්ථික රටාව වේගයෙන් ලොව පුරා ව්‍යාප්ත විය.

පුළුල් වූ මෙම වෙළෙඳ කටයුතු සඳහා මුදල් ආයෝජනය කිරීම පෞද්ගලික ව්‍යවසායකයන්ට තනි තනිව කළ නො හැකි විය. ඒ නිසා ව්‍යවසායකයන් කිහිප දෙනෙකු එකතු වී බද්ද ව්‍යාපාර සමාගම් බිහි කර ගැනිණි. මෙම සමාගම් විසින් තම අරමුණු ඉටු කර ගැනීම සඳහා එම රටවල රාජ්‍ය අනුග්‍රහය ද ඇතිව ආසියා, අප්‍රිකා, ලතින් ඇමරිකානු ප්‍රදේශවල තම වාණිජ කටයුතු ව්‍යාප්ත කරන ලදි.

මුල දී මෙබඳු වෙළෙඳ සමාගම් දේශීය ව්‍යාපාරිකයන්ගෙන් පමණක් සමන්විත විය. එහෙත් දහනව වන සියවස මුල් භාගය වන විට මේවා බහුජාතික සමාගම් බවට පත් විය. භාණ්ඩ නිෂ්පාදනයේ හා අලෙවි කිරීමේ කටයුතුවල නිරත වූ එම සමාගම් එයට සමගාමීව මුදල් හා බැංකු කටයුතුවල ද යෙදුණි. එමගින් ව්‍යාපාරිකයන්ට ණය පහසුකම් සැලසීම මෙන් ම ගනු දෙනු කටයුතු පහසුවීම ද සිදු විය.

## සමාජ ක්ෂේත්‍රයේ ඇති කළ බලපෑම

කාර්මික විප්ලවය හේතුකොටගෙන සමාජීය ක්ෂේත්‍රයට යහපත් හා අයහපත් ලෙස බලපෑම් ඇති විය. කාර්මීකරණය සමග විශාල වශයෙන් නගර බිහි වූ අතර ඒවායේ වාසය කළ ජනතාවගේ ජීවිතවල ද පුළුල් වෙනසක් ඇති විය. කර්මාන්තශාලාවල විශාල ප්‍රමාණයකින් නිෂ්පාදනය කළ කාර්මික භාණ්ඩ ජනතාවට දැරිය හැකි මිලකට ලබාගත හැකි විය. එමෙන් ම කර්මාන්තශාලා නිසා විශාල වශයෙන් රැකියා අවස්ථා බිහි විය. එම නිසා මිනිසුන්ගේ ජීවන තත්ත්වය වැඩි දියුණු විය.



රූපය 1.17 කාර්මික විප්ලවයෙන් බිහි වූ කර්මාන්ත ශාලාවල සේවය කළ ළමා ශ්‍රමිකයන් පිරිසක්

කාර්මීකරණය නිසා යුරෝපා රටවල නගර සංඛ්‍යාව ද, නගරවල විශාලත්වය ද ශීඝ්‍රයෙන් වර්ධනය විය. මෙහි අනිවාර්ය ප්‍රතිඵලය වූයේ ඒවා ඔරොත්තු නොදෙන තරමට ජනාකීර්ණ වීම යි. එහෙත් ඒවායේ මූලික පහසුකම් වැඩි දියුණු වූයේ ඉතා අඩු වේගයකිනි. නිදසුනක් ලෙස වියානා නගරයේ 1847ට පෙර වසර 20ක් ඇතුළත ජන සංඛ්‍යාව 20%ක වේගයෙන් වර්ධනය වුවත් නිවාස ඉදිකිරීම වර්ධනය වූයේ 11.5%කින් පමණකි.

කර්මාන්තශාලා ව්‍යාප්ත වීම හේතු කොට ගෙන ලෝකයේ බොහෝ රටවල කාර්මික නගර බිහි වූ අතර ග්‍රාමීය ජනතාව එම නගර කරා ඇදී ඒමට පටන් ගත්හ. මහා පරිමාණ කර්මාන්ත නිසා නගරවල රැකියා සුලභවීම නාගරීකරණය වේගවත් වීමට හේතුවක් විය.

පන්ති සහිත සමාජයක් බිහිවීම කාර්මීකරණයේ ප්‍රධාන සමාජ ප්‍රතිඵලයකි. 20 වන සියවස වන විට යුරෝපයේ සෑම රටක ම පාහේ ආර්ථික කටයුතු මෙහෙයවනු ලැබුවේ කර්මාන්ත හිමි ධනපති පන්තිය විසිනි. මෙම ධනපති පන්තිය ප්‍රධාන කොටස් දෙකකින් යුතු විය.

- ඉඩම් හිමි ධනවතුන්
- මධ්‍යම පන්තික ව්‍යාපාර හිමියන්-කර්මාන්ත හිමියන්, බැංකුකරුවන්, කොන්ත්‍රාත්කරුවන්, ඉංජිනේරුවන්, නීතිඥයන් ආදීන්ගෙන් සැදුම්ලත් පිරිස.

කර්මාන්ත හිමියන් අඩු වැටුප් ගෙවා කම්කරුවන් සේවයේ යෙදවූ අතර එමඟින් අධික ලාබ උපයා ගත්හ. වඩා හොඳ ජීවන තත්ත්වයක් ගොඩනගා ගත් ධනපති පාන්තිකයෝ සාපේක්ෂව වඩා සැපවත් හා විනෝදකාමී ජීවිත ගත කළහ.

එහෙත් වැඩ කරන ජනතාවගේ භෞතික ජීවන තත්ත්වය බෙහෙවින් අසතුටුදායක විය. ජීවත් වීම සඳහා පවුලක ස්වාමියා හා බිරිඳ යන දෙදෙනාට ම රැකියාවල නිරත වීමට සිදු වූ අතර ඇතැම් අවස්ථාවල සිය දරුවන් පවා සේවයේ යෙදවීමට ද ඔවුන්ට සිදු විය. දිනකට පැය 12-14 දක්වා දීර්ඝ කාලයක් රැඳී සිටීමට සිදු වූ ඔවුන්ගේ සේවා ස්ථානවල රැකියා ද බෙහෙවින් පීඩාකාරී විය. ස්ත්‍රීන්ට හා ළමුන්ට සේවය කිරීමට සිදු වූයේ පහසුකම්වලින් තොර අනාරක්ෂිත කර්මාන්ත ශාලාවල ය. කම්කරුවන් කාර්මික නගරවල කර්මාන්ත ශාලා අවට අනිවාර්යයෙන් පදිංචි විය යුතු විය. මුඩුක්කු හෝ පේළි නිවාස ඔවුන්ගේ වාසස්ථාන වූ අතර අවම මට්ටමේ සනීපාරක්ෂක පහසුකම් වත් ඒවායේ නො තිබිණි. එම නිවාසවල එක් කාමරයක් තුළට කොටු වී පවුලේ සාමාජිකයන් සියලු දෙනා ම ජීවත් වූහ. මේ අනුව සමාජයේ බහුතරය වූ නිර්ධන පන්තියට උරුම වූයේ බොහෝ විට දුප්පත්කම, අඩුවේතන, පහත් ජීවන මට්ටම ආදිය යි. මෙම පීඩාකාරී තත්ත්වයන් මධ්‍යයේ බීමත්කම හා විවිධ මාදිලියේ අපචාර ඇති වීම නො වැළැක්විය හැකි විය.

18 වන හා 19 වන සියවස් වන විට මෙබඳු සමාජ විෂමතාවලට පිළියම් යෙදීම සඳහා බොහෝ රටවල අවධානය යොමු විය. එසේ ම මේ කාලයේ දී කම්කරුවන් වැටුප් වැඩි කර ගැනීම, වැඩ කරන පැය ගණන අඩු කර ගැනීම, සනීපාරක්ෂක හා වෙනත් පහසුකම් වර්ධනය කිරීම ආදි ඉල්ලීම් ලබා ගැනීම සඳහා උද්ඝෝෂණය කිරීමටත් වෘත්තීය සංගම් ලෙස සංවිධානය වීමටත් පෙළ ගැසුණු බව පෙනේ. ඒ අනුව නිර්ධන පන්තියේ සමාජ - ආර්ථික ශුභසාධනය සඳහා රජය මැදිහත් වී නීති රීති පැනවීම සෑම රටක ම පාහේ සිදු විය.



රූපය 1.18 කර්මාන්ත ශාලාවකින් විෂ දුම් පරිසරයට පිට වන අයුරු

කාර්මික විප්ලවය හේතු කොටගෙන සිදු වූ තවත් අයහපත් ප්‍රතිඵලයක් වූයේ පරිසර දූෂණය යි. කර්මාන්ත ශාලාවලින් බැහැර කළ අපද්‍රව්‍ය ගංගා ඇළදොළට මුසු වීමෙන් ජල මූලාශ්‍ර අපිරිසිදු වූ අතර කම්හල්වලින් පිට වන දුම් සෞඛ්‍යයට ඉතා අහිතකර විය. එමෙන් ම විෂ වායු වර්ග වායුගෝලයේ තැන්පත් වීම මානව සංහතියේ දීර්ඝකාලීන පැවැත්මට ප්‍රබල තර්ජනයක් එල්ල කරන්නක් ද විය.

**ක්‍රියාකාරකම**

1. කාර්මික විප්ලවයෙන් ඇති වූ යහපත් හා අයහපත් ප්‍රතිඵල පිළිබඳව විවාදයක් පවත්වන්න.
2. පහත දැක්වෙන ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

කාර්මික විප්ලවය නිසා,

i. දේශපාලන ක්ෂේත්‍රයේ ඇති වූ වෙනස්කම් තුනක් ලියන්න.
ii. ආර්ථික ක්ෂේත්‍රයේ ඇති වූ වෙනස්වීම් තුනක් ලියන්න.
iii. සමාජ ක්ෂේත්‍රයේ ඇති වූ වෙනස්වීම් තුනක් ලියන්න.

### 1.3 කාර්මික විප්ලවය ශ්‍රී ලංකාව කෙරෙහි බලපෑම

බ්‍රිතාන්‍යයන් ඇරඹි කාර්මික විප්ලවය කෙටි කලක් තුළ ලොව පුරා ව්‍යාප්ත වූ ආකාරය ඉහත විස්තර කොට ඇත. බ්‍රිතාන්‍යයේ හා අනෙකුත් යුරෝපා රටවල සිදු වූ අන්දමේ කාර්මීකරණයක් ශ්‍රී ලංකාව තුළ 19 වන සියවසේ සිදු නොවූ නමුත් කාර්මික විප්ලවයේ බලපෑම ශ්‍රී ලංකාව සම්බන්ධයෙන් ද හඳුනාගත හැකි ය. බ්‍රිතාන්‍යයේ කාර්මික විප්ලවය ආරම්භ වූ අවධියේ ශ්‍රී ලංකාව බ්‍රිතාන්‍ය යටත් විජිතයක් ලෙස පැවැතීම මේ සඳහා හේතු වූ ප්‍රධාන සාධකයක් විය. බ්‍රිතාන්‍යයෝ මෙරටට පැමිණ මහා පරිමාණයෙන් වතු වගාව ආරම්භ කළහ. මෙසේ ආරම්භ කළ තේ, රබර්, පොල් වැනි බෝග ආශ්‍රිතව විවිධ කර්මාන්ත ඇරඹීම සිදු වූ අතර ඒවා සඳහා යන්ත්‍ර සූත්‍ර බ්‍රිතාන්‍යයෙන් ගෙන්වී ය.

මේ යුගයේ දී සිදු වූ වැදගත් සිදුවීම් :

- ක්‍රි. ව. 1804 ෆෙඩ්රික් නෝර්ත් ආණ්ඩුකාරයා කෝපි කෙටීමට මෝලක් ඇරඹීම
- තේ වියළීමේ සිට වර්ග කිරීම හා අපනයනය දක්වා බොහෝ කාර්යයන්, යන්ත්‍ර සූත්‍ර මගින් සිදු කිරීම
- රබර් පිටරට යැවීම සඳහා සුදානම් කිරීමට යන්ත්‍ර සූත්‍ර භාවිතය
- මහා මාර්ග තැනීමේ මැකඩම් ක්‍රමය 1885 වර්ෂයේ දී ලංකාවට හඳුන්වා දීම

වතුවල හා කර්මාන්ත ශාලාවල වැඩ කිරීමට ශ්‍රමිකයන් අවශ්‍ය වූ අතර ඒවායේ වැටුපට වැඩ කළ ශ්‍රමිකයන්ගෙන් කම්කරු පන්තිය බිහි විය. වතු හිමියන් හා කර්මාන්තශාලා හිමියන් ධනවතුන් බවට පත් වූ අතර ඔවුහු උගත් ධනවත් මධ්‍යම පන්තියක් ලෙස වෙනම ම සංවිධානය වූහ. ධනවාදී ආර්ථික ක්‍රමය ලංකාවේ ද වර්ධනය වූ අතර ආනයන

අපනයන වෙළෙඳාම ප්‍රමුඛත්වයක් ගත්තේ ය. මෙම වෙළෙඳ කටයුතුවල දී මුදල් පිටරටට යැවීම, මෙරටට ගෙන්වා ගැනීම ආදී කාර්යයන් නිසා බැංකු ක්‍රමයක අවශ්‍යතාව ඇති විය. ඒ අනුව ලංකාවේ බැංකු ආරම්භ වීම සිදු විය.

වතු නිෂ්පාදන කොළඹ නගරයේ වෙළෙඳ මධ්‍යස්ථානවලට රැගෙන ඒමට හා වරායට ගෙන යාමටත් වතුකරයේ අවශ්‍යතා සැපයීමටත් ප්‍රවාහනය දියුණු කළ යුතුව තිබුණි. මෙතෙක් භාණ්ඩ ප්‍රවාහනය සිදු කෙරුණේ කරත්ත මගිනි. එය සාර්ථක ක්‍රමයක් නොවූ නිසා මහාමාර්ග හා දුම්රිය මාර්ග ඉදි කෙරිණි. එඩ්වඩ් බාන්ස් ආණ්ඩුකාරයාගේ කාලයේ දී කොළඹ මහනුවර මහා මාර්ගය ඉදි කෙරිණි. ඉන් පසුව කුරුණෑගල සිට මහනුවර දක්වාත් දඹුල්ලේ සිට මහනුවර දක්වාත් මාර්ග ඉදි විය. පසුව ගල් හා තාර යොදා මහාමාර්ග ඉදිකිරීමේ ක්‍රමය ද ඇරඹිණි. එමෙන් ම ජල මාර්ග හරහා ලී පාලම් වෙනුවට යකඩ භාවිත කර පාලම් තැනීම ඇරඹිණි. දුම්රිය මාර්ග ඉදිකිරීම සඳහා හෙන්රි වෝඩ් ආණ්ඩුකාරයා විසින් පියවර ගන්නා ලදි. ඒ අනුව 1858 වර්ෂයේ දී කොළඹ සිට මහනුවර දක්වා දුම්රිය මාර්ගය ඉදි කිරීමේ කටයුතු ආරම්භ කරන ලදි. එම මාර්ගය නිම කිරීමෙන් පසු 1867 අගෝස්තු මාසයේ දී ප්‍රථම වතාවට කොළඹ සිට මහනුවර දක්වා දුම්රියක් ධාවනය කෙරිණි. ඉන් පසුව පේරාදෙණියේ සිට නාවලපිටිය දක්වා 1871 දීත්, බණ්ඩාරවෙල දක්වා 1899 දීත් දුම්රිය මාර්ග දීර්ඝ කෙරිණි.

මාර්ග හා ප්‍රවාහන කටයුතුවල වර්ධනයත් සමග වෙළෙඳ මධ්‍යස්ථානත් ඒවා පුළුල් කරගෙන නගරත් බිහි විය. ගම්පොළ, බදුල්ල, මාතලේ, රත්නපුර මේ අවධියේ ජනාකීර්ණ වූ කොළඹින් පිට නගර කිහිපයකි. මෙතෙක් මෙරට පණිවිඩ හුවමාරුව සිදු කෙරුණේ ප්‍රධාන කොට ම පුද්ගලයෙකු අත පණිවුඩ යැවීම මගිනි. 1815 වන විට දී කොළඹ, ත්‍රිකුණාමලය, ගාල්ල, යාපනය ආදී නගර සම්බන්ධ කරගනිමින් රාජකාරී තැපැල් සේවයක් ආරම්භ කොට තිබුණි. කොළඹ නුවර මාර්ගය තැනීමෙන් පසුව ආසියාවේ ප්‍රථම වරට අශ්ව කරත්ත ධාවනය මගින් තැපැල් සේවාවක් ඇරඹිණි. ශ්‍රී ලංකාවේ ප්‍රථම තැපැල් මුද්දරය 1857 දී නිකුත් කෙරිණි. 1903 වර්ෂයේ දී රටේ විවිධ ස්ථානවල තැපැල් කාර්යාල 340ක් පිහිටුවා තිබුණි. පණිවිඩ යැවීමේ තවත් ක්‍රමයක් වූ ටෙලිග්‍රාප් සේවය 1858 වර්ෂයේ දී ආරම්භ විය.

**ක්‍රියාකාරකම**

ශ්‍රී ලංකාව කෙරෙහි කාර්මික විප්ලවයේ බලපෑම පිළිබඳව පහත මාතෘකා ආවරණය වන පරිදි ලිපියක් සකස් කරන්න.

- වතු වගාවේ ව්‍යාප්තිය හා මහා පරිමාණ කර්මාන්තශාලා.
- වතු හිමි ධනපතීන් හා කම්කරු පන්තිය.
- තැපැල් සේවය.
- මහා මාර්ග ඉදිවීම.

# 02 ශ්‍රී ලංකාවේ බ්‍රිතාන්‍ය බලය පිහිටුවීම

### හැඳින්වීම

පෘතුගීසීන් ආසියාවට පැමිණි ආකාරයත් පෘතුගීසීන් හා ලන්දේසීන් ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවල බලය පිහිටුවාගෙන සිටි ආකාරයත් පිළිබඳව දහවන ශ්‍රේණියේ දී ඔබට ඉගෙනීමට ලැබුණි. මෙම ජාතීන් දෙකට පසුව ලංකාව කෙරෙහි ප්‍රබල බලපෑමක් එල්ල කළ යුරෝපා ජාතිය බ්‍රිතාන්‍යයන් වේ. ඉංග්‍රීසි භාෂාව කතා කළ ඔවුන් පොදුවේ ඉංග්‍රීසීහු ලෙස ද හැඳින්වෙති. බ්‍රිතාන්‍යයන් මෙරට බලය පිහිටුවා ගැනීම හා 19 වන සියවසේ මුල් භාගය තුළ ඔවුන්ට එරෙහිව පැවති සටන් පිළිබඳව මෙම පාඩමෙන් විස්තර කෙරේ.

## 2.1 බ්‍රිතාන්‍යයන් ආසියාවට පැමිණීම

පෘතුගීසීන් හා ලන්දේසීන් ආසියාවේ වෙළෙඳ කටයුතුවලින් විශාල වශයෙන් ලාභ ලබන බව දුටු ඉංග්‍රීසීහු ද ආසියාව කෙරෙහි තම අවධානය යොමු කළහ. ඉංග්‍රීසි ව්‍යාපාරිකයන් පිරිසක් විසින් පිහිටුවන ලද පෙරදිග ඉන්දියා වෙළෙඳ සමාගමට බ්‍රිතාන්‍යයේ පළමුවන එලිසබත් රැජින විසින් ආසියාවේ වෙළෙඳ කටයුතුවල යෙදීමට අවසර දෙන රාජකීය බලපත්‍රයක් 1600 වර්ෂයේ දෙසැම්බර් මස ප්‍රදානය කරන ලදි. එම වෙළෙඳ සමාගමේ පළමුවන නැව් කණ්ඩායම සුමාත්‍රා දූපත් ප්‍රදේශයට ගොස් එහි වෙළෙඳ කටයුතු ආරම්භ කර ඇත. මීට පසු විලියම් හෝකින්ස් යටතේ තවත් නැව් කණ්ඩායමක් ඉන්දියාවට පැමිණ එවකට ඉන්දියාවේ මූගල් අධිරාජයා වූ ජහන්ගීර් සමග වෙළෙඳ කටයුතු පිළිබඳව සාකච්ඡා පැවැත්වී ය.

ඉංග්‍රීසීහු ආසියාවට පැමිණි මුල් කාලයේ අග්නිදිග ආසියාතික ප්‍රදේශ සමග තම වෙළෙඳ සබඳතා තර කර ගැනීමට උත්සාහ කළෝ ය.

17 වන සියවසේ මුල් දශක දෙක තුළ අග්නිදිග ආසියාවේ වෙළෙඳ බලය ගොඩනගා ගැනීමට පෘතුගීසීන් හා ලන්දේසීන් අතර ගැටුම් ඇති වී තිබුණි. මෙහි දී ඉංග්‍රීසීන් ඇතැම් අවස්ථාවල පෘතුගීසීන්ට එරෙහිව ලන්දේසීන් සමග සහයෝගයෙන් ක්‍රියා කර ඇත. පෘතුගීසීන්ට එරෙහිව කටයුතු කිරීමට ලන්දේසීන් ඉංග්‍රීසින්ගේ සහය ලබා ගත්තත් අග්නිදිග ආසියාවේ කුළු බඩු බහුලව වැවෙන දූපත්වල ඉංග්‍රීසි බලයක් ගොඩනැගෙනු දැකීම ලන්දේසීන්ගේ අපේක්ෂාව නො වී ය. මේ නිසා 1623 වර්ෂයේ දී කුළුබඩු දිවයින්වලට අයත් ඇම්බොයිනා දූපතේ බලකොටුවකට පහර දුන් ලන්දේසීහු එහි සිටි ඉංග්‍රීසීන් පිරිසක් ඝාතනය කළහ. ඊට එරෙහිව ලන්දේසීන්ට ප්‍රතිප්‍රහාරයක් දීමට තරම්

එම ප්‍රදේශයේ ඉංග්‍රීසි බලය ශක්තිමත් නොවූ හෙයින් අග්නිදිග ආසියාතික ප්‍රදේශවලින් ඉංග්‍රීසීහු ඉවත් වූහ. අනතුරුව ඔවුන් ඉන්දියාව කෙරෙහි සිය පූර්ණ අවධානය යොමු කළ බව පෙනේ.

ඉංග්‍රීසීන් 1607 වර්ෂයේ සිට ඉන්දියාව සමග වෙළෙඳ සබඳතා ගොඩනගා ගැනීමට උත්සාහ කළ නමුත් සාර්ථක ප්‍රතිඵල ලබා ගැනීමට වසර දහයකට වැඩි කාලයක් ගත විය. ඉන්දියාවේ දී ඉංග්‍රීසීන් ඉතා උපායශීලීව කටයුතු කළ නිසා 17 වන සියවසේ අග භාගය වන විට මදුරාසිය, බොම්බාය හා කල්කටාව ඇතුළු ප්‍රදේශ කිහිපයක වෙළෙඳ මධ්‍යස්ථාන ආරම්භ කිරීමට ඔවුහු සමත් වූහ. එහෙත් 1664 වර්ෂයේ සිට ප්‍රංශවරුන් ද ඉන්දියාවට පැමිණ පොන්ඩිචේරි, කරිකාල් හා චන්ද්‍රනගර් වැනි ස්ථානවල වෙළෙඳ මධ්‍යස්ථාන පිහිටුවීමත් සමග ලන්දේසීන්ට අමතරව ප්‍රංශවරුන් සමගත් වෙළෙඳ තරගයක නියළීමට ඉංග්‍රීසීන්ට සිදු විය. 18 වන ශතවර්ෂය වන විට ඉන්දියාවේ ස්වකීය බලය ගොඩනැගීම සම්බන්ධයෙන් ඉංග්‍රීසීන් හා ප්‍රංශවරුන් අතර දේශපාලන ගැටුමක් ඇරඹිණ.

## 2.2 ශ්‍රී ලංකාව කෙරෙහි බ්‍රිතාන්‍යයන්ගේ අවධානය යොමු වීම

ඉංග්‍රීසීන් ඉන්දියාවට පැමිණ ශතවර්ෂයකට වැඩි කාලයක් ගත වන තෙක් ශ්‍රී ලංකාව කෙරෙහි ඔවුන්ගේ අවධානය යොමු නො වූ බව පෙනේ. මේ කාලයේ දී ඉංග්‍රීසීන් ඉන්දියාවේ ශක්තිමත් බලයක් ගොඩනගාගෙන නො තිබීමත් පෘතුගීසීන් හා ඊට පසු ලන්දේසීන් දිවයිනේ මුහුදුබඩ ප්‍රදේශවල ශක්තිමත් බලකොටු පද්ධතියක් පවත්වාගෙන යෑමත් ඊට හේතු විණැයි සැලකිය හැකි ය. එහෙත් 18 වන සියවසේ මුල් භාගයේ දී ඉන්දියාවේ මූගල් අධිරාජ්‍යය පරිහානියට යෑමත් සමඟ එතෙක් වෙළෙඳාමෙන් පමණක් තෘප්තිමත් වූ ඉංග්‍රීසීහු ඉන්දියාවේ දේශපාලන බලය පැතිරවීම ඇරඹීම නිසා ලංකාව කෙරෙහි ද ඔවුන්ගේ අවධානය යොමු විය. ඒ සඳහා ප්‍රධාන හේතු දෙකක් බලපෑ බව පෙනේ.

1. ශ්‍රී ලංකාවේ පිහිටීම
2. ශ්‍රී ලංකාවෙන් කුරුඳු ඇතුළු වටිනා වෙළෙඳ ද්‍රව්‍ය ලබා ගැනීම

ශ්‍රී ලංකාව ඉන්දියාව ආසන්නයේ පිහිටා තිබීමත්, බෙංගාල බොක්ක ඇතුළු ඉන්දියාව අවට මුහුදු කලාපයේ නාවික හා වෙළෙඳ කටයුතු පාලනයට ලංකාව හොඳ මධ්‍යස්ථානයක් වීමත් ඉංග්‍රීසීන්ට ඉතා වැදගත් විය. ඉංග්‍රීසීන් හා ප්‍රංශවරුන් අතර බෙංගාල බොක්ක ආශ්‍රිත ප්‍රදේශවල සටන් ඇති වූ අවස්ථාවල සතුරු ප්‍රහාර නිසා අබලන් වූ නැව් අලුත්වැඩියා කිරීමට සුදුසු වරායක අවශ්‍යතාව ඉංග්‍රීසීන්ට තදින් දැනුණි. මෙහි දී ශ්‍රී ලංකාවේ ත්‍රිකුණාමල වරාය කෙරෙහි ඉංග්‍රීසීන්ගේ අවධානය නිතැතින් ම යොමු විය. ත්‍රිකුණාමල වරාය කෙරෙහි ඉංග්‍රීසීන්ගේ සැලකිල්ල යොමු වීමට බලපෑ කරුණු කිහිපයක් මෙසේ ය.

- ත්‍රිකුණාමල වරාය බෙංගාල බොක්කට මුහුණ ලා පිහිටා තිබීම
- ඉන්දියාවේ නැගෙනහිර වෙරළේ ඉංග්‍රීසි නාවික බලය රැක ගැනීමට එම වරායේ පිහිටීම වැදගත් වීම
- ඊසාන දිග මෝසම් සුළං කාලයේ නැව් ආරක්ෂා කර ගැනීමට ත්‍රිකුණාමල වරාය යොදා ගත හැකි වීම




**සිතියම 2.1 ශ්‍රී ලංකාවේ පිහිටීම හා ත්‍රිකුණාමල වරාය**

ඉන්දියාවේ ආරක්ෂාවට මෙන් ම ඉන්දියානු සාගරයේ නාවික කටයුතු මෙහෙයවීමටත් හොඳ මධ්‍යස්ථානයක් වූ ත්‍රිකුණාමල වරාය ප්‍රංශවරුන් අතට පත් වුවහොත් එය තමන්ට ඉතා අවාසිදයක බව ඉංග්‍රීසීහු දැන සිටියහ. මේ නිසා ලංකාවේ භූගෝලීය පිහිටීමේ වැදගත්කම හා ත්‍රිකුණාමල වරායේ විශේෂ වැදගත්කම ඉංග්‍රීසීන්ගේ අවධානය මෙරට කෙරෙහි යොමු වීමට තුඩු දුන් ප්‍රධාන හේතුවක් විය.

ශ්‍රී ලංකාව ඒ වන විටත් කුරුඳු ඇතුළු කුළුබඩුවලට ප්‍රසිද්ධ රටක් විය. යුරෝපීය වෙළෙඳපොළේ ඉහළ ඉල්ලුමක් තිබූ ඉස්තරම් වර්ගයේ කුරුඳු මෙරට නිෂ්පාදනය කෙරන බවත් කුරුඳු වෙළෙඳාමෙන් ලන්දේසීන් විශාල ලාභයක් ලබන බවත් ඉංග්‍රීසීහු දැන සිටියහ. මේ නිසා කුරුඳු වෙළෙඳාමේ ඒකාධිකාරය තමන් අතට ගැනීමට ඉංග්‍රීසීන්ට අවශ්‍ය වී තිබුණි. කුරුඳුවලට අමතරව මෙරට ගම්මිරිස්, එනසාල්, කරාබු නැටි, මුතු, මැණික් හා ඇත් දත් ආදිය ද ඉහළ මිලකට අලෙවි කළ හැකි වෙළෙඳ ද්‍රව්‍ය විය. මෙබඳු කරුණු නිසා ඉංග්‍රීසීන් ශ්‍රී ලංකාවේ දේශපාලන බලය පිහිටුවීම කෙරෙහි යොමු වූ බව පෙනේ.

**ක්‍රියාකාරකම**

බ්‍රිතාන්‍යයන් ශ්‍රී ලංකාව කෙරෙහි අවධානය යොමු කිරීමට බලපෑ හේතු පහත සඳහන් මාතෘකා යටතේ සාකච්ඡා කරන්න.

- ශ්‍රී ලංකාවේ පිහිටීම
- කුරුඳු ඇතුළු වටිනා කුළුබඩු ලබාගත හැකි වීම

**ඉංග්‍රීසීන් හා උඩරට රාජ්‍ය අතර දූත සබඳතා**

පෘතුගීසීන් මෙරටින් පලවා හැරීමට ලන්දේසින්ගේ සහය ලබා ගත් සෙයින් ම ලන්දේසීන් දිවයිනෙන් පලවා හැරීම සඳහා වෙනත් විදේශ ජාතියක සහාය ලබා ගැනීමට උඩරට රජවරු කල්පනා කළහ. මේ අනුව කීර්ති ශ්‍රී රාජසිංහ රජතුමා විසින් ඉන්දියාවේ සිටි ඉංග්‍රීසීන් වෙත මෙන් ම ප්‍රංශවරුන් වෙත ද දූතයන් යවන ලදි. ඉංග්‍රීසි දූතයන් උඩරටට පැමිණීමට පසුබිම සැකසුණේ එහි ප්‍රතිඵලයක් වශයෙනි. ඉංග්‍රීසීන් මෙරට මුහුදුබඩ ප්‍රදේශ අත්පත් කර ගැනීමට පෙර ඔවුන්ගේ දූතයන් තිදෙනෙකු වරින් වර උඩරටට පැමිණ තිබේ.

- ❖ 1762 දී ජෝන් පයිබස් උඩරටට පැමිණීම
- ❖ 1782 දී හියු බොයිඩ් උඩරටට පැමිණීම
- ❖ 1795 දී රොබට් ඇන්ඩෲස් උඩරටට පැමිණීම

ජෝන් පයිබස් උඩරටට පැමිණෙන විට කීර්ති ශ්‍රී රාජසිංහ රජු උඩරට පාලකයා විය. සෙසු ඉංග්‍රීසි දූත ගමන් දෙක සිදු වූයේ රාජාධිරාජසිංහ රජුගේ කාලයේ දී ය. ජෝන් පයිබස් හා හියුබොයිඩ්ගේ ගමන්වල දී ඉංග්‍රීසීන්ට අවශ්‍ය වූයේ ලංකාව සමග වෙළෙඳ සබඳතා ඇති කර ගැනීම යි. එම දූත ගමන් සිදු වූ කාලයේ ලන්දේසින් හා ඉංග්‍රීසීන් ගැටුම්වලින් වැළකී අවශ්‍ය අවස්ථාවල ත්‍රිකුණාමල වරාය භාවිත කිරීමට ඉංග්‍රීසීන්ට අවසර පවා ලබාදුන් අතර මේ නිසා ලන්දේසීන්ට එරෙහිව උඩරටට ආධාර දීමට ඉංග්‍රීසීහු ඉදිරිපත් නො වූහ. තමන්ගේ දේශපාලන අරමුණ වූ ලන්දේසීන් පළවා හැරීමට සහාය නො ලැබෙන ජාතියක් සමග වෙළෙඳ සබඳතා ඇති කර ගැනීමට උඩරට රජවරු උනන්දු නො වූහ. මේ නිසා මුල් දූත ගමන් දෙකෙන් සාර්ථක ප්‍රතිඵල නො ලැබුණි.

1795 වර්ෂයේ අගෝස්තු මාසයේ ඉංග්‍රීසි හමුදාව ලන්දේසීන් සතුව තිබූ ත්‍රිකුණාමල වරාය අල්ලා ගැනීමෙන් අනතුරුව රොබට් ඇන්ඩෲස් උඩරටට ගොස් රාජාධිරාජසිංහ රජු මුණ ගැසුණි. ලංකාවේ සෙසු ලන්දේසී බලකොටු ඉංග්‍රීසීන් යටතට ගැනීමට සටන් සිදු වන විට උඩරට රජුගේ සහාය ඉංග්‍රීසීන්ට ලබා ගැනීම ගැන සාකච්ඡා කිරීම ඇන්ඩෲස්ගේ

දූත ගමනේ මූලික අරමුණ විය. එහි දී ඉංග්‍රීසීන්ට ආධාර ලබා දීමට රජු එකඟ විය. එහෙත් ලන්දේසීන් සමග මෙරට දී සිදු කළ සටන තමන් අපේක්ෂා කළ තරම් දුෂ්කර නො වන බව ලන්දේසි බලකොටු යටත් කිරීමෙන් පසු ඉංග්‍රීසීන්ට පැහැදිලි විය. මේ නිසා දිවයිනේ ලන්දේසීන් සතු ප්‍රදේශ අත්පත් කර ගැනීමෙන් තමන් ලබන වාසිය උඩරට රජු සමඟ බෙදා හදා ගැනීමට ඉංග්‍රීසීන් තුළ කැමැත්තක් නො තිබුණි. එහි ප්‍රතිඵල වශයෙන් උඩරට රජුගේ කොන්දේසි පිළිගෙන රජු සමඟ දීර්ඝ කාලීන මිත්‍රත්වයක් ඇති කර ගැනීමට අවශ්‍ය සාකච්ඡා පැවැත්වීමට ඉංග්‍රීසීහු ඉදිරිපත් නො වූහ.

**ක්‍රියාකාරකම 1**

**1. ඉංග්‍රීසීන්ගේ උඩරට දූත ගමන් ඇසුරින් පහත වගුව සම්පූර්ණ කරන්න.**

| වර්ෂය | දූතයාගේ නම | ගමනේ අරමුණ | ප්‍රතිඵලය |
|---|---|---|---|
| | | | |

## 2.3 බ්‍රිතාන්‍ය බලය පිහිටුවීම

ශ්‍රී ලංකාව බ්‍රිතාන්‍ය යටත් විජිතයක් බවට පත් කර ගැනීමේ දී දැකිය හැකි වූ කැපී පෙනෙන අවස්ථා තුනක් හඳුනාගත හැකි ය.

- 1796 වර්ෂයේ දී ඉංග්‍රීසි පෙරදිග ඉන්දියා වෙළෙඳ සමාගම දිවයිනේ මුහුදුබඩ ප්‍රදේශවල බලය පිහිටුවීම
- 1802 වර්ෂයේ දී එතෙක් ඉංග්‍රීසි පෙරදිග ඉන්දියා වෙළෙඳ සමාගම යටතේ පාලනය වූ මෙරට මුහුදුබඩ ප්‍රදේශ බ්‍රිතාන්‍ය කිරීටයේ යටත් විජිතයක් බවට පත් කිරීම
- 1815 වර්ෂයේ දී උඩරට රාජධානිය ඉංග්‍රීසීන් යටත් කර ගැනීම

### ශ්‍රී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවල බ්‍රිතාන්‍ය බලය පිහිටුවීම

1789 වර්ෂයේ දී ප්‍රංශ විප්ලවය ඇති වීමෙන් පසුව යුරෝපයේ උද්ගත වූ නව දේශපාලන වාතාවරණය යුරෝපීයයන්ගේ ආසියාතික යටත් විජිත කටයුතු කෙරෙහි ද බලපෑවේ ය. විප්ලවයෙන් පසුව ප්‍රංශයේ බිහි වූ නව ආණ්ඩුවේ හමුදාවෝ 1794 වර්ෂයේ දී ඕලන්දය ආක්‍රමණය කළහ. මෙහි දී ඕලන්දයේ පාලකයා හෙවත් ස්ටැඩ්හෝල්ඩර්වරයා

පස්වන විලියම් රජු බ්‍රිතාන්‍යයට පලා ගියේ ය. ලන්දේසීන්ගේ රට වූ ඕලන්දය ප්‍රංශ බලයට යටත් විය. මේ නිසා ලන්දේසීන් යටතේ පැවති මෙරට මුහුදුබඩ ප්‍රදේශ ප්‍රංශවරුන් යටතට පත් වීමේ අවදානමක් මතු විය. ශ්‍රී ලංකාවේ වැදගත්කම ගැන මනා අවබෝධයකින් පසු වූ ඉංග්‍රීසීහු මෙම අවස්ථාව දිවයිනේ තම බලය පිහිටුවීමට යොදා ගත්හ. ප්‍රංශ ආක්‍රමණය නිසා ඕලන්ද පාලකයා වූ ස්ටැඩ්න්හෝල්ඩර්වරයා බ්‍රිතාන්‍යයේ රැකවරණ ලබා සිටි හෙයින් තමන්ට වාසිදායක ලිපියක් ඔහු ලවා මෙරට ලන්දේසි ආණ්ඩුකාරවරයා වෙත එවීමට ඉංග්‍රීසීහු කටයුතු සැලැස් වූහ.

ස්ටැඩ්හෝල්ඩර්වරයා එංගලන්තයේ කිව් මාලිගයේ සිට එවූ බැවින් එය **කිව් ලිපිය** වශයෙන් ද හැඳින්වේ. ලංකාවේ ලන්දේසීන් සතු ප්‍රදේශ ප්‍රංශවරුන් අතට පත් වීම වළක්වා ගැනීම පිණිස එම ප්‍රදේශවලට ඉංග්‍රීසි හමුදාව ඇතුළු කර ගත යුතු යැයි එම ලිපියේ සඳහන් විය. 1795 වර්ෂයේ පෙබරවාරි මස මෙරට ලන්දේසි ආණ්ඩුකාර ෆන් එංගල්බෙක් වෙත එකී ලිපිය ලැබුණි. එහෙත් ලිපියේ සඳහන් පරිදි තම බලකොටු තුළට ඉංග්‍රීසි හමුදාව ඇතුළු කර ගැනීමට මෙම ලන්දේසි ආණ්ඩුකාරවරයා මැලි විය. මේ නිසා 1795 අගෝස්තු මාසයේ දී ඉංග්‍රීසින් විසින් ලන්දේසින් සතු වූ ත්‍රිකුණාමලයට පහර දෙන ලදි. ඉංග්‍රීසි ප්‍රහාර හමුවේ ලන්දේසීහු කොන්දේසි විරහිතව යටත් වූහ.



රූපය 2.1 ඕලන්ද පාලක පස්වන විලියම්



රූපය 2.2 එංගලන්තයේ කිව් මාලිගාව

දෙමළ සිසුන්ට හින්දු සංස්කෘතියට ගැළපෙන අධ්‍යාපනයක් ලබා දීම සඳහා නාවලර්තුමාගේ පුරෝගාමීත්වයෙන් 1849 වර්ෂයේ දී වන්නපොනෙයි ශෛව ප්‍රකාශ විද්‍යාලය පිහිටුවී ය. පසුව ආරම්භ කළ ශෛව පරිපාලන සභාව සහ හින්දු අධ්‍යාපන සභාව මගින් හින්දු පාසල් පිහිටුවීමේ ව්‍යාපාරය තවදුරටත් ක්‍රියාත්මක කළේ ය. දෙමළ සිසුන් අතර ඉංග්‍රීසි අධ්‍යාපනය ප්‍රචලිත කිරීමට 1872 වර්ෂයේ දී යාපනයේ ශිවන්ගල විද්‍යාලය ආරම්භ කළ අතර පසුව එය යාපන හින්දු විද්‍යාලය බවට පත් විය.


පොන්නම්බලම් රාමනාදන් මහතා


පොන්නම්බලම් අරුණාචලම් මහතා

ආරුමුග නාවලර්තුමාගේ අභාවයෙන් පසුව ශ්‍රීමත් පොන්නම්බලම් රාමනාදන් හා පොන්නම්බලම් අරුණාචලම් යන නායකයෝ හින්දු පුනරුද ව්‍යාපාර තවදුරටත් මෙහෙයවීමට කැපවීමෙන් කටයුතු කළහ. මෙම නායකයන් දෙදෙනා මෙරට දෙමළ ජනතාව අතර පමණක් නො ව සිංහල ජනතාවගේ ද මහත් ගෞරවයට පත් වූ අය වේ. 1915 වර්ෂයේ දී ආණ්ඩුව යුද්ධ නීතිය පනවා බෞද්ධයන්ට එරෙහිව දැඩි මර්දනයක් දියත් කළ අවස්ථාවේ පොන්නම්බලම් රාමනාදන් මහතා බෞද්ධයන් වෙනුවෙන් ද හඬ නැගී ය. පොන්නම්බලම් අරුණාචලම් මහතා සිංහල නායකයන් සමග එකතු වී දේශපාලන බලතල ලාංකිකයන්ට ලබා ගැනීම පිණිස කටයුතු කිරීම සඳහා 1919 වර්ෂයේ දී ලංකා ජාතික සංගමය පිහිටුවීමට මූලිකත්වය ගෙන කටයුතු කළේ ය.

## ඉස්ලාම් ආගමික පුනරුදය

බෞද්ධ හා හින්දු පුනරුදයට සමගාමීව මෙරට මුස්ලිම් ජනතාව තුළ ද ආගමික හා සංස්කෘතික ප්‍රබෝධයක් ඇති විය. ආරුමුග නාවලර්තුමා හින්දු පුනරුද ව්‍යාපාරයට නායකත්වය ලබා දුන්නා සේ ම ඇම්. සී. සිද්දිලෙබ්බෙ මහතා මුස්ලිම් ජනතාව තුළ ඉස්ලාම් ආගමික හා සංස්කෘතික ප්‍රබෝධයක් ඇති කිරීමට නායකත්වය ලබා දුන්නේ ය. 1883 වර්ෂයේ දී ඊජිප්තුවේ සිට ලංකාවට පැමිණි ඉස්ලාම් භක්තිකයෙකු වූ ඔරාබි පාෂා ඉස්ලාම් පුනරුද ව්‍යාපාරයේ කටයුතු සාර්ථක කර ගැනීමට කැප වී කටයුතු කළේ ය.

**සිද්දිලෙබ්බෙ මහතා**

මුස්ලිම් ජනතාව තුළ අධ්‍යාපන ප්‍රබෝධයක් ඇති කිරීමත් ඉංග්‍රීසි භාෂාව හා අරාබි භාෂාව ඉගෙන ගැනීමට එම ජනතාව උනන්දු කරවීමත් සිද්දිලෙබ්බෙ මහතාගේ මූලික අරමුණක් විය. එතුමාගේ මග පෙන්වීම යටතේ 1882 වර්ෂයේ දී මුස්ලිම් **නෙයිසන්** නමින් පුවත් පතක් ආරම්භ කෙරුණි. අනතුරුව සිද්දිලෙබ්බෙ මහතාගේ මගපෙන්වීම මත මුස්ලිම් දරුවන් වෙනුවෙන් කොළඹ සහිරා විද්‍යාලය පිහිටුවිය. මුස්ලිම් ජනතාවගේ අධ්‍යාපන කටයුතු ඉදිරියට ගෙන යාම සඳහා මුස්ලිම් අධ්‍යාපන සමිතිය නම් සංවිධානයක් පිහිටුවන ලදි. අලුතෙන් ඇති වූ අධ්‍යාපන අවශ්‍යතා නිසා 'මද්රාසා' නම් මුස්ලිම් ආගමික පාසල් ප්‍රතිසංවිධානය කෙරුණි.



සිද්ධි ලෙබ්බෙ මහතා



ටී. බී. ජයා මහතා

සිද්දිලෙබ්බෙ මහතාට පසුව ටී. බී. ජයා මහතා මුස්ලිම් ජනතාවගේ අධ්‍යාපන ප්‍රබෝධය ඉදිරියට මෙහෙයවීමට කැප විය. එතුමා කොළඹ සහිරා විද්‍යාලයේ විදුහල්පති වශයෙන් පත්ව එම පාසල දියුණු කළේ ය. ලංකාවේ ප්‍රදේශ කිහිපයක ම මුස්ලිම් ජනතාව වෙනුවෙන් පාසල් පිහිටුවීමට ජයා මහතා මූලිකත්වය ගෙන කටයුතු කළ අතර දේශපාලනඥයකු වශයෙන් ද හෙතෙම විශාල සේවයක් සිදු කළේ ය.

**ක්‍රියාකාරකම**

බෞද්ධ, හින්දු හා ඉස්ලාම් පුනරුද ව්‍යාපාරයේ ප්‍රධාන නායකයන් පිළිබඳ තොරතුරු ගොනුවක් සකස් කරන්න.

# 04 බ්‍රිතාන්‍යයන් යටතේ ශ්‍රී ලංකාවේ දේශපාලන වෙනස්වීම්

## හැඳින්වීම

1815 වර්ෂයේ දී උඩරට රාජධානිය බ්‍රිතාන්‍යයන්ට යටත් වීමෙන් පසුව 1948 වර්ෂයේ දී ශ්‍රී ලංකාවට නිදහස ලැබෙන තෙක් වසර 133ක කාලයක් සමස්ත දිවයින ම බ්‍රිතාන්‍ය පාලනය යටතේ පැවතුණි. මෙම කාලය තුළ බ්‍රිතාන්‍යයන් විසින් වරින් වර ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ කිහිපයක් මෙරටට හඳුන්වා දෙන ලදි. එහෙත් එම ප්‍රතිසංස්කරණවලින් සෑහීමකට පත් නො වූ ලාංකිකයෝ පාලන කටයුතුවල දී ස්වදේශිකයන්ට පවරන බලතල ප්‍රමාණය වැඩි කරන ලෙස ඉල්ලා අඛණ්ඩ උද්ඝෝෂණයක නිරත වූහ. 1948 වර්ෂයේ දී පාලන බලය ලාංකිකයන්ට ලබා ගත හැකි වූයේ එම උද්ඝෝෂණවල ප්‍රතිඵලයක් වශයෙනි. බ්‍රිතාන්‍යයන් මෙරටට හඳුන්වාදෙන ලද ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ හා ලාංකිකයන්ගේ උද්ඝෝෂණ පිළිබඳ තොරතුරු මෙම පාඩමෙන් සාකච්ඡා කෙරේ.

## 4.1 1833 කෝල්බෲක් ප්‍රතිසංස්කරණ

1815 වර්ෂයෙන් පසුව බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරුන් ලංකාවේ පාලන කටයුතු ගෙනයාමේ දී රජයේ ආදායමට වඩා වියදම් පක්ෂය ඉහළ ගියේ ය. මේ නිසා ලංකාවේ ආණ්ඩුකාරවරුන්ට මෙරට වියදම පියවා ගැනීමට වරින් වර බ්‍රිතාන්‍ය ආණ්ඩුවේ මුදල් ඉල්ලා සිටීමට සිදු විය. යටත් විජිතවල කටයුතුවලට මව් ආණ්ඩුවෙන් දිගින් දිගට ම මුදල් වැය කිරීම බ්‍රිතාන්‍ය ප්‍රතිපත්තිය නො වී ය. එබැවින් ලංකාවට පැමිණ මෙරට තත්ත්වය සොයා බලා අවශ්‍ය නිර්දේශ ඉදිරිපත් කිරීම පිණිස යටත් විජිත ලේකම් විසින් ඩබ්. එම්. ජී. කෝල්බෲක් (විලියම් මැක්බින් ජෝර්ජ් කෝල්බෲක්) නැමැත්තා පත් කර එවන ලදි. 1829 වර්ෂයේ දී කෝල්බෲක් ලංකාවට පැමිණි අතර, මෙරට දේශපාලන හා ආර්ථික කටයුතු පිළිබඳ සොයා බැලීම ඔහුට පැවරී තිබුණි. ලංකාවේ එවකට පැවති අධිකරණ හා නීතිමය තත්ත්වය පිරික්සා නිර්දේශ ඉදිරිපත් කිරීමට යටත් විජිත ලේකම් විසින් චාල්ස් හේ කැමරන් නැමැත්තා පත් කරන ලදි. ඒ අනුව කැමරන් 1830 දී මෙරටට පැමිණියේ ය. කෝල්බෲක් කොමිසමේ නිර්දේශ පදනම් කරගත් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් 1833 වර්ෂයේ දී බ්‍රිතාන්‍යයන් විසින් මෙරටට හඳුන්වා දෙන ලදි. එය කෝල්බෲක් ප්‍රතිසංස්කරණය ලෙස හැඳින්වේ. කැමරන්ගේ නිර්දේශ අනුව අධිකරණ ක්‍රමය ද ප්‍රතිසංස්කරණය කරන ලදි.

### ප්‍රතිසංස්කරණවල කැපී පෙනෙන ලක්ෂණ

කෝල්බෲක් ප්‍රතිසංස්කරණ යටතේ මෙරට දේශපාලන හා ආර්ථික ක්ෂේත්‍රයේ පුළුල් වෙනස්කම් ඇති කෙරෙන ප්‍රතිසංස්කරණ රැසක් හඳුන්වාදෙන ලදි. ඒ අතර කැපී

පෙනෙන ප්‍රතිසංස්කරණ කිහිපයක් පහත දැක්වේ.

- ව්‍යවස්ථාදායක හා විධායක සභා පිහිටුවීම.
- උඩරට හා පහතරට පළාත් සඳහා ඒකාබද්ධ වූ පාලන ක්‍රමයක් හඳුන්වා දීම.
- දිවයින පළාත් පහකට බෙදීම.
- අනිවාර්ය සේවා රාජකාරි ක්‍රමය අහෝසි කිරීම.
- රජයේ වෙළෙඳ ඒකාධිකාරය අහෝසි කිරීම.

කෝල්බෲක් ප්‍රතිසංස්කරණ මගින් ව්‍යවස්ථාදායක සභාවක් හා විධායක සභාවක් පිහිටුවීම විශේෂයෙන් සඳහන් කළ යුතු කරුණකි. කෝල්බෲක් කොමිසම මෙරටට පැමිණි අවධියේ ලංකාවේ ආණ්ඩුකාරවරයාට අසීමිත බලතල පැවරී තිබුණි. එය මහජන නිදහසට බාධාවක් ලෙස සැලකූ කොමිසම ආණ්ඩුකාරවරයාගේ බලතල අඩු කිරීම පිණිස මෙකී සභා පිහිටුවීම යෝජනා කළේ ය.

1833 වර්ෂයේ දී පිහිටුවන ලද ව්‍යවස්ථාදායක සභාවට සාමාජිකයන් 15 දෙනෙකු ඇතුළත් විය. ඔවුන්ගෙන් 09 දෙනෙකු නිල ලත් සාමාජිකයන් හෙවත් නිල බලයෙන් පත් වූවෝ වෙති. ඉතිරි 06 දෙනා නිල නො ලත් සාමාජිකයෝ වූහ. යුරෝපීයන් වෙනුවෙන් තිදෙනෙක් හා සිංහල, දෙමළ, බර්ගර් යන ජන කොටස් වෙනුවෙන් එක් අයෙකු බැගින් එම 06 දෙනා තෝරා පත් කෙරිණි. නිල නො ලත් සාමාජිකයන් එම සභාවට පත් කිරීමේ බලය ද ආණ්ඩුකාරවරයා වෙත පැවරී තිබුණි.




ව්‍යවස්ථාදායක සභාවේ නිල නො ලත් සාමාජිකයන් පත් කිරීමේ දී ජන වර්ග අනුව නියෝජිතයන් පත් කිරීම වාර්ගික නියෝජන ක්‍රමය ලෙස සැලකේ. එකී වාර්ගික නියෝජනය අනාගත වශයෙන් ලංකාවට අහිතකර ප්‍රතිඵල ඇති කිරීමට හේතු විය.

ව්‍යවස්ථාදායක සභාවේ නිල නො ලත් පිරිසට වඩා නිල ලත් පිරිස බහුතරය වීම නිසා මහජනතාව නියෝජනය කළ නිල නො ලත් පිරිසට එම සභාවේ බලයක් නො තිබුණි. නිල නො ලත් සාමාජිකයන් පත් කිරීමේ බලය ආණ්ඩුකාරවරයාට පැවරී තිබූ බැවින් තමන්ට හිතවත් පිරිසක් එයට පත් කිරීමට ඔහුට හැකි විය. මේ නිසා ව්‍යවස්ථාදායක සභාව ආණ්ඩුකාරවරයාට පක්ෂපාතී සභාවක ස්වරූපය ගත්තේ ය.




සිතියම 4.1 - කෝල්බෲක් ප්‍රතිසංස්කරණ අනුව
ශ්‍රී ලංකාව පළාත් පහකට බෙදූ ආකාරය

1833 පිහිටුවූ විධායක සභාවට යටත් විජිත ලේකම්, භාණ්ඩාගාරික, ගණකාධිකාරී, මිනුම්පති, කොළඹ රේගු අයකැමි වැනි පිරිස් ඇතුළත් විය යුතු යැයි කෝල්බෲක් විසින් නිර්දේශ කර තිබුණි. මෙම සභාව පිහිටුවීම මගින් මුදල් කටයුතු පිළිබඳ ආණ්ඩුකාරවරයාට තිබූ අසීමිත බලය සීමා කිරීමට අපේක්ෂා කෙරිණ. ඒ අනුව ආදායම් හා වියදම් පිළිබඳ තීරණ ගැනීමේ දී විධායක සභාව සමග සාකච්ඡා කිරීමට ආණ්ඩුකාරවරයාට නියම කෙරුණි. එම සභාවේ තීරණ පිළිගැනීමට ආණ්ඩුකාරවරයා බැඳී නො සිටිය නමුත් විධායක සභාවේ උපදෙස් නො පිළිගන්නා විට ආණ්ඩුකාරවයා යටත් විජිත භාර ලේකම්ගෙන් ඒ සඳහා අනුමැතිය ලබා ගත යුතු විය.

**යුරෝපීය උද්ඝෝෂණ**

කෝල්බෲක් ප්‍රතිසංස්කරණවල යම් යම් අංශ සංශෝධනය කර ගැනීමේ උද්ඝෝෂණයක් මුල් වරට ආරම්භ කරන ලද්දේ මෙරට සිටි යුරෝපීය ව්‍යාපාරිකයන් විසිනි. ලංකාවේ සිටි යුරෝපීයන් නියෝජනය කිරීමට ව්‍යවස්ථාදායකයට නිල නො ලත් සාමාජිකයන් තිදෙනෙකු පත් කර තිබුණි. මෙරට වතු වගා කටයුතුවල නිරත වූ එකී යුරෝපීයන්ට අවශ්‍ය වූයේ වතුවගාවට අවශ්‍ය මහාමාර්ග, දුම්රිය මාර්ග හා වෙනත් යටිතල පහසුකම් දියුණු කර ගැනීමට ය. එහෙත් මුල් කාලයේ ව්‍යවස්ථාදායක සභාව තුළින් ඒ සඳහා අවශ්‍ය මුදල් වෙන් කරවා ගැනීම දුෂ්කර විය. එසේ ම ව්‍යවස්ථාදායකයේ නිල නො ලත් පිරිස සුළුතරය වීම ගැන ද ඔවුහු අසතුටු වූහ.

නිල නො ලත් පිරිස ඡන්ද බලයෙන් පත් නො කර ආණ්ඩුකාරවරයා නම් කිරීම පිළිබඳවත් ඔවුන් තුළ අසතුටක් තිබුණි. මෙම අරමුණු ඉටුකර ගැනීම සඳහා යුරෝපීය ව්‍යාපාරිකයෝ සීමිත උද්ඝෝෂණයක් ආරම්භ කළහ. එහි දී ව්‍යවස්ථාදායකය තුළ ප්‍රශ්න ඇසීම, යෝජනා ඉදිරිපත් කිරීම, පුවත්පත්වලට ලිපි සැපයීම, උද්ඝෝෂණ මෙහෙයවීමට සංවිධාන පිහිටුවීම ආදිය ඔවුන්ගේ උද්ඝෝෂණ ක්‍රම විය. ජෝර්ජ් වෝල්ගේ නායකත්වයෙන් යුතුව 1865 වර්ෂයේ දී **ලංකා සංගමය** පිහිටුවීම යුරෝපීයයන් පිහිටුවූ සංවිධානවලට උදාහරණයකි. මෙම උද්ඝෝෂණ නිසා 1889 වර්ෂයේ දී ව්‍යවස්ථාදායකයේ නිල නො ලත් සංඛ්‍යාව 08ක් දක්වා වැඩි කෙරිණ. මුස්ලිම් ජනතාව වෙනුවෙන් හා උඩරට සිංහලයන් වෙනුවෙන් නව නියෝජිතයන් දෙදෙනා තෝරා ගැනුණි. යුරෝපීයන්ගේ උද්ඝෝෂණවල අරමුණ, පාලන බලතල ලාංකිකයන් අතට පත් කරවා ගැනීම නො වුවත් ලාංකිකයන්ට ආදර්ශ ලබා ගැනීමට එම උද්ඝෝෂණ ප්‍රයෝජනවත් විය.

## 4.2 1910 ප්‍රතිසංස්කරණ හා පසුබිම

**ලාංකික මධ්‍යම පන්තියේ ඉල්ලීම්**

කෝල්බෲක් ප්‍රතිසංස්කරණ නිසා 19 වන සියවස තුළ මෙරට ආර්ථිකමය හා සාමාජීය වශයෙන් පුළුල් පරිවර්තනයක් සිදු විය. එහි ප්‍රතිඵල වශයෙන් 20 වන සියවස ආරම්භ වන විට පැරණි ප්‍රභූ පන්තිය අභාවයට ගොස් නව ලාංකික මධ්‍යම පන්තියක්

බිහි විය. 1833 වර්ෂයේ සිට ගත වූ වසර 70ක පමණ කාලයේ දී රට තුළ ඇති වූ ආර්ථික හා සමාජ වෙනස්වීම්වලට සාපේක්ෂව දේශපාලන ක්‍රමයේ වෙනසක් සිදුව නො තිබුණි. ලාංකික මධ්‍යම පන්තිය මේ ගැන අසතුටෙන් පසු වූ බැවින් 1908 - 1909 කාලයේ දී ඔවුහු ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් මෙරටට අවශ්‍ය බවට පුළුල් ලෙස ඉල්ලීම් ඉදිරිපත් කළහ.

1908 වර්ෂයේ දෙසැම්බර් මාසයේ දී ජේම්ස් පීරිස් මහතා විසින් ලංකාවට ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් අවශ්‍ය බවට විධිමත් පෙත්සමක් මුල් වරට යටත් විජිත භාර ලේකම් වෙත ඉදිරිපත් කරන ලදි. අනතුරුව තවත් සංවිධාන කිහිපයක් මෙබඳු පෙත්සම් ඉදිරිපත් කර ඇත. **පහත රට නිෂ්පාදන සංගමය, හලාවත සංගමය හා යාපන සංගමය** එබඳු සංගම්වලට උදාහරණ වේ. එම පෙත්සම් මගින් ශ්‍රී ලාංකිකයන් ඉල්ලා සිටි ප්‍රධාන ඉල්ලීම් කිහිපයක් මෙසේ ය.


රූපය 4.1 - ජේම්ස් පීරිස් මහතා

- ❖ ව්‍යවස්ථාදායක සභාවේ නිල නොලත් සාමාජික පිරිස ඉහළ දැමීම.
- ❖ වාර්ගික නියෝජන ක්‍රමය අහෝසි කිරීම.
- ❖ පළාත් බද නියෝජන ක්‍රමය අනුව ඒ ඒ පළාත් වෙනුවෙන් ඡන්ද බලයෙන් නියෝජිතයන් තෝරා ගැනීමට ඉඩ සැලසීම.
- ❖ ව්‍යවස්ථාදායක සභාවේ බලතල වැඩි කිරීම.

එවකට ලංකාවේ ආණ්ඩුකාරවරයා වූ හෙන්රි මැකලම් ලාංකිකයන්ගේ ඉල්ලීම්වලට විරුද්ධ විය. පෙත්සම් ඉදිරිපත් කළ පුද්ගලයන් හා සංවිධාන පොදු ජනතාව නියෝජනය නො කරන බවට ඔහු තර්ක කළේ ය. එහෙත් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් අවශ්‍ය බවට මතු වෙමින් පැවති තර්කානුකූල අදහස් නො සලකා හැරීමට යටත් විජිත කාර්යාලයට හැකියාවක් නො තිබුණි. කෝල්බෲක් ආණ්ඩුක්‍රමය මේ වන විට වසර 75කට වැඩි කලක් ආයු ගෙවා තිබූ බැවින් නව ප්‍රතිසංස්කරණයක් අවශ්‍ය බව යටත් විජිත නිලධාරීන් පවා පිළිගත් බව පෙනේ. මේ අනුව 1910 වර්ෂයේ නොවැම්බර් මස දී නව ප්‍රතිසංස්කරණයක් ලබා දෙන බව යටත් විජිත ලේකම් විසින් ප්‍රකාශයට පත් කරන ලදි. එවකට මෙරට ආණ්ඩුකාරවරයා වූ හෙන්රි මැකලම්ගේ නිර්දේශ පදනම් කරගෙන යටත් විජිත ලේකම් ක්‍රෑව් සාමිවරයා සැලසුම් කළ එම ආණ්ඩුක්‍රමය ක්‍රෑව් - මැකලම් ආණ්ඩුක්‍රමය ලෙස හැඳින්වේ.

**ක්‍රෑව් - මැකලම් ආණ්ඩුක්‍රමය 1910**

1912 සිට ක්‍රියාත්මක වූ මෙම ආණ්ඩුක්‍රමය යටතේ ව්‍යවස්ථාදායක සභාවේ

සාමාජික සංඛ්‍යාව 21 දක්වා වැඩි කර තිබුණි. නිල ලත් 11 දෙනෙකු හා නිල නො ලත් 10 දෙනෙකු එයට ඇතුළත් විය. නිල නො ලත් 10 දෙනොගෙන් 06 දෙනෙක් වාර්ගික නියෝජනය අනුව නාමකරණයෙන් පත් කෙරිණි. ඉතිරි 04 දෙනා යුරෝපීයන් වෙනුවෙන් දෙදෙනෙකු, බර්ගර් අය වෙනුවෙන් එක් අයෙකු හා උගත් ලාංකිකයන් වෙනුවෙන් එක් අයෙකු වශයෙන් සීමිත ඡන්ද බලයෙන් තෝරා පත් කෙරිණ.

**1910 ප්‍රතිසංස්කරණය**




කෲව් මැකලම් ප්‍රතිසංස්කරණයේ කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් පහත සඳහන් වේ.

- ❖ ව්‍යවස්ථාදායක සභාවට ප්‍රථම වරට ඡන්ද බලයෙන් නියෝජිතයන් පත් කිරීමට ඉඩ ලැබීම.
- ❖ උගත් ලාංකිකයන් වෙනුවෙන් එක් නියෝජිතයෙකු එම සභාවට පත් වීම.
- ❖ තවදුරටත් නිල ලත් පිරිස ව්‍යවස්ථාදායකයේ බහුතරය වීම.

මෙම ප්‍රතිසංස්කරණය යටතේ ව්‍යවස්ථාදායකයට නියෝජිතයන් පත් කිරීමේ දී ඡන්ද බලය හඳුන්වා දීම වැදගත් පියවරකි. එහෙත් ඡන්ද දායකයෙකු වීමට විශේෂ සුදුසුකම් අවශ්‍ය වූ බැවින් ඡන්ද බලය හිමි පිරිස සීමිත විය. උගත් ලාංකික මන්ත්‍රීවරයා තෝරා ගැනීමට 1912 පැවති මැතිවරණයෙන් පොන්නම්බලම් රාමනාදන් මහතා ව්‍යවස්ථාදායකයට තේරී පත් විය.

**අමද්‍යප ව්‍යාපාරය 1912 - 1915**

1910 ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයෙන් ලාංකිකයන්ගේ ඉල්ලීම් ඉටු වී නො තිබිණි. ඒ පිළිබඳ මධ්‍යම පන්තිකයන් තුළ අප්‍රසාදයක් පැවතුණි. එමෙන් ම 1912 වසරේ දී රජය

රා තැබෑරුම් පිහිටුවීමට අවසර දෙමින් නව සුරාබදු පනතක් පැනවීම නිසා අමද්‍යප උද්ඝෝෂණයක් ආරම්භ විය.

බ්‍රිතාන්‍ය පාලන සමයේ රට තුළ මද්‍යසාර භාවිතය ඉහළ යාම නිසා ආගමික පුනරුද ව්‍යාපාරය තුළින් අමද්‍යප ව්‍යාපාරයකුත් ආරම්භ වූ ආකාරය තුන්වන පාඩමේ දී විස්තර කෙරිණි. ආගමික පුනරුදය හා බැඳි අමද්‍යප කටයුතුවල අරමුණ වූයේ මද්‍යසාර භාවිතයේ අනිසි විපාක ජනතාවට පැහැදිලි කර දී ඔවුන් ඉන් මුදවා ගැනීම යි. එහෙත් 1912 අමද්‍යප උද්ඝෝෂණය රජයේ සුරාබදු ප්‍රතිපත්තියට එරෙහිව පැන නැගුණි. එහි දී මූලිකත්වය ගෙන කටයුතු කළේ 1910 ප්‍රතිසංස්කරණයෙන් තම ඉල්ලීම් නො ලැබීම නිසා අසතුටු වූ මධ්‍යම පාන්තිකයන් ය. මේ නිසා 1912 අමද්‍යප උද්ඝෝෂණය වඩාත් දේශපාලන නැඹුරුවක් සහිත ව්‍යාපාරයක් බවට පත් විය. එම අමද්‍යප උද්ඝෝෂණයේ කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- ❖ රජයේ සුරාබදු ප්‍රතිපත්තියට එරෙහිව මහජන මතයක් ඇති කිරීමට උත්සාහ දැරීම.
- ❖ මධ්‍යම පන්තික ඉංග්‍රීසි උගතුන් හා ආගමික පුනරුදයේ ක්‍රියාකාරිකයන් යන දෙකොටස ම එක අරමුණකින් කටයුතු කිරීම.
- ❖ කොළඹ මධ්‍යම අමද්‍යප සභාවක් පිහිටුවා රට පුරා ශාඛා ආරම්භ කර අමද්‍යප සමිති ජාලයක් ගොඩ නැගීම.
- ❖ අමද්‍යප වේදිකාවේ දී ආණ්ඩුවේ කටයුතු විවේචනය වීම.

1912 අමද්‍යප උද්ඝෝෂණ නිසා ඇතැම් ප්‍රදේශවල සුරා සැල් වැසී ගිය අතර අලුතෙන් සුරා සැල් පිහිටුවීමට ස්ථාන ලබා ගැනීමටත් දුෂ්කර වූ බව වාර්තා වේ. මෙසේ අමද්‍යප ව්‍යාපාරයේ කටයුතු සාර්ථක වීමත්, අමද්‍යප සමිති හරහා ජනතාව සංවිධානය වීමත් අමද්‍යප වේදිකාවේ දී ආණ්ඩුව විවේචනය වීමත් නිසා එම ව්‍යාපාරය අඩපණ කර දැමීමට ආණ්ඩුව අවස්ථාවක් සොයමින් සිටියේ ය. මේ අතර 1915 දී මහනුවර ප්‍රදේශයේ සිංහල හා මුස්ලිම් ජනතාව අතර ගැටුමක් ඇති විය. එය සිංහල - මුස්ලිම් කෝලාහලය ලෙස හැඳින්වේ. ගැටුම ව්‍යාප්ත වීමට ඉඩහැරි රජය එය අවස්ථාවක් කරගෙන අමද්‍යප ව්‍යාපාරය මර්දනය කිරීමට යොමු විය. එහි දී රජය අමද්‍යප නායකයන් රැසක් අත් අඩංගුවට ගෙන සිංහල පුවත් පත් කිහිපයක් ද තහනම් කළේ ය. මෙම මර්දනය හමුවේ අමද්‍යප ව්‍යාපාරයේ කටයුතු අඩපණ විය. එහෙත් අමද්‍යප කටයුතු හරහා දේශපාලනයට පැමිණි එෆ්. ආර්. සේනානායක, ඩී. එස්. සේනානායක හා සර් ඩී. බී ජයතිලක වැනි නායකයෝ පසුව ජාතික නායකයන් වශයෙන් නමක් දිනා ගත්හ.

### ඉන්දියානු ජාතික ව්‍යාපාරයේ ආභාෂය

19 වන සියවස අවසානය වන විට ලංකාව මෙන් ම ඉන්දියාව තුළත් බ්‍රිතාන්‍ය බලය ව්‍යාප්ත වී තිබුණි. මෙසේ බ්‍රිතාන්‍ය යටත් විජිතයක් බවට පත්ව තිබූ ඉන්දියාව තුළ 20 වන සියවස ආරම්භ වන විට ප්‍රබල ජාතික ව්‍යාපාරයක් ආරම්භ විය. 1885 වර්ෂයේ සිට ඉන්දියානු නායකයෝ ශක්තිමත් උද්ඝෝෂණ ව්‍යාපාරයක් දියත් කළහ. මෙම උද්ඝෝෂණ

නිසා 1918 වන විට ලංකාවට වඩා ඉදිරියට ගිය ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ ඉන්දියාවට ලබා දීමට බ්‍රිතාන්‍ය පාලකයෝ කටයුතු කළහ. සුරේන්ද්‍රනාත් බැනර්ජි, බාල් ගංගාධාර්, තිලක්, මහත්මා ගාන්ධි, ජවහර්ලාල් නේරු වැනි නායකයෝ බ්‍රිතාන්‍යයන්ට විරුද්ධ උද්ඝෝෂණවලට ඉන්දියානු ජනතාව සහභාගි කරවා ගනිමින් "ස්වරාජ්‍ය" හෙවත් නිදහස දිනා ගැනීමේ ප්‍රබල සටනක් ක්‍රියාත්මක කළහ. මහත්මා ගාන්ධි, ජවහල්ලාල් නේරු වැනි නායකයෝ ලංකාවට පැමිණ මෙරට ජනතාව ද ඇමතූහ. මහත්මා ගාන්ධිතුමා 1927 දී ලංකාවට පැමිණ දින කිහිපයක් ම මෙරට රැඳී සිටියේ ය.


රූපය 4.2 - මහත්මා ගාන්ධිතුමා

ඉන්දියානු නිදහස් සටනේ ආභාසය ලංකාවටත් ලැබුණි. බ්‍රිතාන්‍යයට පෙත්සම් ඉදිරිපත් කිරීම හා යටත් විජිත භාර ලේකම් සමග සාකච්ඡා කිරීම වැනි ක්‍රියාමාර්ග වැදගත් දේශපාලන ප්‍රතිසංස්කරණ දිනා ගැනීමට ප්‍රමාණවත් නො වන බව මේ නිසා මෙරට නායකයෝ තේරුම් ගත්හ. ඒ අනුව 1915න් පසුව වඩා සංවිධානාත්මකව උද්ඝෝෂණ මෙහෙයවීමට මෙරට නායකයන් කටයුතු කළ බව පෙනේ.

**ලංකා ජාතික සංගමය**

1915 වර්ෂයේ සිංහල මුස්ලිම් කෝලාහලය අවස්ථාවේ යුධ නීතිය පැනවීම මගින් ආණ්ඩුව ජනතාව මර්දනය කිරීම නිසා පාලන කටයුතුවල දී ලාංකිකයන්ට වැඩි බලතල ලබා ගැනීමේ අවශ්‍යතාව තදින් මතු විය. එහෙත් 1919 වන විටත් මෙරට දේශපාලන උද්ඝෝෂණ මෙහෙයවීමට පොදු සංවිධානයක් බිහිව නො තිබුණි. මේ වන විට කුඩා කුඩා සංවිධාන රැසක් තිබුණු නමුත් එමගින් ප්‍රබල හඬක් නැගිය නො හැකි විය. මේ නිසා ඒ වන විට පැවති සංවිධාන සියල්ල එකතු කොට 1919 දෙසැම්බර් මස ලංකා ජාතික සංගමය පිහිටුවනු ලැබී ය. 1915න් පසුව මෙරට දේශපාලන උද්ඝෝෂණ ව්‍යාපාරයේ කැපී පෙනුණු නායකයෙකු වූ පොන්නම්බලම් අරුණාචලම් මහතා ලංකා ජාතික සංගමයේ ප්‍රථම සභාපතිවරයා වශයෙන් පත් විය. මේ වන විට දේශපාලන කටයුතු පිළිබඳ උනන්දු වූ සියලු සංවිධාන ජාතික සංගමය යටතේ ඒකාබද්ධ වී දේශපාලන බලතල ලාංකිකයන්ට ලබා ගැනීමට ශක්තිමත් උද්ඝෝෂණයක් මෙහෙයවීම ජාතික සංගමය පිහිටුවීමේ ප්‍රධාන අරමුණක් විය. පොදු අරමුණක් වෙනුවෙන් කටයුතු කිරීම සඳහා සිංහල, දෙමළ, මුස්ලිම් වැනි විවිධ ජන කොටස් නියෝජනය කළ සංවිධාන රැසක් ලංකා ජාතික සංගමය ලෙස එක ම සංවිධානයක් තුළට එක්සත් වීම මෙරට ඉතිහාසයේ වැදගත් අවස්ථාවකි.


රූපය 4.3 - ඩී. බී. ජයතිලක මහතා

**මැනිං ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය (1920)**

කෲව් මැකලම් ආණ්ඩුක්‍රමය ගැන සෑහීමට පත් නො වී ලාංකිකයන් විසින් දිගින් දිගට ම මෙහෙයවන ලද උද්ඝෝෂණ නිසා 1920 දී ලැබුණ මේ ප්‍රතිසංස්කරණය අනුව ව්‍යවස්ථාදායක සභාවේ සාමාජික සංඛ්‍යාව 37 දක්වා වැඩි කෙරිණි. එම පිරිසෙන් 14 දෙනෙක් නිල ලත් අය වූ අතර 23 දෙනෙක් නිල නො ලත් නියෝජිතයෝ වූහ. නිල නො ලත් පිරිසෙන් 7 දෙනෙකු ආණ්ඩුකාරවරයා විසින් නාමකරණයෙන් පත් කරන ලදි. ඉතිරි 16 දෙනා පළාත්බද නියෝජන ක්‍රමය අනුව සීමිත ඡන්ද බලයෙන් තෝරා ගත්හ. නිල නො ලත් පිරිස ව්‍යවස්ථාදායකයේ බහුතරය වුවත් තීරණාත්මක අවස්ථාවක දී ආණ්ඩුකාරවරයා නම් කළ 7 දෙනා ද නිල ලත් 14 දෙනා සමග එකතු වීමේ පසුබිමක් පැවති හෙයින් ව්‍යවස්ථාදායකයේ ආණ්ඩුකාරවරයාට පක්ෂපාත බහුතර ඡන්දයක් තිබුණි.

**1920 ප්‍රතිසංස්කරණය**




1920 ආණ්ඩුක්‍රමයේ කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- ව්‍යවස්ථාදායක සභාවේ මුල්වරට නිල නො ලත් බහුතරයක් ඇති වීම.
- පළාත්බද නියෝජන ක්‍රමය හඳුන්වා දීම.
- වාර්ගික නියෝජනය තවදුරටත් ක්‍රියාත්මක වීම.

මෙම ප්‍රතිසංස්කරණයෙන් වුව ද ආණ්ඩුකාරවරයාට පැවරුණු බලතල අඩු නො වී ය. ලංකා ජාතික සංගමයේ ඉල්ලීම් ද නො සලකා හැර තිබුණි. මේ නිසා ලාංකික නායකයෝ තවදුරටත් උද්ඝෝෂණවල නිරත වූහ. ලංකා ජාතික සංගමය මුල දී මෙම ප්‍රතිසංස්කරණය ප්‍රතික්ෂේප කිරීමට පවා සැරසුණි. මේ නිසා කෙටි කාලයකින් තවත් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් ලබා දෙන බවට විලියම් මැනිං ආණ්ඩුකාරවරයා පොරොන්දු විය. එහි ප්‍රතිඵල වශයෙන් 1924 දී තවත් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් ලැබුණි. එය මැනිං ඩෙවොන්ෂයර් ප්‍රතිසංස්කරණය ලෙස ද හැඳින්වේ.

**ක්‍රියාකාරකම**

ලංකා ජාතික සංගමය බිහි වීමට බලපෑ හේතු පැහැදිලි කරන්න.

**1924 ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය**

මෙම ප්‍රතිසංස්කරණයෙන් ව්‍යවස්ථාදයක සභාවේ සාමාජික පිරිස 49 දක්වා වැඩි කෙරිණි. එම පිරිස නිල ලත් 12ක් හා නිල නො ලත් 37ක් වශයෙන් පත් කිරීමට කටයුතු කෙරිණි. නිල නොලත් 37න් 8 දෙනෙකු ආණ්ඩුකාරවරයාගේ නාමකරණයෙන් පත් කළ අතර 29 දෙනෙකු ඡන්ද බලයෙන් පත් කිරීම වැදගත් කරුණකි. නිල නො ලත් 12 දෙනා හා ආණ්ඩුකාරවරයා පත් කළ 8 දෙනා එකතු වුව ද ඡන්ද බලයෙන් පත් වූ 29 දෙනෙකු සිටි බැවින් මහජන ඡන්දයෙන් පත් වූ පිරිස එම සභාවේ බහුතරය වීම මෙම ප්‍රතිසංස්කරණයේ ඉතා වැදගත් ලක්ෂණයකි. ආණ්ඩුව පවත්වාගෙන යාමේ වගකීම තවදුරටත් ආණ්ඩුකාරවරයා වෙත පැවරී තිබුණ ද ව්‍යවස්ථාදයක සභාවේ පක්ෂපාත තීරණාත්මක බහුතර ඡන්දයක් ඔහුට නො තිබීම නිසා එහි බලය මහජන නියෝජිතයන්ට පැවරී තිබුණි. මේ නිසා මෙම ආණ්ඩුක්‍රමය බලය හා වගකීම වෙන් කළ ආණ්ඩුක්‍රමයක් බවට පත් වූ අතර ආණ්ඩුව පවත්වාගෙන යාමේ දී ද දුෂ්කරතා මතු විය. විලියම් මැනිංට පසුව මෙරට ආණ්ඩුකාර ධුරයට පත්ව ආ හියු ක්ලිපර්ඩ් ආණ්ඩුකාරවරයා මෙම තත්ත්වය යටත් විජිත කාර්යාලයට දන්වූ හෙයින් ලංකාවට පැමිණ මෙරට තත්ත්වය සොයා බලා ප්‍රතිසංස්කරණ නිර්දේශ කිරීම සඳහා ඩොනමෝර් කොමිසම පත් කෙරිණි.

## 4.3 ඩොනමෝර් ආණ්ඩුක්‍රමය 1931

ඩොනමෝර් සාමිවරයාගේ ප්‍රධානත්වයෙන් යුතු ඩොනමෝර් කොමිසම 1927 වර්ෂයේ දී මෙරටට පැමිණ ලාංකිකයන්ගේ සාක්ෂි විමසා බලා නිර්දේශ කළ ආණ්ඩුක්‍රමය 1931 සිට ක්‍රියාත්මක විය. එය ඩොනමෝර් ආණ්ඩුක්‍රමය ලෙස හැඳින්වේ. මෙතෙක් පැවති විවිධ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ අතර ලාංකිකයන්ට සැලකිය යුතු දේශපාලන වගකීමක් පැවරූ ප්‍රතිසංස්කරණයක් ලෙස ඩොනමෝර් ආණ්ඩුක්‍රමය විශේෂයෙන් වැදගත් වේ. එය නිදහස දිනා ගැනීමට ගමන් කළ මාවතේ වැදගත් සන්ධිස්ථානයක් ලෙස ද සැලකිය හැකි ය.

ඩොනමෝර් ආණ්ඩුක්‍රමයේ කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් කෙටියෙන් සලකා බලමු.

මෙම ආණ්ඩුක්‍රමය යටතේ සාමාජිකයන් 61 දෙනෙකුගෙන් යුතු ව්‍යවස්ථාදායක සභාවක් පිහිටුවිය. එය රාජ්‍ය මන්ත්‍රණ සභාව ලෙස හැඳින්වේ. එයට නියෝජිතයන් තෝරා ගත් ආකාරය පහත සටහනෙන් දැක්වේ.

**රාජ්‍ය මන්ත්‍රණ සභාව**

රාජ්‍ය මන්ත්‍රණ සභාව 61

- පළාත් බද ඡන්ද කොට්ඨාසවලින් 50
- රාජ්‍ය නිලධාරින් 03
  - රාජ්‍ය ලේකම්
  - මුදල් ලේකම්
  - නීති ලේකම්
- ආණ්ඩුකාරවරයා නම් කළ 08

රාජ්‍ය මන්ත්‍රණ සභාවේ මූලාසනය හොබවන ලද්දේ එහි සාමාජිකයන්ගේ කැමත්තෙන් තෝරා ගත් කථානායකවරයෙකු විසිනි.

**සර්වජන ඡන්ද බලය**

1912 වර්ෂයේ සිට ව්‍යවස්ථාදායකයට නියෝජිතයන් තේරීමේ දී ඡන්ද බලය ක්‍රියාත්මක වුවත් ඡන්ද හිමි සංඛ්‍යාව ඉතා සීමිත විය. ඒ අනුව ඡන්ද දායකයෙකු වීමට කිසියම් ආධ්‍යාපනික හා දේපළ සුදුසුකමක් අවශ්‍ය විය. මේ නිසා දුප්පත් ජනතාවට ඡන්ද බලය හිමිව නො තිබුණි. 1924 වර්ෂය වන විටත් මෙරට ඡන්ද දායකයන් සංඛ්‍යාව 4%ක් තරම් සුළු ප්‍රතිශතයක් වීමෙන් එම තත්ත්වය පැහැදිලි වේ. එසේ ම ස්ත්‍රීන්ට ඡන්ද බලය හිමිව නො තිබිණි. මෙසේ ජනගහනයෙන් අධ්‍යාපනය හා වත් පොහොසත්කම් ඇති අයට පමණක් ඡන්ද බලය හිමි වීම නිසා අඩු ආදයම් ලබන ජනතාවගේ ගැටලු කෙරෙහි දේශපාලනඥයන්ගේ අවධානය අවම වී ඇති බව ඩොනමෝර් කොමිසමේ අදහස විය. එසේ ම රටේ පොදු ජනතාවට ඡන්ද බලය නො ලැබීම නිසා දේශපාලන කටයුතු කෙරෙහි ඔවුන්ගේ උනන්දුව අඩු වී ඇතැයි ද කොමසාරිස්වරු පෙන්වා දුන්හ. මේ නිසා අධ්‍යාපන හෝ වත් පොහොසත්කම පිළිබඳ සුදුසුකම්වලින් තොරව වයස අවු 21ට වැඩි ස්ත්‍රී පුරුෂ සියලු පුරවැසියන්ට ඡන්ද බලය ලබා දිය යුතු යැයි කොමසාරිස්වරු නිර්දේශ කළහ. 1931 වර්ෂයේ දී ලාංකිකයන්ට සර්වජන ඡන්ද බලය ලැබුණේ එහි ප්‍රතිඵලයක් වශයෙනි. එය පොදු ජනතාව ලැබූ විශාල ජයග්‍රහණයක් ලෙස සැලකිය හැකි ය.

**විධායක කාරක සභා ක්‍රමය**

ඩොනමෝර් ප්‍රතිසංස්කරණවලට පෙර ව්‍යවස්ථාදායකය හා විධායකය අතර සබඳතාව අවම වී තිබුණි. එහෙත් මෙම ප්‍රතිසංස්කරණ මගින් ව්‍යවස්ථාදායක මෙන් ම විධායක කටයුතු පිළිබඳ බලයක් ද රාජ්‍ය මන්ත්‍රණ සභාවට ලැබුණි. මැතිවරණයකින් පසුව

රාජ්‍ය මන්ත්‍රණ සභාවේ සාමාජිකයන් කාරක සභා 7කට බෙදුණි. එම කාරක සභාවලට අයත් විෂය ක්ෂේත්‍ර මෙසේ ය.

- ස්වදේශ කටයුතු
- කෘෂිකර්මය සහ ඉඩම්
- පළාත් පාලනය
- සෞඛ්‍ය
- අධ්‍යාපනය
- ගමනාගමනය හා පොදු වැඩ
- කම්කරු කර්මාන්ත හා වෙළෙඳාම

එක් එක් කාරක සභාවේ සභාපතිවරයා ඒ ඒ විෂය ක්ෂේත්‍රය භාර ඇමතිවරයා බවට පත් විය. මේ නිසා ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ ලාංකික ඇමතිවරු 7 දෙනෙක් බිහි වූහ. එමගින් ලාංකිකයන්ගේ අවශ්‍යතා පරිදි ඒ ඒ අමාත්‍යාංශ මෙහෙයවීමට ඇමතිවරුන්ට හැකියාව ලැබුණි. රාජ්‍ය මන්ත්‍රණ සභා යුගයේ දී ගොවි ජනපද ව්‍යාපාරය, නිදහස් අධ්‍යාපනය වැනි පොදු ජනතාවට බලපාන වැදගත් යෝජනා රැසක් ක්‍රියාත්මක කිරීමට ද ඇමති මණ්ඩලයට හැකියාව ලැබිණි.

**ආණ්ඩුකාරවරයා හා රාජ්‍ය නිලධාරීන්**

මීට පෙර පැවති ආණ්ඩුක්‍රම හා සසඳන විට ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ ආණ්ඩුකාරවරයාගේ බලය බොහෝ දුරට අඩු වී තිබුණි. ආණ්ඩුකාරවරයා රාජ්‍ය මන්ත්‍රණ සභාව හා ඇමති මණ්ඩලය සමග සහයෝගයෙන් කටයුතු කළ යුතු විය. එහෙත් රාජ්‍ය ආරක්ෂාව, මුදල් කටයුතු හා නීති කටයුතු වැනි ඉතා වැදගත් අංශ තවදුරටත් රාජ්‍ය නිලධාරීන් තිදෙනා යටතට පත් කර තිබීම ඩොනමෝර් ආණ්ඩුක්‍රමයේ පැවති දුර්වලතාවක් විය.

## 4.4 නිදහස සඳහා උද්ඝෝෂණ

ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ ලාංකිකයන්ට යම් බලයක් පැවරී තිබුණත් ආණ්ඩුකාරවරයා හා රාජ්‍ය නිලධාරීන්ට තවදුරටත් රාජ්‍ය පාලනයේ වැදගත් අංශ රැසක බලතල පැවරී තිබුණි. මේ නිසා 1931 සිට ම ආණ්ඩුකාරවරයාගේ බලතල සීමා කිරීම හා රාජ්‍ය නිලධාරීන්ට පවරා තිබූ අමාත්‍යාංශ ලාංකික ඇමතිවරුන්ට පැවරීම අවශ්‍ය බවට උද්ඝෝෂණයක් ආරම්භ විය. එහි දී රාජ්‍ය මන්ත්‍රණ සභාව හා ඇමතිවරු ඉල්ලීම් ඉදිරිපත් කිරීමේ දී පෙරමුණ ගෙන කටයුතු කළහ.

**සූරිය මල් ව්‍යාපාරය**

ඩොනමෝර් ආණ්ඩුක්‍රමය සංශෝධනය කරවා පාලන බලතල ලාංකිකයන්ට ලබා ගැනීමට ඇමති මණ්ඩලය, රාජ්‍ය මන්ත්‍රණ සභාව හා ලංකා ජාතික සංගමය ආදිය ගෙන

ගිය උද්ඝෝෂණවලට අමතරව මෙරට වාමාංශිකයන් විසින් ද නිදහස ලබා ගැනීමේ උද්ඝෝෂණයක් දියත් කරන ලදි. 1935 වර්ෂයේ දී ලංකා සමසමාජ පක්ෂය පිහිටුවාගත් ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා, ආචාර්ය කොල්වින් ආර්. ද සිල්වා, වැනි වාමාංශික නායකයෝ නිදහස ඉල්ලා ගෙන ගිය උද්ඝෝෂණවල ප්‍රචාරක කටයුතු සඳහා සූරියමල් ව්‍යාපාරය යොදා ගත්හ.



රූපය 4.3 - ආචාර්ය කොල්වින් ආර් ද සිල්වා මහතා



රූපය 4.4 - ආචාර්ය එන්. එම්. පෙරේරා මහතා

සූරියමල් ව්‍යාපාරය ආරම්භ වූයේ පොපි මල් ව්‍යාපාරයට ප්‍රතිවිරුද්ධ වශයෙනි. පළමුවන ලෝක සංග්‍රාමයෙන් ආබාධිත බ්‍රිතාන්‍ය සොල්දාදුවන්ට හා පවුල්වලට ආධාර එකතු කර ගැනීම සඳහා පොපි මල් විකිණීමේ ව්‍යාපාරය අරම්භ කර තිබුණි. නොවැම්බර් 11 දින යුද්ධ සාමදාන දිනය ලෙස සලකා සෑම වසරක ම එදිනට පොපි මල් විකිණීම සිදු කෙරිණි. ඊට අමතරව එදින පෙළපාලි හා උත්සව පවත්වා බ්‍රිතාන්‍ය අධිරාජ්‍ය කෙරෙහි ලංකාවේ පක්ෂපාතීත්වය පෙන්වීමට ද කටයුතු කෙරිණි. පොපිමල් විකිණීමෙන් ලැබෙන මුදල් බ්‍රිතාන්‍යයට යවනු ලැබී ය. 1926 වර්ෂයේ දී ලංකාවේ සේවා මුක්ත භට සංගමය විසින් පොපි මල් විකිණීම සිදු කළ දින සිට සූරිය මල් විකිණීමේ ව්‍යාරයක් ද ආරම්භ කරන ලදි. පසුව වාමාංශික නායකයෝ සූරියමල් ව්‍යාපාරයට සම්බන්ධ වූහ. එසේ ම සූරිය මල් විකිණීමෙන් ලැබෙන මුදල් මෙරට දුප්පත් ජනතාවගේ ශුභ සිද්ධියට වැය කෙරිණි. පොපිමල් විකිණීමෙන් ලැබූ මුදල් බ්‍රිතාන්‍යයට යැවුණු බැවින්, එම මල් මිල දී ගැනීම අධිරාජ්‍යවාදයට පක්ෂපාති වීමක් බවට ප්‍රචාරය කළ වාමාංශිකයෝ සූරියමල් පැළඳීම නිදහස් සටනට දායක වීමක් ලෙස ප්‍රචාරය කළහ. පොපි මල් වහල් බවේ ලකුණක් බවත්, සූරිය මල් නිදහසේ සලකුණක් බවටත් ගෙනගිය ප්‍රචාර හරහා බ්‍රිතාන්‍ය ප්‍රතිපත්ති විවේචනය විය. මේ අනුව සූරියමල් ව්‍යාපාරය නිදහස සඳහා ගෙන ගිය උද්ඝෝෂණවල ප්‍රචාරක ව්‍යාපාරයක් බවට පත් විය.

### අමාත්‍ය මණ්ඩලය හා ජාතික සංගමය

1939 වර්ෂයේ දී දෙවන ලෝක සංග්‍රාමය ආරම්භ වීම නිසා යුද්ධ අවස්ථාවේ දී බ්‍රිතාන්‍යයන්ට ලංකාවේ සහයෝගය අවශ්‍ය විය. මෙහි දී ඇමති මණ්ඩලය බ්‍රිතාන්‍යයට සහය දීමට ඉදිරිපත් වුවත් යුද්ධය නිම වූ පසුව නව ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් අවශ්‍ය බවට ඔවුහු කරුණු දැක්වූහ. යුද්ධ අවස්ථාවේ දී ලංකාවේ ආරක්ෂක කටයුතු පවත්වාගෙන යාමට විශේෂ ආරක්ෂක මණ්ඩලයක් පත් කළ අතර, එවකට කෘෂිකර්ම අමාත්‍ය ඩී. එස්. සේනානායක මහතා ද එම මණ්ඩලයට සහභාගි විය. යුද්ධය පැවති දුෂ්කර අවස්ථාවේ දී ඇමති මණ්ඩලය ලබා දුන් සහය නිසා පැහැදුණු මෙරට බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරයා ඇතුළු උසස් නිලධාරිහු යුද්ධය නිම වූ පසුව ලාංකිකයන්ගේ ඉල්ලීම් ඉටු වන ආණ්ඩුක්‍රම



රූපය 4.5 - ඩී. එස්. සේනානායක මහතා

ප්‍රතිසංස්කරණයක් ලබා දෙන ලෙස බ්‍රිතාන්‍යයට දැන්වූහ. එහි ප්‍රතිඵල වශයෙන් යම් යම් සීමාවන්ට යටත්ව ලංකාවට ගැළපෙන ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා කෙටුම්පතක් පිළියෙල කිරීමට මෙරට අමාත්‍ය මණ්ඩලයට බලය ලැබුණි. 1944 දී ඇමති මණ්ඩලය සැකසූ එම කෙටුම්පත අනුව මෙරට අභ්‍යන්තර කටයුතු පිළිබඳ සම්පූර්ණ බලය ලාංකිකයන්ට ලැබෙන පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක් යෝජනා වී තිබුණි.

ලංකා ජාතික සංගමය ද 1942 සිට රටට නිදහස ලබා ගැනීම තම ප්‍රධාන අරමුණ බවට පත් කරගෙන උද්ඝෝෂණයක නිරත විය. ජාතික සංගමය මේ කාලයේ දී අමාත්‍ය මණ්ඩලය සමග සහයෝගයෙන් කටයුතු කළේ ය.

### සෝල්බරි ආණ්ඩුක්‍රමය

ලාංකිකයන්ගේ ඉල්ලීම් සලකා බලා ඇමති මණ්ඩලයේ ව්‍යවස්ථා කෙටුම්පත ද සැලකිල්ලට ගෙන නව ආණ්ඩුක්‍රමයක් පිළිබඳ යෝජනා ඉදිරිපත් කිරීමට 1944 වර්ෂයේ දී සෝල්බරි කොමිසම පත් කෙරිණි. 1945 දී සෝල්බරි කොමිසමේ වාර්තාව ප්‍රකාශයට පත් වූ අතර පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක් එමගින් යෝජනා කර තිබුණි.

සෝල්බරි ආණ්ඩුක්‍රමය බොහෝ දුරට අමාත්‍ය මණ්ඩලය සැකසූ කෙටුම්පත හා සමාන විය. 1945 නොවැම්බර් මස දී රාජ්‍ය මන්ත්‍රණ සභාව විසින් වැඩි ඡන්ද සංඛ්‍යාවකින් සෝල්බරි ආණ්ඩුක්‍රමය අනුමත කිරීම වැදගත් කරුණකි. සෝල්බරි ආණ්ඩුක්‍රමයේ ස්වභාවය හා ශ්‍රී ලංකාවට නිදහස ලැබීම පිළිබඳව හයවන පාඩමේ දී ඔබට වැඩිපුර ඉගෙනීමට ලැබේ.

**ක්‍රියාකාරකම**

පහත මාතෘකා පිළිබඳ කෙටි සටහන් ලියන්න.

රාජ්‍ය මන්ත්‍රණ සභාව, විධායක කාරක සභා, සර්වජන ඡන්ද බලය

# 05 බ්‍රිතාන්‍යයන් යටතේ ශ්‍රී ලංකාවේ සමාජ පරිවර්තනය

## හැඳින්වීම

බ්‍රිතාන්‍යයන් ශ්‍රී ලංකාව යටත් විජිතයක් බවට පත් කර ගන්නා විට දිගු කාලයක සිට විකාශනය වෙමින් ආ පාලන ක්‍රමයක්, සමාජ ආර්ථික ක්‍රමයත් හා සංස්කෘතියක් මෙරට පැවතුණි. එහෙත් 1948 වර්ෂයේ දී මෙරට යළි නිදහස දිනා ගන්නා විට මේ සියලු අංශයන්හි ප්‍රබල වෙනස්කම් සිදුව තිබුණි. ශ්‍රී ලංකාව බ්‍රිතාන්‍ය යටත් විජිතයක්ව පැවති සමයේ දී රට තුළ විශාල පරිවර්තනයක් ඇති වූ බව මෙයින් පෙනේ. 1815 වර්ෂය වන විට මෙරට පැවති සාම්ප්‍රදායික රාජාණ්ඩු ක්‍රමය බ්‍රිතාන්‍ය පාලන කාලයේ දී පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයක් බවට විකාශනය වූ ආකාරය මීට ඉහත පාඩමේ දී පැහැදිලි කෙරිණ. එම පාලනය යටතේ දිවයිනේ සමාජ ආර්ථික හා සංස්කෘතික අංශයන්හි ඇති වූ වෙනස්කම් පිළිබඳව මෙම පාඩමෙන් අවධාරණය කෙරේ.

## 5.1 ආර්ථික වෙනස්වීම්

ශ්‍රී ලංකාවේ සාම්ප්‍රදායික ආර්ථික හා සමාජ ක්‍රමයට හා සංස්කෘතියට පදනම සකස් වූයේ අනුරාධපුර රාජ්‍ය සමය තරම් ඈත කාලයක දී ය. දේවානම්පියතිස්ස රාජ්‍ය සමයේ සිට බුදු දහමේ ආභාසය මත ගොඩනැගුණු එකී සමාජ ආර්ථික රටාවේ වෙනස්කම් ඇති වීම ආරම්භ වූයේ 16 වන සියවසේ පෘතුගීසීන්ගේ පැමිණීමෙන් පසුව ය. පෘතුගීසීන් මුහුදුබඩ ප්‍රදේශවල බලය ගොඩනගාගෙන සිටි කාලයේ වෙළෙඳාම කෙරෙහි වැඩි අවධානයක් යොමු කිරීම නිසා ඔවුන් යටතේ පැවති ප්‍රදේශවල කෘෂිකාර්මික කටයුතු තරමක් අඩපණ විය. මෙරට මුහුදුබඩ ප්‍රදේශවල ලන්දේසි බලය පැවති සමයේ ලන්දේසීහු අපනයනය ඉලක්ක කරගෙන, කුරුඳු, ගම්මිරිස් ආදිය වගා කිරීමේ ක්‍රමයක් අනුගමනය කළහ. එසේ ම ලන්දේසීන් සුළු කර්මාන්ත කිහිපයක් ආරම්භ කළ හෙයින් නිම කරන වැඩ කොටස් අනුව ගෙවීම් කිරීම, වැටුපට සේවය කරන කම්කරු පිරිසක් සුළු වශයෙන් හෝ බිහිවීම ආදිය ද දක්නට ලැබේ. එහෙත් පෘතුගීසීන් හා ලන්දේසීන් මුහුදුබඩ ප්‍රදේශ ආශ්‍රිතව තම බලය ගොඩනගා ගෙන සිටි සමයේ දිවයිනේ විශාල ප්‍රදේශයක උඩරට රජධානියේ බලය ව්‍යාප්තව පැවති හෙයින් සාම්ප්‍රදායික සමාජ ආර්ථික රටාවේ පුළුල් වෙනසක් ඇති කිරීමට එකී යුරෝපීයන්ට හැකියාව නො ලැබුණි.

බ්‍රිතාන්‍යයන් ශ්‍රී ලංකාව යටත් විජිතයක් බවට පත් කර ගන්නා විට සාම්ප්‍රදායික සමාජ ආර්ථික ක්‍රමය ඇසුරෙන් ගොඩනැගුණු සමාජ ක්‍රමයක් මෙරට පැවතුණි. එම සමාජය තුළ ප්‍රභූ පන්තියක් සිටි අතර එම පිරිස රටේ ජනගහනයෙන් ඉතා සුළු පිරිසකි. ප්‍රභූ පන්තිය බොහෝ විට රටේ පරිපාලන කටයුතු මෙහෙයවා ඇත. රටේ අතිබහුතර ජනතාව සාමාන්‍ය ජනයා වූ අතර ඔවුහු කෘෂිකර්මාන්තය මත යැපුණහ.

මෙරට සාම්ප්‍රදායික ජන ජීවිතය ගම මූලික කරගෙන බිහිව තිබුණි. ගමේ ජනතාවට අවශ්‍ය ආහාර පාන ගම තුළ ම නිෂ්පාදනය කළ හෙයින් එය ග්‍රාමීය ස්වයංපෝෂිත ආර්ථික ක්‍රමයක් ලෙස හැඳින්විය හැකි ය. අන්‍යෝන්‍ය සහයෝගය හා සහජීවනය සමාජයේ පැවතුණි. එකල සමාජයේ වැටුපට වැඩ කිරීමේ ක්‍රමයක් දක්නට නො ලැබිණි. තමන්ගේ ගොවිතැන් කටයුතුවලට ශ්‍රමය වැය කළ එක් එක් අයගේ ගොවිතැන් කටයුතු සඳහා අදාළ දින ගණන්වලට සරිලන සේ තම ශ්‍රමය ලබා දීම හෙවත් අත්තම් ක්‍රමය යටතේ කෘෂිකාර්මික කටයුතු සිදු විය. මේ නිසා සමාජයේ මුදල් භාවිතය අවම වී තිබුණි.

ගම් වැසියන්ගේ සුළු සුළු ආරවුල් හා සුළු පැමිණිලි විභාග කරන ලද්දේ ගම් සභාව විසිනි. ගමේ ඇළ වේලි සැකසීම, වැව් අමුණු නඩත්තුව, පාරවල් හා වෙහෙර විහාර තැනවීම වැනි පොදු කටයුතු මෙහෙයවීමේ දී ගම් සභාවට වැදගත් තැනක් ලැබුණි. සාම්ප්‍රදායික රාජකාරි ශ්‍රම ක්‍රමය යටතේ ගම් සභාවට අවශ්‍ය ශ්‍රමය ලබා ගත හැකි විය. පසුව ගම් සභාව ගමේ සුළු අධිකරණ කටයුතු විසඳන ආයතනයක්ව පැවතුණි.

1815 වර්ෂයට පෙර පැවති පරිපාලන ක්‍රමය යටතේ රජයට අවශ්‍ය ශ්‍රමය ලබා ගත්තේ රාජකාරී ශ්‍රම ක්‍රමය මගිනි. එකල ඉඩම් භුක්ති රාජකාරි ක්‍රමය හා අනිවාර්ය සේවා රාජකාරි ක්‍රමය වශයෙන් ශ්‍රමය සැපයීමේ ක්‍රම දෙකක් තිබුණි.

අතීතයේ රජුට අවශ්‍ය සේවා සපයන නිලධාරීන්ට යැපීම සඳහා ඉඩ කඩම් ලබා දී තිබිණ. සේවා පරවේණි ඉඩම් ලෙස හඳුන්වන ලද එකී ඉඩම් වගා කළ අය රජුට අවශ්‍ය සේවය සැපයූහ. නිලධාරීන්ට ලැබුණු මෙම ඉඩම් වගා කිරීම සාමාන්‍ය ජනතාවට ලබා දී තිබුණු අතර එකී ඉඩම් වගා කිරීම වෙනුවෙන් සේවය මගින් ශ්‍රමය සැපයීමට එම වගාකරුවන්ට සිදු විය. එය ඉඩම් භුක්ති රාජකාරිය ලෙස හැඳින්වේ.

රටේ වැඩිහිටි පිරිමි සියලු දෙනා ම වසරකට නියමිත දින ගණනක් කිසිදු ගෙවීමකින් තොරව රජුට අවශ්‍ය ශ්‍රමය සැපයිය යුතු විය. ගම් ප්‍රධානීන් හා ගම්සභාව යටතේ එම ශ්‍රම ක්‍රමය ක්‍රියාත්මක කෙරිණි. බොහෝ විට ගමේ පොදු වැඩවලට අවශ්‍ය ශ්‍රමය ලැබුණේ මෙම අනිවාර්ය සේවා රාජකාරිය මගිනි.

❖ කෝල්බෲක් කොමිසමේ ආර්ථික ප්‍රතිසංස්කරණ

ඉංග්‍රීසීන් මෙරට පාලනය කිරීමේ දී රජයේ ආදායමට වඩා වියදම වැඩි වීම කෝල්බෲක් කොමිසම එවීමට තුඩු දුන් ප්‍රධාන හේතුව විය. එය ආර්ථික කරුණක් වූ බැවින් ඉංග්‍රීසීන්ගේ අරමුණුවලට ගැළපෙන ආර්ථික ක්‍රමයක් මෙරට බිහි වන ආකාරයේ ප්‍රතිසංස්කරණ රැසක් හඳුන්වා දීමට කෝල්බෲක් පියවර ගත් බව පෙනේ. එවකට රජය මුහුණ දුන් ආර්ථික දුෂ්කරතා මගහරවා ගැනීමට නම් ආර්ථික ප්‍රතිලාභ අත් වන අංශ කෙරේ ධනය ආයෝජනය කළ යුතුව තිබිණ. එහෙත් රජයට ඒ සඳහා මුදල් නො තිබූ බැවින් පෞද්ගලික ව්‍යවසායකයන්ට ධනය ආයෝජනය කළ හැකි පසුබිමක් මෙරට

ගොඩනැගීම කෝල්බෲක් කොමිසමේ අරමුණ වී තිබිණ.

ශ්‍රී ලංකාවේ ක්‍රියාත්මක වූ සාම්ප්‍රදායික ඉඩම් භුක්ති ක්‍රමය පෞද්ගලික ව්‍යවසායේ දියුණුවට බාධාවක් යැයි සැලකූ බැවින් රජය ඉඩම් විකිණීමේ ප්‍රතිපත්තියක් ක්‍රියාත්මක කළ යුතු යැයි කෝල්බෲක් නිර්දේශ කළේ ය. මේ අනුව විදේශිකයන්ට මෙන් ස්වදේශකයන්ට ද කැමැති ප්‍රමාණයක් ඉඩම් මිල දී ගැනීමට අවස්ථාව ලැබිණි. මෙරට සිටි සිවිල් නිලධාරීන්ට වතු වගාවට අවසර දිය යුතු යැයි කෝල්බෲක් නිර්දේශ කළ නිසා රජයේ ඉඩම් මිල දී ගැනීමේ අවස්ථාව ඔවුන්ට ද ලැබුණි.

ඉඩම් මිල දී ගත් ව්‍යාපාරිකයන්ට ඒවා වගා කරවීමට ශ්‍රමය අවශ්‍ය වේ. සාම්ප්‍රදයිකව පැවති අනිවාර්ය සේවා රාජකාරී ක්‍රමය අනුව රජයේ කටයුතුවලට ශ්‍රමය ලබාගත්තේ මුදල් ගෙවීමකින් තොරව ය. එය පෞද්ගලික නිදහසට බාධාවක් වූවා සේ ම පෞද්ගලික ව්‍යවසාය ක්‍රමයට නො ගැළපෙන බව ද කෝල්බෲක් දුටුවේ ය. මේ නිසා අනිවාර්ය සේවා රාජකාරි ශ්‍රම ක්‍රමය අහෝසි කිරීමට කෝල්බෲක් යෝජනා කළේ ය. ඒ අනුව ශ්‍රමය යනු කිසියම් මුදලකට මිල දී ගත හැකි දෙයක් බවට පත් වූයෙන් වැටුපට සේවය කරන ශ්‍රමිකයන් බිහි වීමට අවශ්‍ය පසුබිම ගොඩනැගිණ.

කෝල්බෲක් මෙරටට පැමිණෙන විට පැවති ආර්ථික ක්‍රමය අනුව කුරුඳු හා ලුණු වෙළෙඳාම රජයේ ඒකාධිකාරයක් වශයෙන් පැවතුණි. මෙසේ රාජ්‍ය ඒකාධිකාරයක් පවත්වාගෙන යාම පෞද්ගලික ව්‍යවසාය ක්‍රමය සමග නො ගැළපේ. මේ නිසා කුරුඳු හා ලුණු ඒකාධිකාරය අහෝසි කොට පෞද්ගලික අංශයටත් එම ක්ෂේත්‍රවල ව්‍යාපාරික කටයුතුවලට යෙදීමට ඉඩ සැලසීමට යෝජනා කෙරිණ. එකල රජයේ ආදායම් මාර්ග වූ මාළු බද්ද, ඉඩම් බද්ද, මත්පැන් බද්ද ආදිය සෘජු වශයෙන් අය කළ බදු වර්ග විය. උදාහරණයක් වශයෙන් දක්වුවහොත් අල්ලන ලද මාළුවලින් කොටසක් බදු වශයෙන් ගෙවීමට සිදු වී තිබුණි. ඒ ඒ ප්‍රදේශයේ බදු අය කිරීමේ අයිතිය වෙන්දේසි කර තිබූ අතර වෙන්දේසියෙන් එම අයිතිය මිල දී ගත් පිරිසට මාළුවලින් කොටසක් බදු වශයෙන් ලබා දීමට ධීවරයන්ට සිදු විය. මෙසේ අල්ලන ලද මාළුවලින් කොටසක් බදු වශයෙන් ලබා ගැනීම වෙනුවට බෝට්ටුවලට බලපත්‍ර නිකුත් කිරීමෙන් එම බද්ද වක්‍රව අය කිරීමට යෝජනා කෙරිණි. ඉඩම් බද්ද ද සෘජු බද්දක් ලෙස පැවතුණි. බදු එකතු කිරීමේ අයිතිය රජය වෙන්දේසියේ විකුණා තිබූ අතර එම අයිතිය මිල දී ගත් පිරිස් ඉඩම්වල නිෂ්පාදන ද්‍රව්‍යවලින් බදු අය කළහ. එය අහෝසි කොට සියලු ඉඩම්වලින් සමාන බද්දක් මුදලින් අය කිරීමට කෝල්බෲක් නිර්දේශ කළේ ය.

දිවයිනේ ඉතිරි කිරීමේ බැංකුවක් පිහිටුවිය යුතු බව කෝල්බෲක්ගේ තවත් යෝජනාවකි. වතු වගා කටයුතුවලට ධනය ආයෝජනය කරන ව්‍යාපාරිකයන්ට සාධාරණ පොළියකට මුදල් ලබා ගැනීමට ඉඩ සලසා දීම එහි අරමුණ විය.

## වතු වගාවේ දියුණුව

කෝල්බෲක් කොමිසමේ නිර්දේශ 1833 වර්ෂයේ දී ක්‍රියාත්මක කිරීමත් සමග මෙරට පුළුල් ආර්ථික පරිවර්තනයකට මග සැලසිණ. පෞද්ගලික ව්‍යවසාය දිරිමත් කිරීම කෝල්බෲක්ගේ ආර්ථික ප්‍රතිසංස්කරණවල අරමුණ වූවත් ඒ වන විට විශාල වශයෙන් ධනය ආයෝජනය කළ හැකි ධනවතුන් පිරිසක් මෙරට නො සිටි හෙයින් විදේශීය ධන ආයෝජකයන්ට අක්කර දහස් ගණනින් ඉඩම් මිල දී ගැනීමට හැකියාව ලැබුණි. මේ තත්ත්වය කෝල්බෲක් පවා දැන සිටියේ ය.

ලංකාවට පැමිණි විදේශිකයන් ධනය ආයෝජනය කළේ විදේශීය වෙළෙඳාමෙන් ලාභ ලැබිය හැකි ව්‍යාපාරික කෘෂිකර්මාන්තය කෙරෙහි ය. මේ නිසා 19 වන සියවස තුළ වතු වගාවේ ශීඝ්‍ර දියුණුවක් ඇති විය.

## කෝපි වගාව



ලන්දේසීන්ගේ පාලන කාලයේ දී මුහුදුබඩ ප්‍රදේශ කිහිපයක සුළු වශයෙන් කෝපි වැවීම ආරම්භ වුවත් එකල කුරුඳු වගාවට ප්‍රමුඛත්වය ලැබුණු නිසා කෝපි වගාව දියුණු නො වී ය. ඉංග්‍රීසීන් උඩරටට පැමිණෙන විට ස්ථාන කිහිපයක ගෙවතු වගාවක් ලෙස කෝපි වවා තිබුණි. කෝපි වගාව වතු වගාවක් ලෙස වඩාත් දියුණු වූයේ ඔවුන්ගේ පාලන සමයේ දී ය. 19 වන සියවසේ කෝපි වගාවේ උන්නතියක් ඇති වීමට තුඩු දුන් හේතු කිහිපයක් පවතී.

### කෝපි වගාව දියුණු වීමට බලපෑ හේතු කිහිපයක්

- ❖ 1833 කෝල්බෲක් ප්‍රතිසංස්කරණවලින් පසුව විදේශිකයන් වැඩි වැඩියෙන් කෝපි වගාවට ධනය ආයෝජනය කිරීම
- ❖ යුරෝපා වෙළෙඳපොළේ කෝපිවලට ඇති ඉල්ලුම ඉහළ යාම
- ❖ කෝපි වගාවෙන් විශාල වශයෙන් ලාභ ලැබිය හැකි වීම.
- ❖ ඉන්දියානු ශ්‍රමිකයන් ගෙන්වා ගැනීම නිසා වතු වගාවට ලාභදායි ලෙස ශ්‍රමය ලබා ගත හැකි වීම.

එඩ්වඩ් බාන්ස් ආණ්ඩුකාරවරයාගේ කාලයේ දී කෝපිවලට අය කළ අපනයන බද්ද අඩු කිරීම, වතු වගා කටයුතුවලට ශ්‍රමය සැපයූ කම්කරුවන් අනිවාර්ය සේවා රාජකාරියෙන් නිදහස් කිරීම ආදිය කෝපි වගාවේ උන්නතියට හේතු විය.

1837 - 1847 වර්ෂ අතරතුර කාලයේ උඩරට ප්‍රදේශවල කෝපි වගාව වේගයෙන් පැතිරිණි. මේ කාලයේ දී කෝපි වගාවෙන් විශාල වශයෙන් ලාභ ලැබිය හැකි වූ බැවින් රජයේ නිලධාරීහු පවා කෝපි වගා කළහ. 1845 වර්ෂය වන විට උඩරට ප්‍රදේශවල කෝපි වතු 500ක් තරම් පැවති බව වාර්තා වේ. මේ නිසා දුම්බර මිටියාවත, ගම්පොළ, පේරාදෙණිය, මාතලේ, බදුල්ල හා මධ්‍යම පළාතේ බොහෝ ප්‍රදේශවල සාර්ථකව කෝපි වගාව සිදු විය. 1834 දී අපනයනය කළ කෝපි හොන්ඩර ප්‍රමාණය මෙන් පස් ගුණයක් පමණ 1844 වසරවන විට අපනයනය කළ හැකි විය. එහෙත් 1844න් පසුව බ්‍රිතාන්‍යය අනුගමනය කළ නිදහස් වෙළෙඳ ප්‍රතිපත්තිය නිසා ලන්ඩන් වෙළෙඳපොළේ මෙරට කෝපිවලට දැඩි තරගයකට මුහුණ දීමට සිදු විය. එසේ ම 1848 දී පමණ ඇති වූ ලෝක ආර්ථික පරිහානිය ද මෙරට කෝපි වගාවට අහිතකර ලෙස බලපෑවේ ය. මෙබඳු හේතු නිසා කෝපිවලට ඇති ඉල්ලුම අඩු වී 1848 පමණ වන විට කෝපි වතුවල වටිනාකම පහළ ගියේ ය. එහෙත් 1850න් පසුව කාර්යක්ෂම වතු පාලනය නිසා නිෂ්පාදන මිල අඩු කර ගැනීමට හැකි වීමත් යුරෝපයේ කෝපිවලට තිබූ ඉල්ලුම යළි ඉහළ යාමත් නිසා එම වගාව යථා තත්ත්වයට පත් විය. මෙරට කෝපි වගාව පරිහානියට පත් වීමට ප්‍රධාන හේතුවක් වූයේ 1869 සිට කෝපි කොළ රෝගයක් පැතිර යාම යි. හෙමීලියා වෙස්ටර්ට්‍රික්ස් (Hemilia Vestatrix) නම් එකී දිලීර රෝගය ශීඝ්‍රයෙන් පැතිරයාම නිසා කෝපි වගාව පිරිහුණි.

### සිංකෝනා හා කොකෝවා

මෙරට කෝපි වගාව පරිහානියට පත් වෙමින් පැවති සමයේ ඇතැම් වගා කරුවෝ සිංකෝනා වගාවට හා කොකෝවා වගාවට යොමු වූහ. එහෙත් සිංකෝනා වගාව සාර්ථකව කළ හැකි වූයේ වඩා උස් බිම්වල පමණි. සිංකෝනා යනු ක්විනින් නැමැති ඖෂධය නිපදවීමට යොදා ගත් බෙහෙත් පැළෑටියක් වූ හෙයින් ඒ සඳහා පැවති ඉල්ලුම ද සීමිත විය. මේ නිසා කෝපි වගාවට විකල්පයක් වශයෙන් සිංකෝනා වගාව සාර්ථක නො වී ය.

කෝපි වගාව පරිහානියට ගිය අවධියේ කොකෝවා වගාවට රජයෙන් අනුග්‍රහය ලැබුණි. කොකෝවා සාර්ථකව වගා කිරීමට සෙවණ අවශ්‍ය වූ නිසා ඒ සඳහා අමතර වියදමක් දැරීමට වගා කරුවන්ට සිදු විය. කොකෝවා වඩා හොඳින් වගා කළ හැකි වූයේ ද මාතලේ දිස්ත්‍රික්කයේ පමණි. කොකෝවා වගාව වඩාත් සාර්ථකව පැවති කාලයේ පවා එය අක්කර 12000කට වැඩි ප්‍රදේශයක පැතිර නො තිබුණි. මේ නිසා කෝපිවලට විකල්පයක් ලෙස කොකෝවා වගාව ද සාර්ථක නො වූ බව පෙනේ.

**තේ වගාව**



ලෝක වෙළෙඳපොළේ කෝපි මිල වරින්වර ඉහළ පහළ යාම නිසා උඩරට ප්‍රදේශවල වගාවට සුදුසු වෙනත් භෝග පිළිබඳව ද අත්හදාබැලීම් සිදු කෙරුණි. තේ වගා කිරීම පිළිබඳව ද එබඳු පර්යේෂණ කිහිපයක් සිදු විය. 1867 වර්ෂයේ දී වැවිලිකරුවන්ගේ සංගමය වතුකරුවන් පිරිසක් ඇසෑමයට යවා තේ වගාව ගැන වැඩිදුර හැදෑරීමක් සිදු කර ඇත. මේ අතර ජේම්ස් ටේලර්, ලුල්කඳුර වත්තේ අක්කර කිහිපයක තේ වගා කරමින් තවත් අත්හදාබැලීමක් සිදු කළේ ය. මෙම අත්හද බැලීම්වල ප්‍රතිඵල වශයෙන් 1875 වර්ෂය වන විට අක්කර 500ක පමණ තේ වගාව ව්‍යාප්ත විය. කෝපි වගාවේ පිරිහීමත් සමග වගාකරුවන් බොහෝ දෙනෙක් තේ වගාවට යොමු වූ හෙයින් එම වගාව ශීඝ්‍රයෙන් පැතුරිණි. 1894 වර්ෂය පමණ වන විට මෙරට තේ වගා බිම් ප්‍රමාණය අක්කර ලක්ෂ 4ක් පමණ වීමෙන් එය පැහැදිලි වේ. දිවයිනේ වියළි කලාපය හැරුණු විට අඩි 6000 දක්වා උස ඕනෑ ම ප්‍රදේශයක තේ වගා කළ හැකි බැවින් මධ්‍යම, ඌව හා සබරගමු පළාත් තුළ එම වගාව පැතිරුණි. පසුව දකුණු හා බස්නාහිර පළාත්වලත් තේ වගා කෙරිණ. 1930 වර්ෂය පමණ වන විට මධ්‍යම හා විශාල ප්‍රමාණයේ තේ වතු 1200ක් පමණ මෙරට පැවති බව වාර්තා වේ.


තේ වගාව
ව්‍යාප්ත ප්‍රදේශ
තේ වගා කරන ප්‍රදේශ
තේ පර්යේෂණ ආයතනය
යාපනය
කිලිනොච්චිය
මුලතිව්
මන්නාරම
වව්නියාව
ත්‍රිකුණාමලය
අනුරාධපුරය
පුත්තලම
පොළොන්නරුව
මඩකලපුව
කුරුණෑගල
මාතලේ
මහනුවර
කෑගල්ල
අම්පාර
ගම්පහ
බදුල්ල
නුවරඑළිය
තලවාකැලේ
කොළඹ
මොණරාගල
කළුතර
රත්නපුර
හම්බන්තොට
ගාල්ල
මාතර
79°30'
80°00'
80°30'
81°00'
81°30'
82°00'
9°30'
9°00'
8°30'
8°00'
7°30'
7°00'
6°30'
6°00'

මෙසේ වගාවේ ව්‍යාප්තියත් සමඟ තේ මෙරට ප්‍රධාන අපනයන ද්‍රව්‍යයක් බවට පත් විය. පළමුවන ලෝක සංග්‍රාමයෙන් පසුව විශාල වශයෙන් තේ තොග වෙළෙඳපොළට පැමිණීමත් 1929 වසරේ ඇති වූ ලෝක ආර්ථික පරිහානියත් වැනි හේතු නිසා ඒ ඒ අවධිවල තේවලින් ලැබුණු ආදායම තාවකාලිකව අඩු වුවත් පසුව එය යථා තත්ත්වයට පත් විය.

තේ වගාවේ උන්නතියට බලපෑ හේතු කිහිපයක්:

- ලංකාවේ තේ සඳහා ලෝක වෙළඳපොළේ හොඳ ඉල්ලුමක් පැවතීම
- වියළි කලාපය හැර සෙසු ප්‍රදේශ බොහොමයක තේ වගාවට උචිත පරිසරයක් පැවතීම
- නවීන කර්මාන්තශාලා හා යන්ත්‍ර සූත්‍ර භාවිතයෙන් ගුණාත්මක භාවයෙන් ඉහළ තේ නිපදවීමට මෙරට සමත් වීම
- මාර්ග පහසුකම් දියුණු වීම නිසා ප්‍රවාහන පහසුකම් වැඩි දියුණු වීම.
- දකුණු ඉන්දියානු කම්කරුවන් ගෙන ඒම නිසා ලාබදායි ශ්‍රමය ලබා ගත හැකි වීම.

**පොල් වගාව**

පොල් යනු අතීත කාලයේ සිට මෙරට පැවති ගෙවතු වගාවකි. 1850 වර්ෂය පමණ වන විට කෝපි මිල පහළ යාම නිසා පොල් වගාව පිළිබඳ උනන්දුවක් ඇති විය. යුරෝපීයයන්ට වඩා ස්වදේශිකයන් පොල් වගාවට යොමු වීම කැපී පෙනෙන ලක්ෂණයකි. 1880 වර්ෂය පමණ වන විට පොල් වතු හිමියන්ගෙන් 65%ක් පමණ ලාංකිකයෝ වූහ.

පොල් වගාව ව්‍යාප්ත වූයේ ද කඳුකර ප්‍රදේශවලට වඩා විශාල තැනිතලා සහිත ප්‍රදේශවල ය. කුරුණෑගල, හලාවත හා ගම්පහ වැනි ප්‍රදේශ ඒ අතරින් කැපී පෙනේ. 1920 වන විට මෙරට විදේශ විනිමය ඉපැයීම්වලින් 27%ක් පමණ පොල් නිෂ්පාදනවලින් ලැබුණි. පොල් වගාව ව්‍යාප්ත වන විට ලුණුවිල පොල් පර්යේෂණාගාරයක් පිහිටුවා වගාව දියුණු කිරීමට කටයුතු කෙරිණ. මෙරට පොල් නිෂ්පාදනයෙන් අඩක් පමණ දේශීය පරිභෝජනයට යොදා ගත් හෙයින් එය වෙනත් වතු වගා මෙන් අපනයනය ඉලක්ක කර ගෙන සිදු කළ වගාවක් නො වන බව පෙනේ. කෝපි හා තේ වගාව නිසා කඳුකර ප්‍රදේශවල මහා මාර්ග හා දුම්රිය මාර්ග දියුණු වූ අයුරින් පොල් වගාව නිසා එකී වගාව පැවති ප්‍රදේශවල ද මාර්ග දියුණුවක් ඇති විය.


පොල් වගාව
පොල් වගා කරන ප්‍රදේශ
පොල් පර්යේෂණ ආයතනය
යාපනය
කිලිනොච්චිය
මුලතිව්
වව්නියාව
මන්නාරම
ත්‍රිකුණාමලය
අනුරාධපුරය
පොළොන්නරුව
පුත්තලම
මඩකලපුව
කුරුණෑගල
මාතලේ
ලුණුවිල
මහනුවර
කෑගල්ල
අම්පාර
ගම්පහ
නුවර එළිය
බදුල්ල
කොළඹ
මොණරාගල
කළුතර
රත්නපුර
ගාල්ල
හම්බන්තොට
මාතර
79°30'
80°00'
80°30'
81°00'
81°30'
82°00'
9°30'
9°00'
8°30'
8°00'
7°30'
7°00'
6°30'
6°00'

## රබර් වගාව



1877 වර්ෂය පමණ වන විට රබර් ගස මෙරටට හඳුන්වා දෙනු ලැබූවත් එම කාලයේ වැවිලිකරුවන් තේ වගාවට යොමු වීම නිසා රබර් වගාව වේගයෙන් ව්‍යාප්ත නො වී ය. 20 වන සියවස ආරම්භ වන විට මෝටර් රථ කර්මාන්තය දියුණු වී රබර් මිල ඉහළ යාමත් ශ්‍රී ලංකාවට ගැළපෙන රබර් වර්ග සොයා ගැනීම හා නිෂ්පාදන ශිල්ප ක්‍රම වැඩි දියුණු වීමත්, කෙටි කාලීනව තේ මිල පහළ යාමත් රබර් වගාව ව්‍යාප්ත වීමට හේතු වූ බව පෙනේ. මුල් කාලයේ දී කළුතර දිස්ත්‍රික්කයට සීමා වූ රබර් වගාව පසුව බස්නාහිර, සබරගමුව, දකුණ යන පළාත්වල හා මධ්‍යම පළාතේ ඇතැම් ප්‍රදේශවලත් පැතිරිණි. 1920 වර්ෂය පමණ වන විට මෙරට අපනයන ආදායමෙන් 30%ක් පමණ රබර් නිෂ්පාදනවලින් ලැබුණි. පසුව අගලවත්ත ප්‍රදේශයේ රබර් පර්යේෂණ ආයතනයක් පිහිටුවා රබර් වගාව දියුණු කිරීමට අවශ්‍ය පියවර ගැනිණි.

**ක්‍රියාකාරකම**

පහත ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

I. කෝල්බෲක් කොමිසමේ ආර්ථික ප්‍රතිසංස්කරණ තුනක් ලියන්න.

II. බ්‍රිතාන්‍යයන් විසින් මෙරටට හඳුන්වා දුන් වාණිජ භෝග හතරක් නම් කරන්න.

III. වතු වගාව මෙරට ව්‍යාප්ත කිරීම සඳහා ගනු ලැබූ පියවර දෙකක් පැහැදිලි කරන්න.

IV. වතු වගාව නිසා මෙරට ආර්ථිකයට සිදු වූ වාසි හා අවාසි දෙක බැගින් සඳහන් කරන්න



රබර් වගාව
ව්‍යාප්ත ප්‍රදේශ
රබර් වගා කරන ප්‍රදේශ
රබර් පර්යේෂණ ආයතනය
යාපනය
කිලිනොච්චිය
මුලතිව්
මන්නාරම
වව්නියාව
ත්‍රිකුණාමලය
අනුරාධපුරය
පුත්තලම
පොළොන්නරුව
මඩකලපුව
කුරුණෑගල
මාතලේ
මහනුවර
කෑගල්ල
අම්පාර
ගම්පහ
නුවර එළිය
කොළඹ
බදුල්ල
මොණරාගල
කළුතර
අගලවත්ත
රත්නපුර
ගාල්ල
හම්බන්තොට
මාතර
79°30'
80°00'
80°30'
81°00'
81°30'
82°00'
9°30'
9°00'
8°30'
8°00'
7°30'
7°00'
6°30'
6°00'

## 5.2 සමාජ වෙනස්වීම්

### මධ්‍යම පන්තියක් බිහිවීම

බ්‍රිතාන්‍ය පාලන කාලය තුළ මෙරට සිදු වූ සමාජ වෙනස්වීම් අතර පැරණි ප්‍රභූ පන්තිය අභාවයට ගොස් නව මධ්‍යම පන්තියක් බිහිවීම කැපී පෙනෙන ලක්ෂණයකි. පැරණි ප්‍රභූ පන්තිය යනු ආර්ථික තත්ත්වය, සමාජ තත්ත්වය හා දේශපාලන බලය අතින් සෙසු ජනතාවට වඩා විශේෂයෙන් කැපී පෙනුණු පිරිසකි. සැලකිය යුතු ඉඩම් හිමිකමක් තිබූ ඔවුහු ඉහළ ආදායමක් ලැබූ අතර පවත්නා පාලනයට පක්ෂපාතීව කටයුතු කිරීමෙන් රජයේ නිල තල දරූ පිරිසක් ද වූහ.



රජයේ දිසාපතිවරයෙක් හා උඩරට ප්‍රධානීන්

මේ තත්ත්වය නිසා සමාජමය වශයෙන් ඔවුහු සෙසු ජනතාවගේ ගෞරවයට හා සැලකිල්ලට ලක් වූහ. පාරම්පරික ප්‍රභූ පන්තිය ලෙස සැලකිය හැකි මෙම පිරිස රදළයන් වශයෙන් ද හඳුන්වනු ලැබේ.



නව මධ්‍යම පන්තිකයන් පිරිසක්

කෝල්බෲක් ප්‍රතිසංස්කරණ මගින් මෙරට ධනවාදී ආර්ථික ක්‍රමයකට පදනම සැකසුණු බැවින් සාම්ප්‍රදායික ධනෝපායන මාර්ග වෙනුවට ධනය උපයාගත හැකි අලුත් මාර්ග රැසක් විවෘත විය. වතු වගාව මුල් කරගෙන බිහි වූ මෙම ආර්ථික ක්‍රමය හමුවේ වතුකරයට අවශ්‍ය දේ සපයන කොන්ත්‍රාත්කරුවන් ලෙස කටයුතු කිරීම, අරක්කු නිෂ්පාදනය හා බෙදා හැරීම හෙවත් අරක්කු රේන්ද කටයුතු, මිනිරන් කර්මාන්තය, තොග හා සිල්ලර වෙළෙඳාම, ප්‍රවාහන කටයුතු හා පොල් වගාව ආදී ස්වදේශිකයන්ට ද ධනය ආයෝජනය කළ හැකි ව්‍යාපාර බිහි විය. මේ නිසා 20 වන සියවස ආරම්භ වන විට ඉහත ව්‍යාපාරවලට මුදල් යොදවා ධනය උපයාගත් ස්වදේශීය ධනවත්තු පිරිසක් බිහි වූහ. මෙම ධනවත් පන්තිය තම දූ දරුවන්ට මෙරට දී මෙන් ම විදේශයන්හි ද උසස් අධ්‍යාපනයක් ලබා දීමට ධනය වැය කළහ. බ්‍රිතාන්‍ය පාලන කාලයේ දී නීතිඥ, වෛද්‍ය, ඉංජිනේරු, මිනින්දෝරු, ලිපිකාර, සිවිල් සේවය වැනි අලුත් රැකියා අවස්ථා ජනිත වී තිබුණි. ඉංග්‍රීසි

අධ්‍යාපනය මගින් මෙබඳු රැකියාවන්ට ඇතුළු වී උසස් ජීවන තත්ත්වයක් මෙන් ම ඉහළ සමාජ පිළිගැනීමක් ද ලබා ගත හැකි විය. මේ නිසා එය මධ්‍යම පන්තියට ඇතුළු වීමේ තවත් දොරටුවක් බවට පත්ව තිබිණි.

බ්‍රිතාන්‍ය පාලන කාලයේ විවෘත වූ අලුත් ධනෝපායන මාර්ගවලින් මුදල් උපයාගත් ව්‍යාපාරික පිරිසක් මෙන් ම ඉංග්‍රීසි අධ්‍යාපනයෙන් රජයේ තනතුරු ලබාගත් උගත්තු පිරිසක් ද බිහි වූහ. මෙම පිරිස ආර්ථික තත්ත්වය අතින් සෙසු ජනතාව අතර වෙසෙසින් කැපී පෙනුණු කොටසක් බැවින් ඔවුන් මධ්‍යම පන්තිය වශයෙන් හඳුන්වනු ලැබේ. 20 වන සියවස ආරම්භ වන විට මේ මධ්‍යම පන්තිය බිහි වීමත් සමග පැරණි ප්‍රභූ පන්තිය අභාවයට ගියේ ය.

අලුතෙන් බිහි වූ මධ්‍යම පන්තියේ සිටි උගත්තු දේශපාලන වශයෙන් ද ක්‍රියාකාරී කොටසක් බවට පත් වූහ. 20 වන සියවසේ මෙරට දේශපාලන උද්ඝෝෂණවල පෙරමුණ ගන්නා ලද්දේ ඔවුන් විසිනි. උගත් මධ්‍යම පන්තිය වශයෙන් හඳුන්වන මෙම පිරිස බටහිර අධ්‍යාපනය තුළින් යම් සමාජ තත්ත්වයක් ලබා ගත් අය වේ. එබැවින් ඔවුහු බටහිර සංස්කෘතිය අනුගමනය කරන ධනවත් නගර වැසියන් පිරිසක් බවට පත් වූහ.

## කම්කරු පන්තියක් බිහි වීම

බ්‍රිතාන්‍ය පාලන සමය තුළ ඇති වූ ආර්ථික වෙනස්කම් නිසා මෙරට කම්කරු පන්තියක් බිහිවීම ද කැපී පෙනෙන ලක්ෂණයකි. මෙරට පැවති සාම්ප්‍රදායික පාලනය යටතේ රජයේ පොදු කටයුතු සඳහා අනිවාර්ය සේවා රාජකාරි ක්‍රමය අනුව ශ්‍රමය ලබා ගත් බැවින් වැටුපට වැඩ කරන පිරිසක් බිහි නො වුණි. එහෙත් බ්‍රිතාන්‍ය පාලන කාලයේ උඩරට ප්‍රදේශවල වතු වගාව ආරම්භ වූ හෙයින් වතුවල සේවය කිරීමට කම්කරුවන් අවශ්‍ය විය. මේ අවධිය වන විට ඉන්දියාව ද බ්‍රිතාන්‍ය යටත් විජිතයක්ව පැවති බැවින් ඉතා අවම වැටුපකට දකුණු ඉන්දියාවෙන් කම්කරුවන් ගෙන්වා ගැනීම වඩාත් ලාභදායි විය. එබැවින් වතු පාලකයන් විසින් දහස් ගණනින් දකුණු ඉන්දියානු කම්කරුවන් මෙරටට ගෙන්වන ලදි. මේ නිසා උඩරට ප්‍රදේශය ආශ්‍රිතව කම්කරු ජනතාවක් බිහි වීමට මග සැලසුණි.

අලුතෙන් ඇති වූ ආර්ථික වෙනස්කම් නිසා කොළඹ, ගාල්ල, මහනුවර වැනි නගර ආශ්‍රිතව බඩු බෑම, පැටවීම, රෙදි සේදීම, කරත්ත මගින් භාණ්ඩ ප්‍රවාහනය, මංමාවත් හා දුම්රිය මාර්ග තැනීම වැනි සේවා සඳහා ශ්‍රමිකයන් අවශ්‍ය විය. මේ නිසා ඉන්දියානු වතු කම්කරුවන්ට අමතරව නාගරික ප්‍රදේශ ආශ්‍රිතව ස්වදේශීය කම්කරු පිරිසක් ද බිහි විය.

මුල් කාලයේ දී කම්කරුවන්ට හිමි වූයේ ඉතා අවම වැටුපකි. වැඩ කරන පැය ගණන ද නිශ්චිත නො වී ය. කම්කරු රක්ෂණ, වන්දි ක්‍රම හෝ වෙනත් ශුභ සාධන කටයුතු ද නො තිබුණි. මේ නිසා නාගරික කම්කරුවෝ වෘත්තීය සංගම් පිහිටුවා ගනිමින් තම අයිතිවාසිකම් දිනා ගැනීමට සංවිධානය වන්නට වූහ. එසේ ම ඒ ඒ ක්ෂේත්‍රවල කම්කරුවන් අතර එකමුතුකමක් ගොඩනැගෙන්නට වූ හෙයින් තම තත්ත්වය දියුණු කර ගැනීමට

ඔවුහු වැඩවර්ජන කිරීමටත් පෙළඹුණහ. **මුද්‍රණ කම්කරු වැඩ වර්ජනය, කොළඹ රෙදි සෝදන්නන්ගේ වැඩ වර්ජනය, කරත්තකරුවන්ගේ වැඩ වර්ජනය** ආදිය 20 වන සියවස ආරම්භයේ ඇති වූ කම්කරු සටන්වලට උදාහරණ වේ.

20 වන සියවසේ තෙවන දශකය වන විට කම්කරුවෝ වඩා හොඳින් සංවිධානය වන්නට වූහ. ඒ. ඊ. ගුණසිංහ මහතා නාගරික කම්කරුවන් එසේ සංවිධානය කිරීමට වෙහෙසුණු අයෙකි. 1922 වර්ෂයේ සිට 1935 පමණ තෙක් හෙතෙම මෙරට කැපී පෙනෙන කම්කරු නායකයා විය. 1922 දී ගුණසිංහ මහතාගේ පුරෝගාමීත්වයෙන් ලංකා කම්කරු සංගමය පිහිටුවීම මෙරට වෘත්තීය සමිති ව්‍යාපාරයේ කැපී පෙනෙන අවස්ථාවකි. ඩොනමෝර් ආණ්ඩුක්‍රමය පැවති කාලයේ දී ලංකා සමසමාජ පක්ෂයේ නායකයෝ වෘත්තීය සංගම් පිහිටුවමින් කම්කරු අයිතිවාසිකම් දිනා ගැනීමේ සටන්වලට නායකත්වය දුන්හ. මේ කාලයේ දී මෙරට වතු කම්කරුවන් අතර ද වෘත්තීය සංගම් පිහිටුවීමට නායකත්වය සපයන ලද්දේ **නඩේස අයියර්** මහතා විසිනි.

**සංස්කෘතික වෙනස්වීම්**

බ්‍රිතාන්‍ය පාලන කාලය තුළ සමාජ වෙනස්වීම්වලට සමගාමීව මෙරට සංස්කෘතික ක්ෂේත්‍රයේ ද වෙනස්කම් රැසක් සිදු විය. බටහිර සංස්කෘතිය රට තුළ පැතිරයාම ඒ අතරින් කැපී පෙනේ. කෝල්බෘක් ප්‍රතිසංස්කරණවලින් පසුව ඉංග්‍රීසි භාෂා අධ්‍යයනය හා බටහිර අධ්‍යාපනය වේගයෙන් ව්‍යාප්ත විය. බොහෝ විට මිෂනාරි පාසල් හා රජයේ අනුග්‍රහය ලැබූ පාසල්වල විෂය නිර්දේශ සැකසුවේ හා ඉගැන්වීම් කටයුතුවල නිරත වූයේ ද විදේශිකයන් ය. මේ නිසා එබඳු පාසල් තුළින් ද බටහිර සංස්කෘතිය පැතිරයාමට මග සැලසිණි. අධ්‍යාපන කටයුතු සඳහා විදේශගත වූවන් මගින් ද බටහිර සංස්කෘතියේ ඇතැම් අංග මෙරට පැතිරිණි.

19 වන සියවස තුළ වතු වගා ව්‍යාප්තිය, වෙළෙඳාම දියුණු වීම, ගමනාගමන කටයුතු හා සන්නිවේදන කටයුතුවල ඇති වූ දියුණුව නිසා යුරෝපීයයෝ වැඩි වැඩියෙන් මෙරටට පැමිණියහ. මේ නිසා ඔවුන්ගේ සමාජ ශාලා, නිවාඩු නිකේතන ආදිය බිහි වූ අතර එබඳු හේතු ද බටහිර සංස්කෘතිය රට තුළ පැතිර යාමට ඉවහල් විය. මෙසේ විවිධ සාධකවල බලපෑම නිසා බටහිර ඇඳුම් පැලඳුම්, සිරිත් විරිත්, ආචාර සමාචාර විධි, බටහිර ගෘහ නිර්මාණ ශිල්පය, ආහාර පාන, මෙරට සංස්කෘතිය සමග මිශ්‍ර විය.

**ක්‍රියාකාරකම**

බ්‍රිතාන්‍ය පාලන සමයේ දී මෙරට සංස්කෘතියට එකතු වූ නව අංග පිළිබඳ ලැයිස්තුවක් සකස් කරන්න.

### 5.3 බ්‍රිතාන්‍ය පාලනය නිසා උරුම වූ ප්‍රයෝජනවත් අංග

ශ්‍රී ලංකාව බ්‍රිතාන්‍ය යටත් විජිතයක්ව පැවති කාලයේ දී මෙරට දේශපාලනය හා ආර්ථික කටයුතු මුළුමනින් ම හසුරුවන ලද්දේ අධිරාජ්‍යවාදීන්ට වාසි ලබා ගත හැකි වන ආකාරයෙනි. මේ නිසා වසර 133ක පමණ කාලයක් ලංකාව බ්‍රිතාන්‍යයන්ගේ සූරාකෑමට ලක් විය. එම කාලය තුළ මෙරටින් ඉපැයූ අතිවිශාල ධනස්කන්ධයක් බ්‍රිතාන්‍යයන් විසින් තම රටට ගෙන යන ලද අතර දිවයිනේ සම්පත් සියල්ල ද ඔවුන්ගේ අවශ්‍යතා ඉටු කර ගැනීම වෙනුවෙන් කැප කෙරිණි. එබඳු පසුබිමක් යටතේ වුව ද බ්‍රිතාන්‍ය පාලනය නිසා උරුම වූ යහපත් අංග කිහිපයක් පවතින බව ද සඳහන් කළ යුතු වේ. ඊට උදාහරණ කිහිපයක් පහත දැක්වේ.

- ❖ ජාත්‍යන්තර භාෂාවක් වන ඉංග්‍රීසි භාෂා දැනුම රට තුළ පැතිරීම
- ❖ ගමනාගමන කටයුතු හා සන්නිවේදන කටයුතු දියුණු වීම
- ❖ අපනයන වැවිලි භෝග හඳුන්වා දීම
- ❖ කාර්මික විප්ලවයේ බලපෑම මෙරටට ලැබීම
- ❖ පාර්ලිමේන්තු ආණ්ඩු ක්‍රමය

### 5.4 අහිතකර බලපෑම්

බ්‍රිතාන්‍ය පාලනය නිසා ප්‍රයෝජනවත් අංග කිහිපයක් මෙරටට උරුම වුවත් වසර 133ක පමණ කාලයක් නො කඩවා විදේශ අධිරාජ්‍යයක සූරා කෑමට ලක් වූ ජාතියක් වශයෙන් නිදහස දිනා ගන්නා විට රට තුළ ගැටලු රැසක් උද්ගතව තිබුණි. මෙම කාලය තුළ දේශීය ධනවතුන් සුළු පිරිසක් බිහි වූවත් නිදහස දිනා ගන්නා විට රටේ අතිබහුතර ජනතාව දුප්පතුන් බවට පත්ව තිබුණි. මෙසේ ආදායම බෙදී යාමේ ප්‍රබල විෂමතාවක් පැවති අතර මහ ජනතාවගේ පොදු සේවා හා ශුභ සාධන කටයුතු ඉහළ නැංවීමේ දැඩි අවශ්‍යතාවක් ද මතුව තිබිණි. අධිරාජ්‍යවාදී පාලනයකට යටත්ව තිබීම නිසා උරුම වූ තවත් අංග කිහිපයක් උදාහරණ වශයෙන් පහත දැක්වේ.

- ❖ බටහිර සංස්කෘතික අංග රට තුළ පැතිරීම හා සාම්ප්‍රදායික සංස්කෘතික ලක්ෂණවල යම් පිරිහීමක් ඇති වීම.
- ❖ මද්‍යසාර භාවිතය රට පුරා ව්‍යාප්ත වීම
- ❖ ඉඩම් අහිමි ජනතාවක් බිහි වීම
- ❖ සාම්ප්‍රදායික ස්වයංපෝෂිත අර්ථ ක්‍රමය බිඳ වැටීම හා දේශීය දැනුම බොහෝ සෙයින් අභාවයට යාම
- ❖ ගම් සභා වැනි ප්‍රයෝජනවත් ආයතන විනාශ වීම.

# 06 ශ්‍රී ලංකාවට නිදහස ලැබීම

## හැඳින්වීම

1948 වර්ෂයේ දී ශ්‍රී ලංකාවට නිදහස ලැබීම මෙරට ඉතිහාසයේ වැදගත් සංධිස්ථානයකි. ඒ සමඟ ම පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුක්‍රමයක් ලැබුණු බැවින් නියෝජිත ප්‍රජාතන්ත්‍රවාදය මගින් දේශපාලන කටයුතුවලට සම්බන්ධ වීමේ අවස්ථාව ලාංකිකයන්ට හිමි විය. 1972 හා 1978 යන වසරවල නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා හඳුන්වාදීම මගින් දේශපාලන ක්ෂේත්‍රයේ තවත් වෙනස්කම් රැසක් සිදු විය. නිදහසෙන් පසුව ගෙවුණු දශක කිහිපය තුළ මෙරට දේශපාලන ක්ෂේත්‍රයේ කැපී පෙනෙන ලක්ෂණ මෙන් ම ආර්ථික හා සමාජීය ක්ෂේත්‍රවල සිදු වූ වර්ධනයන් පිළිබඳව වැඩි දුර තොරතුරු ද මෙම පාඩමෙන් අවධානයට ලක් කෙරේ.

## 6.1 සෝල්බරි ප්‍රතිසංස්කරණ හා නිදහස ලැබීම

ශ්‍රී ලංකාවේ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ පිළිබඳ සොයා බලා අවශ්‍ය නිර්දේශ ඉදිරිපත් කිරීමට බ්‍රිතාන්‍ය ආණ්ඩුව විසින් පත් කරන ලද සෝල්බරි කොමිසමේ සාමාජිකයෝ 1944 දෙසැම්බර් මස දිවයිනට පැමිණියහ. 1945 වර්ෂයේ සැප්තැම්බර් මස සෝල්බරි කොමිසමේ වාර්තාව ප්‍රකාශයට පත් කෙරුණු අතර රටේ අභ්‍යන්තර කටයුතු පිළිබඳ පූර්ණ බලතල ලාංකිකයන්ට ලැබෙන ආණ්ඩුක්‍රමයක් එමගින් නිර්දේශ කර තිබුණි. එම වාර්තාවේ කරුණු ඇතුළත් ධවල පත්‍රිකාව මෙරට රාජ්‍ය මන්ත්‍රණ සභාව විසින් පිළිගනු ලැබීමෙන් පසු සෝල්බරි ආණ්ඩුක්‍රමය පිළිබඳ රාජාඥාව 1946 මැයි මාසයේ දී බ්‍රිතාන්‍ය විසින් නිකුත් කරන ලදි. සෝල්බරි ආණ්ඩුක්‍රමය යටතේ පැවැත්විය යුතු ප්‍රථම පාර්ලිමේන්තු මැතිවරණය 1947 වසර මැද පැවැත්වීමට නියමිතව තිබුණු නමුත් ලංකාවට නිදහස ලබා දීම ගැන එතෙක් බ්‍රිතාන්‍යයෝ කිසි දු ප්‍රකාශයක් සිදු නො කළහ. මේ නිසා නිදහස ලබා ගැනීමට ලාංකිකයන්ට ඇති අයිතිය පිළිබඳ ඩී. එස්. සේනානායක මහතා ඇතුළු මෙරට නායකයෝ බ්‍රිතාන්‍යයට තර්කානුකූලව කරුණු ඉදිරිපත් කළහ. ඒ අනුව මැතිවරණයට මාස දෙකකට පෙර විශේෂ ප්‍රකාශයක් කළ යටත් විජිත භාර ලේකම්වරයා බ්‍රිතාන්‍ය පොදු රාජ්‍ය මණ්ඩලය ඇතුළත නිදහස් රටක තත්ත්වය ලංකාවට ලබා දෙන බව නිවේදනය කළේ ය. මේ වන විට ඩී. එස්. සේනානායක මහතා විසින් එක්සත් ජාතික පක්ෂය පිහිටුවා තිබුණි. 1947 අගෝස්තු මස පැවති ප්‍රථම පාර්ලිමේන්තු මැතිවරණයේ ප්‍රතිඵලය පහත දැක්වේ.

1947 පාර්ලිමේන්තු මැතිවරණයේ ප්‍රතිඵල

| දේශපාලන පක්ෂය | ජයග්‍රහණය කළ ආසන සංඛ්‍යාව |
|---|---|
| එක්සත් ජාතික පක්ෂය | 42 |
| ලංකා සමසමාජ පක්ෂය | 10 |
| ද්‍රවිඩ සංගමය | 07 |
| ලංකා ඉන්දියානු සංගමය | 06 |
| බොල්ෂෙවික් ලෙනින් පක්ෂය | 05 |
| ලංකා කොමියුනිට්ස් පක්ෂය | 03 |
| කම්කරු පක්ෂය | 01 |
| ස්වාධීනව තරග කළ අපේක්ෂකයන් | 21 |
| එකතුව | 95 |

මෙම මැතිවරණයෙන් එක්සත් ජාතික පක්ෂය පාර්ලිමේන්තුවේ වැඩි ආසන සංඛ්‍යාවක් දිනා ගත් බැවින් ස්වාධීන අපේක්ෂකයන් රැසකගේ සහාය ලබා ගත් ඩී. එස්. සේනානායක මහතා ආණ්ඩුවක් පිහිටුවීමට කටයුතු කළේ ය. 1946 වර්ෂයේ සිට ම මෙරට අභ්‍යන්තර කටයුතු පිළිබඳ පාලන වගකීම ලාංකිකයන්ට පවරා දීමට බ්‍රිතාන්‍ය ආණ්ඩුව කැමති වුවත් විදේශ කටයුතු තවදුරටත් තමන් අත ම පවත්වා ගැනීමේ සූදනමක් ඔවුන්ට තිබුණි. දිවයිනේ භූගෝලීය පිහිටීම, ආරක්ෂක හා යුද්ධ කටයුතු අතින් වැදගත් වූ හෙයින් මෙරට සමග පැවති සබඳතා සම්පූර්ණයෙන් ම බිඳ දැමීමට බ්‍රිතාන්‍ය ආණ්ඩුව අකමැති වීම එයට හේතු විය. බ්‍රිතාන්‍යයේ මෙම අභිලාෂය තේරුම් ගත් නව අගමැති ඩී. එස්. සේනානායක මහතා, 1947 නොවැම්බර් මාසයේ දී බ්‍රිතාන්‍ය ආණ්ඩුව සමග ආරක්ෂක හා බාහිර කටයුතු පිළිබඳ ගිවිසුම් දෙකක් අත්සන් තැබීමට කටයුතු කළේ ය.

ආරක්ෂක ගිවිසුම අනුව අවශ්‍ය අවස්ථාවල දී බ්‍රිතාන්‍යයේ නාවික, ගුවන් හා සෙසු යුද්ධ කටයුතුවලට මෙරට භූමිය භාවිත කිරීමට ඉඩ ලබා දීමට එකඟ විය. බාහිර කටයුතු පිළිබඳ ගිවිසුම අනුව නිදහස් රටක් වශයෙන් ලංකාව ජාත්‍යන්තර සබඳතා අලුතෙන් ගොඩනගා ගැනීමේ දී බ්‍රිතාන්‍යයේ සහාය මෙරටට ලබාදීමට කැමැත්ත ප්‍රකාශ විය. අනතුරුව මෙරටට නිදහස ලබා දීම පිළිබඳ කරුණු ඇතුළත් ලංකා ස්වාධීනතා පනත බ්‍රිතාන්‍ය පාර්ලිමේන්තුව විසින් සම්මත කරන ලදි. එම පනත ක්‍රියාත්මක කිරීම පිළිබඳ විධිවිධාන ඇතුළත් ලංකා ස්වාධීනතා රාජාඥාව 1947 දෙසැම්බර් 19 දින නිකුත් කෙරුණි. 1948 වර්ෂයේ පෙබරවාරි 04 දින සිට එකී විධි විධාන ක්‍රියාත්මක වීමත් සමග ශ්‍රී ලංකාවට නැවත වරක් නිදහස ලැබුණි. ඒ අනුව ශ්‍රී ලංකාව වෙනුවෙන් නීති පැනවීමට හා මෙරට පාලන කටයුතු ගෙන යාමට බ්‍රිතාන්‍ය ආණ්ඩුවට තිබූ බලය අවසන් වී එම බලතල ලංකා ආණ්ඩුවට ලැබුණි. 1948 වර්ෂයේ පෙබරවාරි 10 දින නව පාර්ලිමේන්තුව උත්සවාකාරයෙන් විවෘත කෙරුණු අතර අගමැති ඩී. එස්. සේනානායක මහතා විසින් ඉංග්‍රීසි ධජය පහත හෙළා යළි සිංහ ධජය ඔසවන ලදි. මේ අනුව පෙබරවාරි 04 දින, ශ්‍රී ලංකාවේ නිදහස් දිනය බවට පත් විය.

## සෝල්බරි ආණ්ඩුක්‍රමය

1931 වර්ෂයේ සිට 1947 දක්වා පැවති ඩොනමෝර් ආණ්ඩුක්‍රමයෙන් පසුව සෝල්බරි ආණුඩුක්‍රමය ක්‍රියාත්මක විය. 1972 ජනරජ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව දක්වා එය පැවතුණි. සෝල්බරි ආණ්ඩුක්‍රමය යටතේ රජයේ කටයුතු ගෙන යාම සඳහා අග්‍රාණ්ඩුකාර ධුරය, අගමැති ප්‍රධාන කැබිනට් මණ්ඩලය, පාර්ලිමේන්තුව හා අධිකරණය වශයෙන් ආයතන හතරක් හඳුන්වා දී තිබේ.

## අග්‍රාණ්ඩුකාරවරයා

එතෙක් පැවති ආණ්ඩුකාර තනතුර අහෝසි කොට එංගලන්ත කිරීටය නියෝජනය වීම පිණිස අග්‍රාණ්ඩුකාර තනතුර ස්ථාපනය කෙරිණ. නව ආණ්ඩුක්‍රමය යටතේ වුව ද බ්‍රිතාන්‍ය රැජින තව දුරටත් ලංකාවේ නායිකාව වශයෙන් පිළිගත් බැවින් රැජිනගේ මෙරට නියෝජිතයා වශයෙන් ආග්‍රාණ්ඩුකාරවරයා කටයුතු කළේ ය. අග්‍රාණ්ඩුකාර තනතුර මුළුමනින් ම නාමමාත්‍ර විධායක තනතුරක් වූ අතර ඔහු සිය කටයුතු මෙහෙයවීමේ දී හැම විට ම අගමැතිගේ උපදෙස් පරිදි ක්‍රියා කළ යුතු විය.

## පාර්ලිමේන්තුව

සෝල්බරි ආණ්ඩුක්‍රමය අනුව ව්‍යවස්ථාදයක කටයුතු සඳහා මහජන මන්ත්‍රී මණ්ඩලය හා සෙනෙට් සභාවකින් යුතු ද්විමණ්ඩල පාර්ලිමේන්තුවක් පිහිටුවනු ලැබිණි. මහජන මන්ත්‍රී මණ්ඩලය හෙවත් නියෝජිත මන්ත්‍රී මණ්ඩලය 101 දෙනෙකුගෙන් සමන්විත විය. එම පිරිසෙන් 95 දෙනෙකු ඡන්ද කොට්ඨාස පදනම අනුව මහජන ඡන්දයෙන් තෝරා ගත් අතර නියෝජනය නොවූ සුළු ජාතීන් වෙනුවෙන් අගමැතිගේ උපදෙස් පිට ආග්‍රාණ්ඩුකාරවරයා විසින් ඉතිරි 6 දෙනා පත් කරන ලදි. පාර්ලිමේන්තුවේ නිල කාලය වසර 5ක් විය.

සෙනෙට් සභාව වශයෙන් හැඳින්වූ උත්තර මන්ත්‍රී මණ්ඩලය හෙවත් දෙවන මන්ත්‍රී මණ්ඩලයට සාමාජිකයෝ 30 දෙනෙක් අයත් වූහ. නියෝජිත මන්ත්‍රී මණ්ඩලය විසින් 15 දෙනෙකු පත් කරන ලද අතර අගමැතිගේ උපදෙස් පරිදි අග්‍රාණ්ඩුකාරවරයා විසින් ඉතිරි 15 දෙනා පත් කරන ලදි.

## අගමැති ප්‍රධාන කැබිනට් මණ්ඩලය

අගමැතිවරයා කැබිනට් මණ්ඩලයේ ප්‍රධානියා විය. නියෝජිත මන්ත්‍රී මණ්ඩලයේ මන්ත්‍රීන්ගේ බහුතර සහයෝගය ලැබෙන තැනැත්තා අග්‍රාණ්ඩුකාරවරයා විසින් අගමැති තනතුරට පත් කරන ලදි. මෙම ආණ්ඩුක්‍රමය යටතේ විධායක කටයුතු කැබිනට් මණ්ඩලයට පැවරිණි. ආරක්ෂක හා විදේශ කටයුතු, අගමැතිවරයා යටතේ පැවතිය යුතු විය. ඇමති මණ්ඩලය පත් කිරීම අගමැතිගේ උපදෙස් පරිදි අග්‍රාණ්ඩුකාරවරයා විසින් සිදු කරන ලදි.

අධිකරණ ඇමති තනතුර සහ තවත් එක් ඇමති තනතුරක් වත් සෙනෙට් සභා සාමාජිකයන්ගෙන් පත් කළ යුතුව තිබිණ. එංගලන්ත පාර්ලිමේන්තු සම්ප්‍රදය අනුව කැබිනට් මණ්ඩලය සාමූහිකව පාර්ලිමේන්තුවට වගකීමට බැඳී සිටියේ ය.

## අධිකරණ කටයුතු

සෝල්බරි ආණ්ඩුක්‍රමය අනුව ශ්‍රේෂ්ඨාධිකරණය ඇතුළු අධිකරණ පද්ධතියක් මගින් අධිකරණ කටයුතු පැවැත්විය යුතු විය. අග්‍රාණ්ඩුකාරවරයා විසින් අග්‍ර විනිශ්චයකාරවරයා ඇතුළු ශ්‍රේෂ්ඨාධිකරණ විනිශ්චයකරුවන් පත් කරන ලදි. අග්‍ර විනිශ්චයකාරවරයා ප්‍රමුඛ අධිකරණ සේවා කොමිසම මගින් අධිකරණයට සම්බන්ධ විනිශ්චයකරුවන්ගේ පාලන කටයුතු මෙහෙයවිය යුතු විය.

## ශ්‍රී ලංකාවේ දේශපාලන පක්ෂ ක්‍රමය

දේශපාලන පක්ෂ ක්‍රමය යනු පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදය පවතින සෑම රටක ම දැකිය හැකි අනිවාර්ය ලක්ෂණයකි. එංගලන්තය, ඇමරිකාව වැනි රටවල මුල් කාලයේ දැකිය හැකි වූයේ ප්‍රධාන පක්ෂ දෙකක් පමණි. එසේ ප්‍රබල දේශපාලන පක්ෂ දෙකක් පැවතීම ද්විපක්ෂ ක්‍රමය ලෙස හැඳින්වේ. ප්‍රංශය, ජර්මනිය වැනි යුරෝපා රටවල මෙන් ම ඉන්දියාව, ශ්‍රී ලංකාව වැනි ආසියාතික රටවල දේශපාලන පක්ෂ රැසක් දක්නට ලැබේ. එසේ පක්ෂ රාශියක් පැවතීම බහු පක්ෂ ක්‍රමය ලෙස හැඳින්වේ.

දේශපාලන පක්ෂ ක්‍රමය නිසා ඒ ඒ පක්ෂයේ ප්‍රතිපත්ති මත ජනතාව සංවිධානය කිරීම හා පක්ෂයේ මතය ජනතාව අතරට ගෙනයාම පහසු වී ඇත. එසේ ම පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදය මහජන නියෝජිතයන් මගින් ගෙන යන පාලනයක් බැවින් දේශපාලනඥයන් හා ඡන්ද දායකයන් අතර සබඳතාව ගොඩනැගීමට ද පක්ෂ ක්‍රමය අවශ්‍ය වේ. ශ්‍රී ලංකාවේ දේශපාලන පක්ෂ පිහිටුවීම ආරම්භ වූයේ බ්‍රිතාන්‍ය පාලන සමයේ දී ය. 1931 වර්ෂයේ දී මෙරටට සර්වජන ඡන්ද බලය ලැබුණු නමුත් 1947 වන තෙක් ම මැතිවරණවල දී පක්ෂ ක්‍රමය සැලකිල්ලට නො ගැනුණි. මෙරට මැතිවරණයක දී මුල්වරට පක්ෂ ක්‍රමය භාවිත වූයේ 1947 පාර්ලිමේන්තු මැතිවරණයක දී ය. එම මැතිවරණය වන විට ලංකා සමසමාජ පක්ෂය, එක්සත් ජාතික පක්ෂය, ලංකා කොමියුනිට්ස් පක්ෂය, ද්‍රවිඩ සංගමය වැනි පක්ෂ රැසක් බිහිව තිබුණි.

## ලංකා සමසමාජ පක්ෂය

ලංකා සමසමාජ පක්ෂය යනු මෙරට වඩාත් පැරණි ම දේශපාලන පක්ෂයක් ලෙස සැලකිය හැකි ය. බ්‍රිතාන්‍ය පාලන සමයේ දී අධ්‍යාපන කටයුතු සඳහා විදේශ ගත වූ ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා, ආචාර්ය කොල්වින් ආර්. ද සිල්වා, පිලිප් ගුණවර්ධන වැනි නායකයෝ විදේශවල දී වාමාංශික දේශපාලනයේ ආභාසය ලබා එම අදහස් මෙරටට ගැළපෙන සේ ක්‍රියාත්මක කිරීම සඳහා 1935 වර්ෂයේ දී ලංකා සමසමාජ පක්ෂය පිහිටුවා ගත්හ. වාමාංශික දේශපාලන මතවාද අනුව ශ්‍රී ලංකාව තුළ සමාජවාදී සමාජයක් නිර්මාණය

කිරීම සඳහා අවශ්‍ය දේශපාලන කටයුතු මෙහෙයවීම සමසමාජ පක්ෂය පිහිටුවීමේ මූලික අරමුණක් විය. පසුව එම පක්ෂයෙන් කැඩී ගිය පිරිසක් විසින් දෙස්තර එස්. ඒ. වික්‍රමසිංහ මහතාගේ ප්‍රධානත්වයෙන් 1943 වර්ෂයේ දී ලංකා කොමියුනිස්ට් පක්ෂය පිහිටුවන ලදි.

### එක්සත් ජාතික පක්ෂය

1946 වර්ෂය වන විට වාමාංශික දේශපාලන පක්ෂ කිහිපයක් හා සුළු ජන පක්ෂ කිහිපයක් බිහිව තිබුණත් මෙරට මධ්‍යස්ථ දේශපාලනඥයන් සඳහා පක්ෂයක් බිහිව නො තිබුණි. 1947 දී ප්‍රථම පාර්ලිමේන්තු මැතිවරණය ද පැවැත්වීමට නියමිතව තිබූ බැවින් ඩී. එස්. සේනානායක මහතාගේ නායකත්වයෙන් 1946 වර්ෂයේ දී එක්සත් ජාතික පක්ෂය පිහිටුවී ය. එවකට පැවති ලංකා ජාතික සංගමය හා එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක මහතා පිහිටුවා තිබූ සිංහල මහා සභාවේ සාමාජිකයෝ රැසක් එක්සත් ජාතික පක්ෂයට එකතු වූහ. මේ නිසා එම පක්ෂය ආරම්භයේ සිට ම ශක්තිමත් දේශපාලන පක්ෂයක් බවට පත්ව තිබුණි. 1947 මැතිවරණයට අපේක්ෂකයන් 95 දෙනෙක් ඉදිරිපත් කොට ආසන 42ක් ජය ගැනීමට එම පක්ෂය සමත් විය. අනතුරුව 1952 දී පැවති දෙවන පාර්ලිමේන්තු මැතිවරණයේ දී ද ආසන 54ක් දිනා ආණ්ඩු බලය ලබා ගැනීමට එම පක්ෂයට හැකියාව ලැබුණි.

### ශ්‍රී ලංකා නිදහස් පක්ෂය

එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක මහතා එක්සත් ජාතික පක්ෂයෙන් ඉවත්ව 1951 දී ශ්‍රී ලංකා නිදහස් පක්ෂය පිහිටුවී ය. එක්සත් ජාතික පක්ෂයට වඩා සාමාන්‍ය ජනතාවගේ අවශ්‍යතා ගැන සැලකිල්ලක් දැක්වූ මෙම පක්ෂයට ස්වභාෂා උගතුන්, භික්ෂූන් වහන්සේලා හා දේශීයත්වය අගය කළ පිරිස්වල සහාය ලැබුණි. 1952 මැතිවරණයට ඉදිරිපත්ව පාර්ලිමේන්තු ආසන 9ක් දිනාගත් එම පක්ෂය තවත් දේශපාලන කණ්ඩායම් රැසක් එකතු කරගෙන මහජන එක්සත් පෙරමුණ නමින් 1956 මැතිවරණයට ඉදිරිපත් වී ආසන 51ක් දිනා ආණ්ඩුවක් පිහිටුවීමට සමත් විය. ඒ අනුව 1956 සිට 1959 දක්වා බණ්ඩාරනායක මහතා මෙරට අගමැතිවරයා වශයෙන් කටයුතු කළේ ය. 1959 වර්ෂයේ දී බණ්ඩාරනායක මහතා ඝාතනය වීමෙන් පසුව එතුමාගේ බිරිඳ සිරිමාවෝ බණ්ඩාරනායක මැතිණිය පක්ෂ නායිකාව බවට පත් වූවා ය.

### වෙනත් දේශපාලන පක්ෂ

රට පුරා ම මැතිවරණවලට අපේක්ෂකයන් ඉදිරිපත් කළ ඉහත සඳහන් පක්ෂ හැරුණු විට නිදහසට පෙර අවධියේ දී පවා තවත් සුළු පක්ෂ කිහිපයක් පිහිටුවා තිබුණි. ඒ. ඊ. ගුණසිංහ මහතා පිහිටුවා තිබූ කම්කරු පක්ෂය, ජී. ජී. පොන්නම්බලම් මහතා පිහිටුවා තිබූ ද්‍රවිඩ සංගමය එබඳු පක්ෂවලට උදාහරණ වේ. මේ අතරින් 1956 මැතිවරණය දක්වා ද්‍රවිඩ සංගමය ඒ අතර කැපී පෙනෙන පක්ෂයක් විය. මෙරට දෙමළ ජනතාවගේ අයිතිවාසිකම් පිළිබඳ දැඩි උනන්දුවක් දැක්වූ එම පක්ෂයට 1947 මැතිවරණයෙන් ආසන

07ක් ලැබුණි. 1949 වර්ෂයේ දී එස්. ජේ. වී චෙල්වනායගම් මහතා පෙඩරල් පක්ෂය පිහිටුවීමත් සමඟ ද්‍රවිඩ සංගමයට ලැබුණු ජනතා සහාය අඩු වූ බව පෙනේ.

ලංකාවේ පවතින දේශපාලන පක්ෂ ක්‍රමය අනුව එක්සත් ජාතික පක්ෂය හා ශ්‍රී ලංකා නිදහස් පක්ෂය නැමති ප්‍රධාන පක්ෂ දෙකට අමතරව තවත් සුළු පක්ෂ රැසක් පවතින බැවින් පාර්ලිමේන්තු මැතිවරණවල දී එක් පක්ෂයකට හෝ බහුතර ආසන සංඛ්‍යාවක් දිනා ගත නො හැකි අවස්ථාවන් තිබේ. මේ නිසා පක්ෂ කිහිපයක් එකතු වී සංධාන බිහි කර ගැනීම හා එමගින් සභාග ආණ්ඩු පිහිටුවීම කැපී පෙනෙන ලක්ෂණයකි.

## 1956 මැතිවරණ හා සමාජ පෙරළිය

නිදහසෙන් පසුව අඛණ්ඩව බලයේ සිටි එක්සත් ජාතික පක්ෂය පරදවා 1956 වර්ෂයේ දී එස්. ඩබ්ලිව්. ආර්. ඩී බණ්ඩාරනායක මහතා යටතේ අලුත් ආණ්ඩුවක් බලයට පත් විය. නව බලවේග රැසක් බණ්ඩාරනායක මහතා වටා ඒකරාශී වී තිබීමත් දේශීය භාෂාව ආගම හා සංස්කෘතිය අගය කළ ප්‍රතිපත්තියක් අනුගමනය කිරීමත් එතෙක් නො විසඳුන සමාජ ආර්ථික ගැටලු රැසකට විසඳුම් දීමට ප්‍රයත්න දැරීමත් වැනි හේතු නිසා එම රජය යටතේ සමාජ පෙරළියක් සිදු විණැයි මතයක් තිබේ.

1947 මැතිවරණයෙන් බලයට පත් අගමැති ඩී. එස්. සේනානායක මහතා 1952 මාර්තු මාසයේ මිය ගිය හෙයින් ඔහුගේ පුත් ඩඩ්ලි සේනානායක මහතා අගමැති තනතුරට පත් විය. 1952 මැතිවරණයෙන් නැවත වරක් එක්සත් ජාතික පක්ෂය පාර්ලිමේන්තුවේ වැඩි ආසන සංඛ්‍යාවක් දිනා ගත් හෙයින් ඩඩ්ලි සේනානායක මහතා යළිත් අගමැති තනතුරට පත් විය. එහෙත් සහල් හා ආහාර ද්‍රව්‍යවල මිල ඉහළ යාම හේතුවෙන් 1953 අගෝස්තු මාසයේ දී වාමාංශික පක්ෂ විසින් මෙහෙයවන ලද හර්තාල් ව්‍යාපාරයක් නිසා ඩඩ්ලි සේනානායක මහතා අගමැති තනතුරෙන් ඉල්ලා අස් විය. මෙම අවස්ථාවේ දී එක්සත් ජාතික පක්ෂයේ ජ්‍යෙෂ්ඨ සාමාජිකයෙකු වූ ජෝන් කොතලාවල මහතා අගමැති තනතුරට පත් විය. නියමිත පාර්ලිමේන්තු මැතිවරණය 1957 මැයි මාසයේ දී පැවැත්විය යුතු වුවත් අගමැති ජෝන් කොතලාවල මහතාගේ උපදෙස් පරිදි අග්‍රාණ්ඩුකාරවරයා විසින් 1956 පෙබරවාරි මාසයේ දී පාර්ලිමේන්තුව විසුරුවා හරින ලදි. මේ නිසා මැතිවරණයකට අවස්ථාව උදා විය.

1956 මැතිවරණයේ දී එක්සත් ජාතික පක්ෂය තනි පක්ෂයක් වශයෙන් තරග කළ අතර ශ්‍රී ලංකා නිදහස් පක්ෂය තවත් පක්ෂ කිහිපයක් සමග එකතු වී මහජන එක්සත් පෙරමුණ වශයෙන් තරග කළේ ය. ඒ අනුව ශ්‍රී ලංකා නිදහස් පක්ෂය, පිලිප් ගුණවර්ධන මහතා නායකත්වය දැරූ විප්ලවකාරී සමසමාජ පක්ෂය, විජයානන්ද දහනායක මහතා පිහිටුවා තිබූ භාෂා පෙරමුණ හා අයි. එම්. ආර්. ඒ. ඊරියගොල්ල මහතා ඇතුළු ස්වාධීන අපේක්ෂකයන් පිරිසක් වශයෙන් පක්ෂ කිහිපයක් හා ස්වාධීන පුද්ගලයන් එකතු වී මහජන එක්සත් පෙරමුණ පිහිටුවාගෙන තිබුණි. මහජන එක්සත් පෙරමුණ ලංකා සමසමාජ පක්ෂය සමග නිතරග ගිවිසුමක් ඇති කරගෙන තිබීම එම පක්ෂ දෙකට ම වාසියක් විය.

1956 මැතිවරණ වේදිකාවේ ප්‍රධාන මාතෘකාවක් බවට පත් වූයේ සිංහල භාෂාව රාජ්‍ය භාෂාව කිරීමේ ප්‍රතිපත්තිය යි. නිදහසෙන් පසුව වුව ද ඉංග්‍රීසි භාෂාවට විශේෂ තැනක් ලැබීම නිසා ස්වභාෂා උගත්තු බොහෝ ගැටලුවලට මුහුණ දුන්හ. මේ නිසා මහජන එක්සත් පෙරමුණ වටා එකතු වූ බලවේග මැතිවරණයට පෙර සිට ම සිංහල රාජ්‍ය භාෂාව විය යුතු යැයි ප්‍රතිපත්තියක් වශයෙන් පිළිගෙන තිබුණි. එක්සත් ජාතික පක්ෂය ද මැතිවරණය ආසන්නයේ දී එම ප්‍රතිපත්තියට එකඟ විය.

මැතිවරණයේ දී සඟ, වෙද, ගුරු, ගොවි, කම්කරු යන පංචමහා බලවේගවල වැඩි සහාය මහජන එක්සත් පෙරමුණට ලැබීමත් පක්ෂ කිහිපයක් එකතු වී පෙරමුණක් වශයෙන් තරග කිරීමත් වාමාංශික පක්ෂ සමග නිතරග ගිවිසුමක් ඇති කරගෙන තිබීමත් වැනි හේතු නිසා මහජන එක්සත් පෙරමුණට පහසු ජයග්‍රහණයක් ලැබුණි. ඉහත සඳහන් කළ පරිදි එම පෙරමුණට ආසන 51ක් ලැබුණු අතර ලංකා සමසමාජ පක්ෂයට ආසන 14ක් හිමි විය. මෙහි දී එක්සත් ජාතික පක්ෂයට ලබා ගත හැකි වූයේ පාර්ලිමේන්තු ආසන 08ක් පමණි. පෙඩරල් පක්ෂය ආසන 10කින් ජය ගැනීමට සමත් විය.

මහජන එක්සත් පෙරමුණේ ජයග්‍රහණයත් සමග එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක මහතා අගමැති තනතුරට පත් විය. එතුමා අගමැති ධුරය දැරූ කාලය මෙරට ඉතිහාසයේ කැපී පෙනෙන අවධියකි. එම කාලයේ දී අනුගමනය කළ ප්‍රතිපත්ති හා හඳුන්වා දුන් ප්‍රතිසංස්කරණ කිහිපයක් පහත දැක්වේ.



රූපය 6.2 බණ්ඩාරනායක මහතාගේ කැබිනට් මණ්ඩලය

- සිංහල භාෂාව රාජ්‍ය භාෂාව බවට පත් කිරීම
- බ්‍රිතාන්‍යය සමඟ 1947 අත්සන් කොට තිබූ ආරක්ෂක හා බාහිර කටයුතු පිළිබඳ ගිවිසුම් අහෝසි කිරීම
- ලෝකයේ බල කඳවුරුවලට නො බැඳුණු මධ්‍යස්ථ විදේශ ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම
- වරාය හා බස් ජනසතු කිරීම ප්‍රමුඛ ජනසතු ව්‍යාපාර
- දේශීය කර්මාන්ත හා කෘෂිකර්මය දියුණු කිරීමට කටයුතු කිරීම
- උසස් අධ්‍යාපනයේ උන්නතිය සඳහා විද්‍යෝදය හා විද්‍යාලංකාර පිරිවෙන් විශ්වවිද්‍යාල බවට පත් කිරීම

බණ්ඩාරනායක මහතා ක්‍රියාත්මක කළ මැතිවරණ ව්‍යාපාරය නිසා මෙරට සාමාන්‍ය ජනතාව අතරින් බිහි වූ නායකයන් රැසකට මැතිවරණයෙන් ජයග්‍රහණය කොට පාර්ලිමේන්තුවට පිවිසීමට අවස්ථාව ලැබුණි. එසේ ම එතුමාගේ පාලන කාලයේ දී දේශීයත්වය අගය කළ ප්‍රතිපත්තියක් ක්‍රියාත්මක කිරීමත් එතෙක් නො විසඳුණු පොදු ජන ගැටලු කෙරෙහි අවධානය යොමු කිරීමත් කැපී පෙනෙන ලක්ෂණයකි.

## 1972 වර්ෂයේ දී ශ්‍රී ලංකාව ජනරජයක් බවට පත් වීම

1948 වර්ෂයේ සිට 1972 දක්වා වූ කාලයේ දී සෝල්බරි ආණ්ඩුක්‍රමය මෙරට ක්‍රියාත්මක විය. එම ආණ්ඩුක්‍රමය යටතේ බ්‍රිතාන්‍ය රැජින නාමිකව මෙරට රාජ්‍ය නායකයා වීමත් නීති පැනවීමේ දී පාර්ලිමේන්තුව අනුගමනය කළ යුතු යම් යම් සීමාවන් දක්වා තිබීමත් වැනි හේතු නිසා මෙරට ලැබූ නිදහස අංග සම්පූර්ණ වී නො තිබුණි. මේ නිසා සෝල්බරි ආණ්ඩුක්‍රමය ක්‍රියාත්මක වූ අවධියේ සිට ම එම ආණ්ඩුක්‍රමය වෙනස් කොට නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් සම්පාදනය කළ යුතු යැයි අදහස් මතු වෙමින් තිබුණි. එහෙත් මේ පිළිබඳ ඵලදායි ක්‍රියාමාර්ගයක් ආරම්භ වූයේ 1970 මැතිවරණයත් සමගිනි.

1970 මැතිවරණයට මුහුණ දීමට ශ්‍රී ලංකා නිදහස් පක්ෂය, ලංකා සමසමාජ පක්ෂය හා ලංකා කොමියුනිස්ට් පක්ෂය එක්ව සමගි පෙරමුණක් පිහිටුවාගෙන තිබුණි. එම පක්ෂ නිතරග ගිවිසුමක් යටතේ සමගි පෙරමුණක් වශයෙන් මැතිවරණයට ඉදිරිපත් විය. මැතිවරණයෙන් තේරී පත් වන මන්ත්‍රීවරුන්ට ව්‍යවස්ථා සම්පාදක මණ්ඩලයක් වශයෙන් රැස්ව නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් සම්පාදනය කිරීමට සමගි පෙරමුණ නිකුත් කළ මැතිවරණ ප්‍රකාශනයෙන් ජන වරමක් ඉල්ලා තිබුණි. මෙම මැතිවරණයෙන් පාර්ලිමේන්තුවේ බහුතර ආසන සංඛ්‍යාවක් දිනා ගත් සමගි පෙරමුණ නව ආණ්ඩුවක් පිහිටුවීය. ඒ අනුව සිරිමාවෝ බණ්ඩාරනායක මැතිණිය අගමැති තනතුරට පත් වූවා ය. ඉහත කී ජන වරම අනුව කටයුතු කළ එම ආණ්ඩුව විසින් 1972 මැයි 22 දින නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් හඳුන්වා දෙන ලදි. එය 1972 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව වශයෙන් හැඳින්වේ.

### 1972 ආණ්ඩුක්‍රම ව්‍යස්ථාවේ මූලික ලක්ෂණ කිහිපයක්

- ❖ එතෙක් ලංකාව යනුවෙන් හැඳින්වූ මෙරට ශ්‍රී ලංකාව යන නාමයෙන් හැඳින්වීම
- ❖ බ්‍රිතාන්‍ය අධිරාජ්‍ය සමග පැවති ව්‍යවස්ථානුකූල බැඳීම් අවසන් කිරීම
- ❖ ශ්‍රී ලංකාව ඒකීය ජනරජයක් බව පිළිගැනීම
- ❖ ජනතාවගේ මූලික මිනිස් අයිතිවාසිකම් සුරක්ෂිත කිරීම

### මූලික අයිතිවාසිකම්

1972 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 18 වන වගන්තියේ මූලික මිනිස් අයිතිවාසිකම් හා නන් වැදෑරුම් නිදහස ගැන සඳහන් වේ. එහි සඳහන් කරුණු කිහිපයක් පහත දැක්වේ.

- ❖ නීතිය පසිඳලීම, ක්‍රියාත්මක කිරීම හා නීතියේ රැකවරණය සර්ව සාධාරණ විය යුතු ය.
- ❖ නීතියට අනුකූලව මිස පුද්ගලයෙකුගේ ප්‍රාණයට, නිදහසට හෝ සුරක්ෂිතභාවයට හානි නො කළ යුතු ය.
- ❖ සෑම පුරවැසියෙකුට ම සිතීමේ නිදහසට, හෘද සාක්ෂ්‍යයේ නිදහසට හා ආගමික නිදහසට අයිතිය තිබේ.
- ❖ පුරවැසියන්ට සාමකාමීව රැස්වීමට හා අදහස් ප්‍රකාශ කිරීමට නිදහස තිබේ.

මෙසේ මූලික මිනිස් අයිතිවාසිකම් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවෙන් ම පිළිගැනීම වැදගත් කරුණකි.

### ජනාධිපති තනතුර

සෝල්බරි ව්‍යවස්ථාව යටතේ පැවති අග්‍රාණ්ඩුකාර තනතුර වෙනුවට නව ව්‍යවස්ථාවෙන් නාමික විධායක ජනාධිපති තනතුර හඳුන්වා දුන්නේ ය. ජනාධිපතිවරයා පත් කිරීමේ බලය අගමැතිවරයාට හිමි විය. එතෙක් පැවති ආණ්ඩුක්‍රමය යටතේ අග්‍රාණ්ඩුකාරවරයාට හිමි වූ බලතල නව ව්‍යවස්ථාවෙන් ජනාධිපතිවරයාට ලැබුණි. එවකට අග්‍රාණ්ඩුකාරවරයා වශයෙන් කටයුතු කළ විලියම් ගොපල්ලව මහතා මෙරට ප්‍රථම නාමික විධායක ජනාධිපති තනතුරට පත් කෙරිණ.



රූපය 6.3 ශ්‍රී ලංකාවේ ප්‍රථම නාමික විධායක ජනාධිපති විලියම් ගොපල්ලව

**ජාතික රාජ්‍ය සභාව**

1972ට පෙර පාර්ලිමේන්තුව යනුවෙන් හැඳින්වූ ව්‍යවස්ථාදයක සභාව වෙනුවට නව ව්‍යවස්ථාවෙන් ජාතික රාජ්‍ය සභාව ස්ථාපිත කෙරිණි. ජාතික රාජ්‍ය සභාව මහජන ඡන්දයෙන් පත් වූ නියෝජිතයන්ගෙන් සමන්විත විය. ජනතාව සතු ව්‍යස්ථාදයක බලය මෙම සභාව මගින් ක්‍රියාත්මක කෙරිණි. ශ්‍රී ලංකාව සඳහා නීති සම්පාදනය කිරීමේ පූර්ණ බලය ජාතික රාජ්‍ය සභාව සතු විය. ජාතික රාජ්‍ය සභාවේ නිල කාලය වසර 6කි.

**අගමැති සහ අමාත්‍ය මණ්ඩලය**

මෙම ව්‍යවස්ථාව යටතේ විධායක බලය ක්‍රියාත්මක කිරීම අමාත්‍ය මණ්ඩලය හෙවත් කැබිනට් මණ්ඩලය වෙත පැවරිණ. අමාත්‍ය මණ්ඩලයේ ප්‍රධානියා අගමැතිවරයා විය. ජනාධිපතිවරයා විසින් අගමැතිවරයා පත් කරන ලද අතර අගමැතිගේ උපදෙස් පරිදි ජනාධිපතිවරයා විසින් සෙසු ඇමතිවරුන් පත් කළ යුතු විය.

**අධිකරණය**

1972 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව යටතේ යුක්තිය පසිඳලීමේ කටයුතු සඳහා අධිකරණ පද්ධතියක් පිහිටුවී ය.

ශ්‍රේෂ්ඨාධිකරණය
මහාධිකරණය
දිසා අධිකරණය
මහේස්ත්‍රාත් අධිකරණය
ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා අධිකරණය

මෙම අධිකරණ පද්ධතියේ ප්‍රධාන ම ආයතන දෙක වූයේ ශ්‍රේෂ්ඨාධිකණය හා මහාධිකරණය යි. ඒ ඒ දිස්ත්‍රික්කවල සිවිල් නඩු විසඳීම දිසා අධිකරණවලට පැවරුණි. අපරාධ නඩු විනිශ්චය කිරීමට ඒ ඒ මහේස්ත්‍රාත් අධිකරණවලට පවරා තිබුණි. අධිකරණ සේවයේ ස්වාධීනත්වය ආරක්ෂා වන පරිදි කටයුතු කිරීම සඳහා අධිකරණ සේවා උපදේශක මණ්ඩලය හා අධිකරණ සේවා විනය මණ්ඩලයක් පිහිටුවා තිබුණි. කම්කරු උසාවි එම මණ්ඩල මගින් ක්‍රියාත්මක විය.

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව පිළිබඳ ගැටලු නිරාකරණය හා පාර්ලිමේන්තුවට ඉදිරිපත් කෙරෙන පනත් කෙටුම්පත් ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුකූල දැයි පරීක්ෂා කිරීම ආදිය සඳහා ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා අධිකරණ පිහිටුවා තිබුණි.

**1978 නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව**



රූපය 6.4 ජේ. ආර්. ජයවර්ධන මහතා

1977 වර්ෂයේ ජූලි මාසයේ පැවති මැතිවරණයෙන් ජාතික රාජ්‍ය සභාවේ මන්ත්‍රී ආසන 168න් 140ක් ම දිනා ගැනීමට එක්සත් ජාතික පක්ෂය සමත් විය. මෙම මැතිවරණයෙන් ද්‍රවිඩ එක්සත් විමුක්ති පෙරමුණට ආසන 18ක් ලැබුණු අතර ශ්‍රී ලංකා නිදහස් පක්ෂයට ලබා ගත හැකි වූ ආසන සංඛ්‍යාව 08ක් විය. ඊට අමතරව ලංකා කම්කරු සංගමයට එක් ආසනයක් හා ස්වාධීන මන්ත්‍රීවරයකුට එක් ආසනයක් ලැබුණි. මෙසේ එක්සත් ජාතික පක්ෂයට තුනෙන් දෙකකටත් වැඩි බහුතර ආසන ගණනක් ලැබුණු බැවින් එහි නායක ජේ. ආර්. ජයවර්ධන මහතා කාලයක සිට අපේක්ෂා කළ පරිදි විධායක ජනාධිපති ධුරය සහිත ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් සම්පාදනය කිරීමට අවස්ථාව ලැබුණි. 1978 වර්ෂයේ සිට එම නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව ක්‍රියාත්මක විය.

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අනුව ශ්‍රී ලංකාව, ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජය යනුවෙන් හැඳින්වෙන අතර එය ඒකීය රාජ්‍යයක් බව දැක්වේ. ව්‍යවස්ථාව ආරම්භයේ දී ම ජනතා පරමාධිපත්‍යය ගැන සඳහන් කොට ඇත. ජනතාව සතු ව්‍යවස්ථාදායක බලය, මහජන ඡන්දයෙන් තේරී පත් වන මන්ත්‍රීවරුන් විසින් ද ජනමත විචාරණයක දී ජනතාව විසින් ද ක්‍රියාත්මක කරනු ලැබේ.

ජනතාව සතු විධායක බලය, ජනතාව විසින් තෝරා පත් කරනු ලබන ජනාධිපතිවරයා විසින් ක්‍රියාත්මක කරනු ලැබේ.

ජනතාවගේ අධිකරණ බලය, ව්‍යවස්ථාව අනුව පිහිටුවා ඇති අධිකරණ පද්ධතිය මගින් ක්‍රියාත්මක වේ.

මෙම ව්‍යවස්ථාවේ කැපී පෙනෙන අංශ කිහිපයක් පහත දැක්වේ.

**විධායක ජනාධිපති ධුරය**

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 30 වන වගන්තිය අනුව ශ්‍රී ලංකා ජනරජයේ ජනාධිපතිවරයා රජයේ ප්‍රධානියා ද විධායකයේ ප්‍රධානියා ද ආණ්ඩුවේ ප්‍රධානියා ද සන්නද්ධ සේවාවන්හි සේනාධිනායකයා ද වේ. මේ අනුව ජනාධිපති ධුරය පූර්ණ විධායක බලතල සහිත රජයේ ඉහළ ම විධායක තනතුර බවට පත්ව තිබේ. මෙම ව්‍යවස්ථාව අනුව ජනාධිපතිවරයා, ජනාධිපතිවරණ ඡන්ද විමසීමක දී ජනතා ඡන්දයෙන් තේරී පත් වේ. ජනාධිපතිවරයාගේ ධුර කාලය වසර හයකි.

## ජනාධිපතිවරයා සතු බලතල

පාර්ලිමේන්තුව කැඳවීම, වාරාවසාන කිරීම, මහ මැතිවරණයකින් පසුව පැවැත්වෙන මංගල පාර්ලිමේන්තු රැස්වීමේ මුලසුන දැරීම, ආණ්ඩුවේ ප්‍රතිපත්ති ප්‍රකාශනය ඉදිරිපත් කිරීම හා පාර්ලිමේන්තුව විසුරුවා හැරීම සඳහා ජනාධිපතිවරයාට බලය තිබේ. මේ අනුව ජනාධිපතිවරයා පාර්ලිමේන්තු මන්ත්‍රීවරයෙකු නො වූවත් ව්‍යවස්ථාදායකය හා සම්බන්ධ බලතල කිහිපයක් ඔහුට හිමිව ඇත.

අගමැතිවරයා පත් කිරීම, ඇමතිවරුන් පත් කිරීම, ඇමතිවරුන්ට විෂය හා කාර්ය පැවරීම ඇතුළු අමාත්‍ය මණ්ඩලයේ ප්‍රධානියා වශයෙන් කටයුතු කිරීම ජනාධිපතිට පැවරී ඇත. මේ අනුව විධායකයේ නායකයා ජනාධිපති වේ.

අග්‍ර විනිශ්චයකාරතුමා ඇතුළු ශ්‍රේෂ්ඨාධිකරණය හා අභියාචනාධිකරණයේ විනිශ්චයකාරවරුන් පත් කිරීම, අධිකරණයකින් වරදකරු කළ තැනැත්තෙකුට සමාව දීම, දඬුවම් ලිහිල් කිරීම වැනි අධිකරණ ක්ෂේත්‍රයේ බලතල ප්‍රමාණයක් ද ජනාධිපති සතු ය.

රාජ්‍ය නායකයා වශයෙන් ද ජනාධිපතිවරයාට බලතල රැසක් හිමිව ඇත. යුද්ධය හා සාමය ප්‍රකාශ කිරීම, රාජ්‍ය උත්සවවල මුලසුන දැරීම, ජාත්‍යන්තර වශයෙන් ජනරජය නියෝජනය කිරීම, රාජ්‍ය මුද්‍රාව භාරයේ තබා ගැනීම, එබඳු බලතලවලට උදාහරණ වේ.

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අනුව ජනාධිපතිවරයාට විරුද්ධව කවර කරුණක් හෝ සම්බන්ධයෙන් අධිකරණයක නඩු පැවරීම කළ නො හැකි ය. එය ජනාධිපති ධුරය සතු විශේෂ වරප්‍රසාදයකි.

### අගමැති හා අමාත්‍ය මණ්ඩලය

- පාර්ලිමේන්තුවේ මන්ත්‍රීවරුන් අතුරින් අමාත්‍ය මණ්ඩලය පත් කිරීම ජනාධිපති සතු බලයකි.
- 1972 ව්‍යවස්ථාව යටතේ අගමැති සතු වූ බලතල, මෙම ව්‍යවස්ථාව යටතේ, ඇමති මණ්ඩලයේ නායකයා වන ජනාධිපති සතු වේ.
- අමාත්‍ය මණ්ඩලය සාමූහිකව පාර්ලිමේන්තුවට වගකිව යුතු ය.
- අමාත්‍ය මණ්ඩලයට පැවරුණු නිශ්චිත කාර්යයන් පැවතීම. උදාහරණ :
    - පාර්ලිමේන්තුව විසින් පනවන ලද නීති ක්‍රියාත්මක කිරීම.
    - ඒ ඒ අමාත්‍යාංශවල අය වැය ඇස්තමේන්තු හා අතුරු අය වැය සැකසීම.
    - අමාත්‍යවරුන්ට පැවරුණු ඒ ඒ විෂය භාරව කටයුතු කිරීම.

**පාර්ලිමේන්තුව**

1972 ව්‍යවස්ථාව යටතේ ජාතික රාජ්‍ය සභාව වශයෙන් හැඳින්වූ ව්‍යවස්ථාදායක මණ්ඩලය වෙනුවට මෙම ව්‍යවස්ථාව මගින් පාර්ලිමේන්තුව ස්ථාපිත කෙරිණ. පාර්ලිමේන්තුව මන්ත්‍රීවරුන් 225 දෙනෙකුගෙන් සමන්විත වේ. මන්ත්‍රීවරු 196 දෙනෙකු සමානුපාතික නියෝජන ක්‍රමය අනුව මහජන ඡන්දයෙන් තේරී පත් වන අතර ඒ ඒ පක්ෂ ලැබූ ඡන්ද සංඛ්‍යාවේ අනුපාතය අනුව ඉතිරි 29 දෙනා ජාතික ලැයිස්තුවෙන් තෝරා පත් කර ගැනේ. පාර්ලිමේන්තුව සතු බලතල කිහිපයක් පහත දක්වේ.

- නීති පැනවීම
- මුදල් පරිපාලනය
- අය වැය සකස් කිරීම
- සංවර්ධන සැලසුම් සම්පාදනය

**අධිකරණය**

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව අනුව ස්වාධීන අධිකරණ පද්ධතියක් හඳුන්වාදීමට අවශ්‍ය පියවර ගෙන ඇත. අධිකරණ ආයතන සංවිධානය වී ඇති ආකාරය පහත දැක්වේ.

ශ්‍රේෂ්ඨාධිකරණය
අභියාචනාධිකරණය
මහාධිකරණය
දිසා අධිකරණය
පවුල් අධිකරණය
මහේස්ත්‍රාත් අධිකරණය
ප්‍රාථමික අධිකරණය

අධිකරණ පද්ධතිය අනුව දිවයිනේ උත්තරීතර හා අවසාන අධිකරණ බලය හිමි උසාවිය ශ්‍රේෂ්ඨාධිකරණය වේ. ශ්‍රේෂ්ඨාධිකරණයේ ප්‍රධානියා වන අග්‍රවිනිශ්චයකාරවරයා හා එම අධිකරණයේ සියලු විනිශ්චයකරුවන් ද අභියාචනාධිකරණයේ විනිශ්චයකාරවරුන් ද ජනාධිපතිවරයා විසින් පත් කරනු ලැබේ. මූලික අයිතිවාසිකම් පිළිබඳ නඩු විසඳීම, ජනාධිපතිට එරෙහිව පාර්ලිමේන්තුවට ඉදිරිපත් කෙරෙන දෝෂාභියෝග පිළිබඳ පරීක්ෂා කිරීම, පාර්ලිමේන්තු වරප්‍රසාද කඩකිරීම් පිළිබඳ චෝදනා විමසීම, ඡන්ද පෙත්සම් පිළිබඳ අධිකරණ කටයුතු කිරීම ආදිය ශ්‍රේෂ්ඨාධිකරණයට අයත් කාර්යයන් සමහරකි. පහළ අධිකරණවලින් ලබාදෙන තීන්දුවලට එරෙහිව ඉදිරිපත් වන අභියාචනා නඩු විසඳීමේ බලය අභියාචනාධිකරණය සතු වේ.



රූපය 6.5 ශ්‍රේෂ්ඨාධිකරණය

අධිකරණයේ ස්වාධීනත්වය රැකෙන පරිදි කටයුතු කිරීමට හා විනිශ්චයකාරවරුන්ගේ අපක්ෂපාතීත්වය රැක ගැනීම සඳහා අධිකරණ සේවා කොමිෂන් සභාවක් පිහිටුවා ඇත. අග්‍ර විනිශ්චයකාරතුමා එහි සභාපතිත්වය දරන අතර ශ්‍රේෂ්ඨාධිකරණයේ තව විනිසුරුවෝ දෙදෙනෙක් ද එහි සාමාජිකත්වය දරති. මහාධිකරණයේ විනිශ්චයකරුවන්ගේ ස්ථානමාරු කිරීමේ බලය, අධිකරණ නිලධරයන්ගේ පුහුණුවීම්, උසස් කිරීම් ඇතුළු විනය පාලන කටයුතු අධිකරණ සේවා කොමිෂන් සභාවට පැවරී ඇත.

**මූලික අයිතිවාසිකම්**

1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ තුන්වැනි පරිච්ඡේදයේ මූලික අයිතිවාසිකම් පිළිබඳ විස්තර වේ. 1972 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට වඩා මූලික අයිතිවාසිකම් පිළිබඳ පුළුල්ව හා විස්තරාත්මකව විග්‍රහ කර තිබීම මෙහි විශේෂ ලක්ෂණයකි.

ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවෙන් පිළිගෙන ඇති මූලික අයිතීන් අතර නීතිය ඉදිරියේ සමානත්වයෙන් සැලකීමේ නිදහස, කථා කිරීමේ හා අදහස් ප්‍රකාශ කිරීමේ නිදහස, වධ හිංසාවලින් මිදී සිටීමේ නිදහස, කැමති ආගමක්, ලබ්ධියක් හෝ විශ්වාසයක් දැරීමේ නිදහස, කැමති වෘත්තියක්, රැකියාවක් කිරීමේ නිදහස ආදිය ඇතුළත් වේ.

1972 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට වඩා ඉදිරියට යමින් 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 126 වැනි වගන්ති ප්‍රකාරව එකී මූලික අයිතිවාසිකම් හා නන් වැදෑරුම් නිදහස උල්ලංඝනයවීම හෝ කඩවීමට ආසන්න අවස්ථාවක මාසයක් ඇතුළත යමෙකුට ශ්‍රේෂ්ඨාධිකරණයට පෙත්සමක් ගොනු කළ හැකි බව විස්තර වේ. මෙකී අයිතිවාසිකම් කඩ වී ඇති නම් ශ්‍රේෂ්ඨාධිකරණය ඒ පිළිබඳ පරීක්ෂා කොට සුදුසු තීරණවලට එළඹේ.

රාජ්‍ය සේවයේ නියුතු නිළධාරීන් විසින් සිදුකරණු ලබන මූලික අයිතිවාසිකම් උල්ලංඝනය කිරීම හා වෙනත් අසාධාරණ ක්‍රියාකාරකම් ගැන පාර්ලිමේන්තු කොමසාරිස් හෙවත් ඔම්බුඩ්ස්මන්වරයා වෙත පැමිණිල්ලක් ඉදිරිපත් කරමින් සහන ලබා ගැනීමට ද ව්‍යවස්ථාවෙන් ප්‍රතිපාදන සලසා ඇත.

## 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ සඳහන් ඡන්ද විමසීම් ක්‍රම

### ජනාධිපතිවරණය

ජනාධිපතිවරණයක දී ශ්‍රී ලංකාව ම එක ම ඡන්ද කොට්ඨාසයක් බවට පත් වේ. ප්‍රකාශිත ඡන්ද සංඛ්‍යාවෙන් නියත බහුතරයක් හෙවත් 50% ඉක්මවූ ඡන්ද ප්‍රමාණයක් ලබා ගන්නා අපේක්ෂකයා ජයග්‍රහණය කරයි.

1978 වන විට අගමැති ධුරයේ සිටි ජේ. ආර්. ජයවර්ධන මහතා මෙරට ප්‍රථම විධායක ජනපති ලෙස නම් කෙරිණ. ඉන් පසුව ජනාධිපතිවරණයක් පවත්වන ලද්දේ 1982 දී ය. එම ජනාධිපතිවරණයෙන් ජේ. ආර්. ජයවර්ධන මහතා නැවත වරක් ජනාධිපති ධුරයට තේරී පත් විය. ව්‍යවස්ථාවට අනුව වසර හයක ධුර කාලයෙන් වසර හතරක් ගතවූ පසුව නැවත දෙවන වරමක් ඉල්ලා ජනාධිපතිවරණයකට යොමු විය හැකි බව 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට කරන ලද දෙවැනි සංශෝධනය මගින් හඳුන්වා දුණි. ජේ. ආර්. ජයවර්ධන මහතාට පසුව පිළිවෙලින් රණසිංහ ප්‍රේමදාස, ඩී. බී. විජේතුංග (ජනාධිපතිවරණයකින් පත් නො විණි) චන්ද්‍රිකා කුමාරතුංග, මහින්ද රාජපක්ෂ හා මෛත්‍රිපාල සිරිසේන යන මහත්ම මහත්මීහු විධායක ජනාධිපති ධුරයට පත් වූහ.

### සමානුපාතික නියෝජන ක්‍රමය

සමානුපාතික නියෝජන ක්‍රමය යනු 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවෙන් හඳුන්වා දුන් තවත් නවාංගයකි. පාර්ලිමේන්තු මන්ත්‍රීවරුන්, පළාත් සභා මන්ත්‍රීවරුන් හා පළාත් පාලන ආයතන සඳහා නියෝජිතයන් තෝරා පත් කර ගනු ලබන සියලු මැතිවරණවල දී සමානුපාතික නියෝජන ක්‍රමය යොදා ගැනේ.

මෙම නියෝජන ක්‍රමයට අනුව අපේක්ෂකයන් කණ්ඩායම් වශයෙන් ඉදිරිපත් වේ. විවිධ ඡන්ද කොට්ඨාස සඳහා තෝරා ගන්නා මන්ත්‍රීවරුන් ගණන මැතිවරණයට පෙර ප්‍රකාශ කෙරෙන අතර ඡන්ද දයකයන් ඡන්දය භාවිත කිරීමේ දී අදාළ පක්ෂයට ඡන්දය ලබා දී ඉදිරිපත් කර ඇති අපේක්ෂකයාට මනාපය සටහන් කළ යුතු ය. එහි දී ඒ ඒ පක්ෂ ලබා ගත් ඡන්ද සංඛ්‍යාවට අනුපාතිකව පක්ෂයට හිමි ආසන ගණන තීරණය වන අතර අපේක්ෂකයන් ලබා ගත් මනාප ප්‍රමාණය අනුව ඒ ඒ අපේක්ෂකයාට ජයග්‍රහණය හිමි වේ.

### ජනමත විචාරණය

ජාතික වැදගත්කමකින් යුතු කරුණක් සම්බන්ධයෙන් සෘජුව ම මහජන මතය ලබා ගන්නා ක්‍රමයක් ලෙස ජනමත විචාරණය හැඳින්විය හැකි ය. 1978 ව්‍යවස්ථාව මගින් මුල්වරට ජනමත විචාරණ ක්‍රමය මෙරටට හඳුන්වා දී ඇත.

මෙහි දී එක් නියමිත කරුණක් සඳහා තම අභිමතය 'ඔව්' හෝ 'නැත' ලෙස ප්‍රකාශ කෙරෙන ප්‍රශ්නයකට පිළිතුරු ලබා ගැනීම සිදු වේ. 1982 දී මෙරට ජනමත විචාරණයක්

පැවැත්වීමේ අත්දැකීම ලද අතර එය මෙතෙක් පැවති එක ම ජනමත විචාරණය වේ. එතෙක් පැවති පාර්ලිමේන්තුවේ නිල කාල සීමාව දීර්ඝ කර ගැනීම සඳහා එම ජනමත විචාරණය පැවැත්විණි.

ජනමත විචාරණයකට ඉදිරිපත් කෙරෙන කරුණක් ජනතාව විසින් අනුමත කරන ලද බව පිළිගැනීමට නම් දෙන ලද වලංගු ඡන්ද සංඛ්‍යාවෙන් 50%කට වැඩි ඡන්ද සංඛ්‍යාවක් ලබා ගත යුතු ය.

## 6.2 නිදහසෙන් පසු සංවර්ධන කටයුතු

1948 වර්ෂයේ දී ශ්‍රී ලංකාවට නිදහස ලැබුණු හෙයින් එතෙක් කල් බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදීන්ගේ යහපත වෙනුවෙන් හසුරුවා තිබූ මෙරට ආර්ථිකය, රටේ ජනතාවගේ අභිවෘද්ධිය වෙනුවෙන් හැසිරවීමේ වගකීම මෙරට දේශපාලනඥයන් වෙතට පැවරුණි. නිදහසෙන් පසුව ගෙවුණු දශක හතර තුළ මෙරට ප්‍රධාන දේශපාලන පක්ෂ දෙක වන එක්සත් ජාතික පක්ෂය හා ශ්‍රී ලංකා නිදහස් පක්ෂය කලින් කල බලයේ සිටි අතර ඒ සෑම ආණ්ඩුවක් ම රටේ ආර්ථික තත්ත්වය දියුණු කිරීමට කටයුතු කර ඇත. මෙහි දී රටේ කෘෂිකර්මාන්තය හා කර්මාන්ත ක්ෂේත්‍රය දියුණු කිරීමට හා අධ්‍යාපන තත්ත්වය ඉහළ නැංවීමට අනුගමනය කළ ක්‍රියාමාර්ග කිහිපයක් පිළිබඳ සොයා බලමු.

### කෘෂිකර්මාන්ත සංවර්ධනය

අතීතයේ සිට ම මෙරට කෘෂිකාර්මික රටක් වූ බැවින් ජනතාවට අවශ්‍ය ආහාරපාන රට තුළ ම නිෂ්පාදනය කිරීම සිදු විය. එහෙත් වසර 133ක් තුළ පැවති බ්‍රිතාන්‍ය පාලන කාලයේ දී වතු වගාවට ප්‍රමුඛත්වය ලැබුණු හෙයින් දේශීය යැපුම් කෘෂිකර්මාන්තය දියුණු කිරීම කෙරෙහි ප්‍රමාණවත් අවධානයක් යොමු නො වී ය. එම යුගයේ දී මෙරටට අවශ්‍ය ආහාර ද්‍රව්‍ය විදේශවලින් ආනයනය කිරීමට ඉංග්‍රීසීහු කටයුතු කළහ. එහි ප්‍රතිඵල වශයෙන් නිදහස ලැබෙන විට මෙරට ආහාර ද්‍රව්‍ය නිෂ්පාදනය දියුණු කිරීමේ අවශ්‍යතාවක් මතුව තිබුණි. මේ නිසා සෑම ආණ්ඩුවකට ම වී ගොවිතැන දියුණු කිරීම සඳහා අවශ්‍ය පියවර ගැනීමට සිදු විය.

### වී ගොවිතැන දියුණු කිරීම

පළමුවන ලෝක සංග්‍රාම කාලයේ ආහාර ද්‍රව්‍ය ආනයනය දුෂ්කර වීමත් 1929 ඇති වූ ලෝක ආර්ථික පරිහානිය හේතුවෙන් ආහාර ද්‍රව්‍යවල මිල ඉහළ යාමත් වැනි හේතු නිසා මෙරට වී ගොවිතැන දියුණු කිරීම කෙරෙහි බ්‍රිතාන්‍ය පාලන කාලයේ අවසාන අවධියේ දී ම අවධානය යොමු විය. එහෙත් මේ සඳහා වඩාත් ඵලදායි ක්‍රියාමාර්ග ආරම්භ වූයේ රාජ්‍ය මන්ත්‍රණ සභා යුගයේ දී ය. 1931 - 1947 ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ කෘෂිකර්ම අමාත්‍යාංශය ලාංකික ඇමතිවරුන්ට ලැබීමත් කෘෂිකර්මය දියුණු කිරීමට මහත් උනන්දුවක් දක්වූ ඩී. එස්. සේනානායක මහතා එම අමාත්‍යාංශයේ ඇමතිවරයා බවට පත් වීමත් රාජ්‍ය මන්ත්‍රණ සභා යුගයේ දී වී වගාවේ දියුණුවට හේතුවක් විය.

වී වගාවට වඩාත් ගැළපෙන සාරවත් පස සහිත තැනිතලා බිම් පවතිනුයේ මෙරට වියළි කලාපයේ බැවින් ආහාර නිෂ්පාදනය ඉහළ නැංවීමට නම් වියළි කලාපය නැවත වී වගාවට යොදා ගත යුතුව තිබිණ. මේ නිසා ඩී. එස්. සේනානායක මහතා විසින් වියළි කලාපයේ ගොවි ජනපද පිහිටුවීමේ ව්‍යාපාරයක් ආරම්භ කරන ලදි.

**ගොවි ජනපද පිහිටුවීම**

වියළි කලාපයේ ගොවි ජනපද පිහිටුවීමේ අරමුණු කිහිපයක් තිබුණි.

- ❖ තෙත් කලාපයේ ඉහළ යමින් පවතින ජනගහන තදබදය හා රැකියා හිඟය අඩු කිරීම.
- ❖ රටේ ආහාර නිෂ්පාදනය වැඩි කිරීම.
- ❖ වියළි කලාපයේ පැරණි වැව් හා වාරිමාර්ග අලුත්වැඩියා කොට එහි ඉඩම් ආර්ථික සංවර්ධනයට යොදා ගැනීම.
- ❖ තෙත් කලාපයේ පවතින ඉඩම් හිඟය අඩු කොට ඉඩම් හිමි තෘප්තිමත් ගොවි පරපුරක් නිර්මාණය කිරීම.

අතීතයේ රට සහලින් ස්වයංපෝෂිත වූයේ වියළි කලාපය විශාල වශයෙන් වී වගාවට යොදා ගැනීම නිසා ය. එහි දී මතු වන ප්‍රධාන ගැටලුව වූ ජල හිඟයට පිළියමක් වශයෙන් අතීත මුතුන් මිත්තෝ වැව් අමුණු පද්ධතියක් හා වාරි මාර්ග ජාලයක් තනවා තිබේ. එහෙත් කාලිංග මාඝගේ ආක්‍රමණයෙන් පසුව වියළි කලාපය අතහැර ජනතාව වැඩි වශයෙන් තෙත් කලාපයට සංක්‍රමණය වී තිබුණි. මෙසේ අතහැර දමා තිබූ වියළි කලාපය වසර හත්සියයකට පමණ පසු යළි ආර්ථික සංවර්ධනයට යොදා ගැනීම, මෙරට වී ගොවිතැන දියුණු කිරීමේ ඉතා වැදගත් පියවරකි.

නව ගොවි ජනපද පිහිටුවීමේ දී හා පවත්වාගෙන යාමේදී රජය මුහුණදුන් අභියෝග රැසක් තිබුණි.

- ❖ තෙත් කලාපයේ ජනතාව තෝරා ගෙන වියළි කලාපයට කැඳවාගෙන ගොස් ඉඩම් ලබා දී නිවාස තනවා පදිංචි කරවීම.
- ❖ කාලාන්තරයක් වනගතව පැවති බිම් කෘෂිකර්මයට සුදුසු පරිදි සැකසීමට උපකාර කිරීම හා වාරි මාර්ග පහසුකම් සැපයීම.
- ❖ ප්‍රථම අස්වැන්න නෙළන තෙක් ජානපදිකයන්ට ආධාර මුදලක් ලබා දීම
- ❖ ජනතාවගේ සෞඛ්‍ය, අධ්‍යාපනය ඇතුළු පහසුකම් ඇති කිරීම
- ❖ නිෂ්පාදන ද්‍රව්‍ය අලෙවි කිරීම සඳහා අලෙවි සංවර්ධන සේවා පිහිටුවීම.

මෙම අභියෝග ජය ගැනීමට අවශ්‍ය නීති රීති සකස් කරගෙන සැලසුම් සහගතව කටයුතු කිරීම නිසා නිදහස ලැබීමට පෙර දී ම ගොවිජනපද කිහිපයක් පිහිටුවීමට හැකියාව ලැබුණි. මින්නේරිය, කාගම, නාච්චදූව, බෙරගම, මිනිපේ, පරාක්‍රම සමුද්‍රය, රිදී බැඳි ඇළ,




සිතියම 6.1 ගොවි ජනපද

සංගිලිකනදරාව, උනිච්චයි ආදිය එබඳු ජනපදවලට උදහරණ වේ. නිදහස ලැබීමෙන් පසුව 1953 වර්ෂය දක්වා කාලයේ දී තවත් ගොවි ජනපද 15ක් පමණ පිහිටුවිය. බත්මැඩිල්ල, දේවහුව, ගිරිතලේ, පානියන්කඩවල, ඉරණමඩු, ගල් ඔය, කන්තලේ, සොරබොරවැව ආදිය එබඳු ජනපද වේ.

නව ගොවි ජනපද පිහිටුවීමත් සමඟ පැරණි වැව් අමුණු ප්‍රතිසංස්කරණය හා වාරි මාර්ග තැනවීම කෙරෙහි රට තුළ ප්‍රබල උනන්දුවක් ඇති විය. ගල් ඔය සංවර්ධන යෝජනා ක්‍රමය නව වාරිමාර්ග තැනවීම පිළිබඳ උදහරණයකි. මෙය මෙරට ආරම්භ කළ පළමුවන බහුකාර්ය සංවර්ධන යෝජනා ක්‍රමය වෙයි.

**මහවැලි සංවර්ධන යෝජනා ක්‍රමය**

නිදහසෙන් පසුව මෙරට ආර්ථික සංවර්ධන කටයුතු සඳහා අනුගමනය කළ ක්‍රියාමාර්ග අතර මහවැලි සංවර්ධන යෝජනා ක්‍රමයට විශේෂ වැදගත්කමක් ලැබේ. අතු ගංගා රැසකින් පෝෂණය ලබන මහවැලි ගඟ මධ්‍යම කඳුකරයේ බටහිර කොටසෙන් ආරම්භ වී දුම්බර මිටියාවත ඔස්සේ ගලා ගොස් ත්‍රිකුණාමලය අසලින් මුහුදට වැටේ. මෙම ගංගා පද්ධතිය රටේ ආර්ථික දියුණුව සඳහා යොද ගැනීම පිණිස මහවැලි සංවර්ධන යෝජනා ක්‍රමය ආරම්භ විය.

මහවැලි සංවර්ධන යෝජනා ක්‍රමය මගින් අපේක්ෂා කළ අරමුණු කිහිපයක් තිබුණි.

- වියළි කලාපයේ ගොවි බිම් ඵලදයි ලෙස කෘෂිකාර්මික කටයුතුවලට යොද ගැනීමට අවශ්‍ය නිත්‍ය ජල පහසුකම් සැපයීම.
- ඉහළ යන විදුලි බල ඉල්ලුම සඳහා විදුලි බලය නිෂ්පාදනය කිරීම.
- ජල සම්පාදනය නිසා නව ජනාවාස බිහි කිරීමෙන් ඉඩම් නැති ජනතාවට ඉඩම් සපයා දී ආහාර භෝග වගාව ව්‍යාප්ත කිරීම.

මහවැලි ව්‍යාපාරයෙන් අපේක්ෂිත මෙම ප්‍රධාන අරමුණුවලට අමතරව රැකියා හා කෘෂිකර්මාන්ත අවස්ථා බිහි කිරීම, ගංවතුර පාලනය හා මිරිදිය මසුන් බෝ කිරීම වැනි තවත් ඵලදයි ප්‍රතිඵල කිහිපයක් අපේක්ෂා කෙරිණි. මේ අනුව මහවැලි සංවර්ධන ව්‍යාපාරය එක් අරමුණකට වඩා වැඩි කාර්යයන් රැසක් ඉටු කර ගත හැකි බහු කාර්ය යෝජනා ක්‍රමයක් විය.

මහවැලි සංවර්ධන ව්‍යාපාරයේ පළමු අදියර වූයේ පොල්ගොල්ලෙ දී මහවැලි ගඟ හරහා විශාල බැම්මක් තනවා උමගක් හරහා සුදු ගඟට ජලය ලබා ගෙන බෝවතැන්න ජලාශය හරහා රජරට වියළි කලාපයට ජලය ගෙන යාම විය. එමගින් කලා වැව, නාච්චදූව වැව, නුවර වැව, තිසා වැව හා තවත් වැව් කිහිපයකට ජලය ලබා ගැනීමට සැලසුම් කෙරිණි. මෙම පළමුවන අදියරේ කටයුතු 1970 වර්ෂයේ දී ආරම්භ කෙරුණු අතර 1977

වර්ෂය වන විට අපේක්ෂිත වැඩ කොටස සම්පූර්ණ කිරීමට හැකියාව ලැබුණි. මහවැලි ව්‍යාපාරයේ ඉතිරි අදියර වශයෙන් තවත් ජලාශ කිහිපයක්, අමුණු හා ඇළ මාර්ග රැසක් ද ඉදි කළ යුතු ව තිබිණි. එහෙත් එම කටයුතු වසර 30ක් ඇතුළත සම්පූර්ණ කිරීමට මුල දී සැලසුම් කෙරුණි.



රූපය 6.6 පොල්ගොල්ල අමුණ

1977 වර්ෂයේ දී බලයට පත් ජේ. ආර්. ජයවර්ධන මහතාගේ නායකත්වයෙන් යුතු රජය මහවැලි ව්‍යාපාරයේ කටයුතු වසර හයකින් නිම කිරීමට තීරණය කොට කඩිනම් වැඩ පිළිවෙලක් සම්පාදනය කළේ ය. ඒ අනුව එතෙක් පැවති මහවැලි සංවර්ධන මණ්ඩලය වෙනුවට 1978 වර්ෂයේ දී මහවැලි සංවර්ධන අමාත්‍යාංශය පිහිටුවා එම අමාත්‍යාංශයේ කටයුතු ගාමිණී දිසානායක ඇමතිතුමාට පැවරී ය. මහවැලි සංවර්ධන ව්‍යාපාරයේ කටයුතු මෙහෙයවීමට වැඩි බලතල සහිත පාලනාධිකාරයක් අවශ්‍ය වූ බැවින් 1979 වර්ෂයේ දී මහවැලි අධිකාරිය පිහිටුවී ය.

මහවැලි සංවර්ධන යෝජනා ක්‍රමය යටතේ කොත්මලේ, වික්ටෝරියා, රන්දෙණිගල, රන්ටැඹේ, උල්හිටිය, රත්කිඳ හා මාදුරු ඔය ජලාශ ඉදි කිරීම ද රත් කිඳ, මාදුරු ඔය උමඟ ඇතුළු උමං කිහිපයක් මෙන් ම මිනිපේ අමුණ වැනි අමුණු හා ජල හැරවුම් මධ්‍යස්ථාන කිහිපයක් ඉදි කිරීමට ද කටයුතු කෙරුණි.

## කොත්මලේ ජලාශය



මහවැලි ගඟේ ප්‍රධාන අතු ගංගාවක් වන කොත්මලේ ඔය කඩදෙර නම් ස්ථානයේ දී හරස්කර වේල්ලක් බැඳ කොත්මලේ ජලාශය තැනවී ය. ස්වීඩන් රජයෙන් මේ සඳහා ආධාර ලැබුණි.

## වික්ටෝරියා ජලාශය



මහවැලි ගඟේ පොල්ගොල්ල බැම්මට පහළින් වේල්ලක් බැඳ මෙම විශාල ජලාශය තනවා ඇත. විදුලිබලය ජනනය කිරීම මෙහි ප්‍රධාන අරමුණකි. බ්‍රිතාන්‍ය රජය මේ සඳහා ආධාර මුදල් ලබා දුණි.

## රන්දෙණිගල වේල්ල



වික්ටෝරිය
ජලාශයට පහළින
මිනිපේ අමුණට ඉහළින
ප්‍රදේශයේ රන්දෙණිගල
ජලාශය ඉදි කර ඇත
විදුලි බලය නිපදවීම හ
වාරි මාර්ගවලට ජල
ලබා ගැනීම මෙයින් සි
කෙරේ. මේ සඳහා බටහි
ජර්මනියෙන් ආධා
ලැබුණි.




සිතියම 6.2 කඩිනම් මහවැලි සංවර්ධන ව්‍යාපාරය යටතේ ජල සම්පාදන ව්‍යාපෘති

මහවැලි ජලය නව ජලාශවලට රැස් කොට යළි යළිත් විදුලි බලය නිපදවීමට ද යොදා ගෙන අනතුරුව වියළි කලාපයට ලබා දීම මගින් එතෙක් වගා කළ බිම්වලට මෙන් ම අලුත් වගා බිම් සඳහා ද ජලය ලබා ගත හැකි විය. කඩිනම් මහවැලි සංවර්ධන ව්‍යාපාරය මගින් විදුලි බලය නිපදවීම හා කෘෂිකාර්මික කටයුතු සඳහා ජලය සපයා දීමට අමතරව ජනතාව පදිංචි කරවීම, නව නගර හා මං මාවත් ඉදි කිරීම වැනි කටයුතු රැසක් ද සිදු කෙරුණි.

**වී වගාව දියුණු කිරීමට අනුගමනය කළ වෙනත් ක්‍රියාමාර්ග කිහිපයක්:**

- 1943 දී වී සඳහා සහතික මිල ක්‍රමයක් හඳුන්වා දීම.
- වී පර්යේෂණ ආයතන පිහිටුවීම හා නව වී ප්‍රභේද හඳුන්වා දීම - බතලගොඩ වී අභිජනන මධ්‍යස්ථානය උදාහරණයකි.
- ගොවිජන සේවා මධ්‍යස්ථාන පිහිටුවීම.
- රජයේ බැංකු මගින් ගොවියන්ට ණය ආධාර ලබාදීමට පියවර ගැනීම.

**ව්‍යාපාරික කෘෂිකර්මාන්තය**

බ්‍රිතාන්‍යයන් විසින් හඳුන්වා දෙන ලද තේ, රබර් හා සාම්ප්‍රදායිකව පැවති පොල් වගාව ආශ්‍රිත නිෂ්පාදන නිදහසෙන් පසුව ද දශක තුනක් පමණ වන තෙක් මෙරට ප්‍රධාන අපනයන ද්‍රව්‍ය වශයෙන් පැවතුණි. මෙම වගාවන් දියුණු කිරීම සඳහා 1948 වර්ෂයෙන් පසුව ක්‍රියාමාර්ග රැසක් අනුගමනය කර ඇත. උදාහරණ වශයෙන් එබඳු ක්‍රියාමාර්ග කිහිපයක් පහත දැක්වේ.

1972 ඉඩම් ප්‍රතිසංස්කරණ නීතිය මගින් එක් පුද්ගලයෙකුට අයිතියේ තබාගත හැකි නිශ්චිත ඉඩම් ප්‍රමාණයක් නියම කෙරිණි. මේ අනුව එක් පුද්ගලයෙකුට අයිතිකරගත හැකි ඉඩම් ප්‍රමාණය වී වගාව සඳහා හෙක්ටයාර් 10ක් (අක්කර 25) ද වෙනත් භෝග වගාවන් සඳහා හෙක්ටයාර් 20ක් (අක්කර 50ක්) ද වශයෙන් සීමා කෙරුණි.

1975 ඉඩම් ප්‍රතිසංස්කරණය මගින් ව්‍යාපාරික වතු වගාවේ යෙදුණු පොදු සමාගම් සතු ඉඩම් ජනසතු කෙරිණි. මෙම ප්‍රතිසංස්කරණ නිසා මහා පරිමාණ වතු වගාව යටතේ පොදු සමාගම් සතු වූ ඉඩම්වලින් 62%ක් පමණ රාජ්‍ය අංශයට අයිති විය. රාජ්‍ය අංශය සතු වූ ඉඩම්වලින් 10%ක් පමණ කුඩා බිම් කොටස් ලෙස ගොවියන් අතර බෙදා දීම නිසා කුඩා වතු හිමියන් පිරිසකට බිහි වීමට හැකි විය.

1975 ඉඩම් ප්‍රතිසංස්කරණය මගින් පොදු සමාගම් සතු විශාල ඉඩම් රාජ්‍ය අංශයට ලැබීම නිසා විශාල ඉඩම් පිළිබඳ අයිතිය පෞද්ගලික අංශයෙන් රාජ්‍ය අංශයට මාරු විය.

නිදහසෙන් පසුව රාජ්‍ය අංශය සතු වූ ඉඩම් කළමණාකරණය සඳහා ආයතන කිහිපයක් පිහිටුවන ලදි.

- ❖ 1958 දී රාජ්‍ය වැවිලි සංස්ථාව පිහිටුවීම.
- ❖ 1976 දී උඩරට වතු සංවර්ධන මණ්ඩලය පිහිටුවීම.
- ❖ 1976 දී ජනතා වතු සංවර්ධන මණ්ඩලය පිහිටුවීම.

එසේ පිහිටුවන ලද රාජ්‍ය ආයතනවලට උදාහරණ වේ.

1952 වර්ෂයේ දී චීන සමූහාණ්ඩුව සමග ශ්‍රී ලංකාව ඇති කර ගත් ද්විපාර්ශ්වික ගිවිසුමක් නිසා ලංකාවේ රබර් නිෂ්පාදන චීනයට අපනයනය කිරීමට හැකි විය. මේ නිසා මෙරට රබර්වලට ස්ථාවර වෙළෙඳපොළක් ලැබුණි.

1977 වර්ෂයේ සිට රජය විසින් රබර් නැවත අලුතෙන් වගා කිරීම සඳහා ඉඩම් හිමියන්ට ආධාර ලබා දීමේ වැඩපිළිවෙළක් දියත් කරන ලදි. මෙහි දී රබර් පැළ හා පොහොර ලබා දීමට ද පියවර ගැනිණ. පසුව තේ වගාව සඳහා ද මෙය ක්‍රියාත්මක කෙරිණ.

නිදහසෙන් පසුව රජය අනුගමනය කළ ඉඩම් බෙදා දීමේ ප්‍රතිපත්ති නිසා මෙරට කුඩා ඉඩම් හිමියන් පිරිසක් බිහිවීම කැපී පෙනෙන ලක්ෂණයකි. මේ නිසා බස්නාහිර පළාත, දකුණු පළාත හා සබරගමු පළාත තුළ අක්කර 1-10 ප්‍රමාණයේ කුඩා රබර් වතු හා තේ වතු හිමියෝ පිරිසක් බිහි වූහ. එමගින් ප්‍රධාන අපනයන භෝග ආශ්‍රිතව ගැමි ජනතාවගේ ආදායම් තත්ත්වය ද ඉහළ ගියේ ය.

**සුළු අපනයන භෝග වගාව දියුණු කිරීම**

තේ, රබර්, පොල් වැනි ප්‍රධාන අපනයන භෝගවලට අමතරව, කෝපි, කොකෝවා, කරදමුංගු, කරාබු නැටි, සාදික්කා, ගම්මිරිස්, කුරුඳු වැනි සුළු අපනයන භෝග වගාව ද දියුණු කිරීමට නිදහසෙන් පසුව විවිධ පියවර අනුගමනය කෙරුණි.

1968 තේ කොමිෂන් වාර්තාව අනුව තේ ඉඩම්වල අතුරු වගාවක් වශයෙන් ඇතැම් සුළු අපනයන භෝග වගා කිරීම, දියුණු කිරීමට පියවර ගැනිණි.

1972 දී මාතලේ ප්‍රදේශයේ සුළු අපනයන පර්යේෂණ ආයතනයක් ආරම්භ කෙරිණි. අනතුරුව කුණ්ඩසාල, දුල්පිටිය, නාරම්මල වැනි ප්‍රදේශවල තවත් එබඳු ආයතන පිහිටුවනු ලැබී ය.

1972 සිට සුළු අපනයන භෝග වගාව ව්‍යාප්ත කිරීමට තවත් පියවර රැසක් හඳුන්වා

දී ඇත. වගාව සඳහා උපදෙස් ලබා දීම, පොහොර ලබා දීම අලෙවි ප්‍රවර්ධන කටයුතු කිරීම එයට උදාහරණ වේ.

### කාර්මීකරණ ප්‍රතිපත්තිය

ඉංග්‍රීසීන්ගේ පාලන කාලයේ දී බ්‍රිතාන්‍යයේ නිෂ්පාදනය කෙරෙන භාණ්ඩ අලෙවි කිරීමේ වෙළෙඳපොළක් වශයෙන් ලංකාව පවත්වාගෙන යාම නිසා මෙරට කර්මාන්ත ක්ෂේත්‍රයේ දියුණුවක් සිදු නො වී ය. ඩොනමෝර් ප්‍රතිසංස්කරණ යටතේ කම්කරු, කර්මාන්ත හා වෙළෙඳාම පිළිබඳ අමාත්‍යාංශය ලාංකික අමාත්‍යවරුන්ට ලැබීම නිසා කර්මාන්ත ක්ෂේත්‍රය කෙරෙහි යම් උනන්දුවක් ඇති විය. 1934 වර්ෂයේ දී මෙරට කර්මාන්ත තත්ත්වය පිළිබඳ විමර්ශනයක යෙදුණු ශ්‍රී ලංකා බැංකු කොමිසම ස්වදේශීය වෙළෙඳපොළට අවශ්‍ය කාර්මික නිෂ්පාදන සැපයීමට කර්මාන්ත ආරම්භ කළ යුතු යැයි නිර්දේශ කර තිබුණි.

1939 වර්ෂයේ දී ආරම්භ වූ දෙවන ලෝක සංග්‍රාමය නිසා යුද්ධ කාලයේ දී මෙරටට විදේශීය භාණ්ඩ ආනයනය කිරීමට බාධා ඇති විය. එම කාලයේ දී ඇසිටික් ඇසිඩ්, පිඟන් භාණ්ඩ, කඩදාසි, සබන් හා සුවඳ විළවුන් ආදිය නිෂ්පාදනය කරන කර්මාන්ත මෙරට බිහි වූ අතර ඒවායේ නිෂ්පාදනවලට හොඳ ඉල්ලුමක් ද තිබුණි. එහෙත් ලෝක සංග්‍රාමය නිම වීමෙන් පසුව නැවත විදේශ භාණ්ඩ ආනයනයට මඟ විවර වූ හෙයින් විදේශ නිෂ්පාදන සමග තරග කිරීමට අපහසු වීම නිසා ඉහත කී කර්මාන්ත අඩපණ වී ගියේ ය.

1952 වර්ෂයේ දී මෙරටට පැමිණි ලෝක බැංකු නියෝජිත කණ්ඩායමක් රජයේ මැදිහත්වීම මත මධ්‍යම සහ සුළු පරිමාණයේ කර්මාන්ත ආරම්භ කිරීමේ වැදගත්කම පෙන්වා දුණි. එම වාර්තාව නිකුත් වීමෙන් පසු 1955 වසරේ දී ධවල පත්‍රිකාවක් මගින් විදේශීය හා පෞද්ගලික ආයෝජන කෙරෙහි රජයේ ප්‍රතිපත්තිය පැහැදිලි කිරීම නිසා කර්මාන්තවලට මුදල් ආයෝජනය කිරීම කෙරෙහි නැවත උනන්දුවක් ඇති විය. අනතුරුව 1959 දී ප්‍රථම කාර්මික ජනපදය ඒකල පිහිටුවීම මෙන් ම 1960 දී රත්මලාන කාර්මික ජනපදය පිහිටුවීම කාර්මීකරණ ප්‍රතිපත්තියේ තවත් කැපී පෙනෙන අවස්ථාවකි.

1960 වර්ෂයෙන් පසුව මෙරට කාර්මික ක්ෂේත්‍රයේ ඇති වූ කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- 1961 දී මහජන බැංකුව පිහිටුවීම හා කුඩා කර්මාන්තකරුවන්ට ණය පහසුකම් සලසා දීම.
- 1966 දී දේශීය කාර්මික නිෂ්පාදනවල ප්‍රමිතිය තීරණය කිරීමට ප්‍රමිති කාර්යාංශයක් පිහිටුවීම.
- රජයේ කාර්මික ප්‍රතිපත්ති නිසා 1960න් පසුව මෙරටට අවශ්‍ය පාරිභෝගික ද්‍රව්‍ය නිෂ්පාදනය කිරීමේ කර්මාන්තවල දියුණුවක් ඇති වීම.

- 1970-1977 කාලයේ රජය අනුගමනය කළ ආයාත ආදේශක ප්‍රතිපත්තිය නිසා දේශීය ගෘහස්ථ කර්මාන්ත හා සුළු කර්මාන්ත දියුණු වීම.

විදේශවලින් ආනයනය කරන භාණ්ඩ වෙනුවට ඊට සමාන ආදේශක දේශීය වශයෙන් නිෂ්පාදනය කර ගැනීම ආයාත ආදේශන ප්‍රතිපත්තිය ලෙස හැඳින්වේ.

- නිදහස ලැබී ගත වූ දශක තුන තුළ අමුද්‍රව්‍ය විශාල ලෙස යොදා ගනිමින් විශාල කර්මාන්තශාලා තුළ තොග වශයෙන් භාණ්ඩ නිෂ්පාදනය කෙරෙන මහා පරිමාණ කර්මාන්ත පවත්වාගෙන යාම බොහෝ විට රජයේ මැදිහත්වීමෙන් සිදු විය. සිමෙන්ති, යකඩ හා වානේ, තුනී ලෑලි, සීනි ආදි කර්මාන්ත ඊට උදාහරණ වේ.
- 1977 වර්ෂයෙන් පසුව අපනයන ආශ්‍රිත කර්මාන්ත දියුණු කිරීම සඳහා විදේශීය ධන ආයෝජකයන් කැඳවා ගැනීම හා පෞද්ගලික අංශය දිරිමත් කිරීම පිණිස අනුගමනය කළ ප්‍රතිපත්ති නිසා ඇඟළුම් කර්මාන්තය ඇතුළු අපනයන ආශ්‍රිත කර්මාන්තවල ශීඝ්‍ර දියුණුවක් ඇති විය. 1978 දී මහ කොළඹ ආර්ථික කොමිසම පිහිටුවීම, එම වර්ෂයේ දී ම කටුනායක අපනයන සැකසුම් කලාපය පිහිටුවීම, පසුව බියගම හා කොග්ගල තවත් අපනයන සැකසුම් කලාප පිහිටුවීම කාර්මික ක්ෂේත්‍රයේ උන්නතියට හේතු විය.

### අධ්‍යාපනය

බ්‍රිතාන්‍ය පාලන සමයේ දී මෙරට අධ්‍යාපන කටයුතුවල ක්‍රමානුකූල දියුණුවක් ඇති විය. ආගමික හා ජාතික පුනරුද ව්‍යාපාරය පැවති කාලයේ දී සිංහල, දෙමළ හා මුස්ලිම් ජනතාව තුළ අධ්‍යාපන කටයුතු පිළිබඳ විශේෂ උනන්දුවක් පැවති හෙයින් රට පුරා පාසල් සංඛ්‍යාව ද වේගයෙන් ඉහළ ගියේ ය. එහෙත් උසස් අධ්‍යාපනයක් ලබා ගැනීමේ දී මුදල් වැය කිරීමට සිදු වූ හෙයින් මුදල් දුෂ්කරතා පැවති දෙමාපියන්ගේ දූ දරුවන්ට අධ්‍යාපන ප්‍රතිලාභ ලබා ගත හැකි වූයේ මඳ වශයෙනි. මේ නිසා රාජ්‍ය මන්ත්‍රණ සභා යුගයේ අධ්‍යාපන ඇමතිවරයා වශයෙන් කටයුතු කළ සී. ඩබ්ලිව්. ඩබ්ලිව්. කන්නන්ගර මහතාගේ යෝජනාවක් පරිදි සියලු ශිෂ්‍ය ශිෂ්‍යාවන්ට බාලාංශයේ සිට විශ්වවිද්‍යාලය දක්වා රජය මගින් නොමිලේ අධ්‍යාපනය ලබා දීම හෙවත් නිදහස් අධ්‍යාපන ප්‍රතිපත්තිය ක්‍රියාත්මක කෙරිණි. නිදහසෙන් පසුව මෙරට බලයට පත් වූ සෑම රජයක් ම නිදහස් අධ්‍යාපන ප්‍රතිපත්තිය අනුව අධ්‍යාපන කටයුතු දියුණු කිරීමට පියවර ගෙන ඇත. 1948 වර්ෂයෙන් පසුව ගත වූ දශක තුනක කාලයේ දී ඇති වූ මෙරට අධ්‍යාපන ක්ෂේත්‍රයේ කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- රජය පාසල් පිහිටුවීම හා අධ්‍යාපන ව්‍යාප්තියට මුදල් යෙදවීම නිසා රට පුරා පාසල් සංඛ්‍යාව ඉහළ යාම.
- විෂයමාලා සංවර්ධනය හා ගුරු පුහුණු කටයුතු නවීකරණය වීම.
- විද්‍යාගාර පහසුකම් හා පාසල් පුස්තකාල පහසුකම් ව්‍යාප්ත වීම.

- දිවා ආහාරය, පාසල් පොත්, වෛද්‍ය හා දන්ත වෛද්‍ය සේවා සහ පාසල් නිල ඇඳුම් ආදිය නොමිලයේ ලබා දීමත් සහනදායී ගමනාගමන පහසුකම් ලබා දීමත් මගින් ශිෂ්‍ය ශුභසාධන සේවා හා උපකාරක කටයුතු වැඩි දියුණු කිරීම.
- අධ්‍යාපන පරිපාලන රටාව කාලයට ගැළපෙන ලෙස වෙනස් කිරීම.
- වෘත්තීය අධ්‍යාපන ආයතන පිහිටුවමින් එකී අධ්‍යාපන කටයුතු පුළුල් කිරීම.
- නව විශ්වවිද්‍යාල පිහිටුවමින් උසස් අධ්‍යාපන කටයුතු වැඩි දියුණු කිරීම.
- 1942 වර්ෂයේ දී ලංකා විශ්වවිද්‍යාලය කොළඹ පිහිටුවීම.
- 1952 වර්ෂයේ දී ලංකා විශ්වවිද්‍යාලය පේරාදෙණියට ගෙන යාම.
- විද්‍යෝදය හා විද්‍යාලංකාර පිරිවෙන් විශ්වවිද්‍යාල බවට පත් කිරීම. පසුව මෙම විශ්වවිද්‍යාල දෙක පිළිවෙළින් ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය හා කැලණිය විශ්වවිද්‍යාලය ලෙස නම් කෙරිණි.
- 1972 දී මොරටුව කටුබැද්ද විශ්වවිද්‍යාලය හා 1974 දී යාපන විශ්වවිද්‍යාලය පිහිටුවීම ද උසස් අධ්‍යාපන ක්ෂේත්‍රයේ ඇති වූ දියුණුවට උදාහරණ වේ.

## 6.3 සමාජ ශුභසාධනය

1931 වර්ෂයේ දී මෙරට පුරවැසියන්ට සර්ව ජන ඡන්දබලය ලැබීම නිසා ආර්ථික වශයෙන් වත් පොහොසත්කම් නොතිබූ ජනතාවට පවා දේශපාලන වටිනාකමක් ආරෝපණය විය. මෙසේ ඡන්ද බලය, දේශපාලන බලය ලබා ගැනීමේ ප්‍රධාන සාධකයක් බවට පත් වූයෙන් පොදු ජනතාවගේ අවශ්‍යතා කෙරෙහි දේශපාලනඥයන්ගේ අවධානය යොමු වීමට එය ප්‍රබල හේතුවක් විය. එසේ ම ලංකාව දිගු කලක් යටත් විජිතයක් වශයෙන් පැවතීම නිසා පොදු ජනතාවට අහිතකර සමාජ, ආර්ථික ගැටලු රැසක් නිර්මාණය වී තිබුණි. මේ නිසා උරුමයන් බවට පත් වී තිබූ එකී සමාජ දුක්ගැනවිලිවලට පිළියම් යොදමින් අසමානතාවන් දුරු කොට සමාජ සාධාරණත්වය ලැබෙන ලෙස කටයුතු කිරීම නිදහසෙන් පසුව රාජ්‍ය ප්‍රතිපත්තියේ කැපී පෙනෙන අංගයක් විය. 1948 වර්ෂයෙන් පසුව සමාජ සාධාරණත්වය ඇති කිරීම හා ආර්ථික වශයෙන් දුබල කොටස්වලට ඉදිරියට ඒමට ඉඩ කඩ සලසා දීම පිණිස අනුගමනය කළ ක්‍රියාමාර්ගවලට උදාහරණ කිහිපයක් දැක්විය හැකි ය.

- ග්‍රාමීය ප්‍රදේශවල අධ්‍යාපන කටයුතු දියුණු කිරීම.
- රැකියා ලබා ගැනීමේ දී දක්ෂතාවට මුල් තැන දීම හා තරග විභාග ක්‍රම යොදා ගැනීම.
- නිදහස, සමානාත්මතාව හා මූලික අයිතිවාසිකම් වැනි සංකල්ප ව්‍යවස්ථාගත කිරීම.
- කෘෂිකර්මය හා ධීවර කටයුතු ආදියට ණය පහසුකම් හා සහනාධාර සපයමින් රාජ්‍ය අනුග්‍රහය ලබා දීම.

### සෞඛ්‍ය සේවය

නිදහස ලැබීමට පෙර පවා නොමිලයේ සෞඛ්‍ය පහසුකම් ලබා ගැනීමට ඉඩ සලසා තිබූ නමුත් එහි ප්‍රතිලාභ වැඩි වශයෙන් නාගරික ප්‍රදේශවලට පමණක් සීමා වී තිබුණි. මේ නිසා නිදහසෙන් පසුව ග්‍රාමීය ප්‍රදේශවල සෞඛ්‍ය සේවා දියුණු කිරීමට විශේෂ අවධානයක් යොමු කෙරිණි. සෞඛ්‍ය අමාත්‍යාංශය යටතේ ග්‍රාමීය ප්‍රදේශවල රෝහල් පිහිටුවීම, වින්නඹු, මාතෘ හා ළමා සෞඛ්‍ය සේවා දියුණු කිරීම, ප්‍රතිශක්තීකරණ එන්නත් ලබා දීම, වෛද්‍ය සායන පැවැත්වීම හා දේශීය වෛද්‍ය ක්‍රමය දියුණු කිරීමට කටයුතු කිරීම යනාදිය ග්‍රාමීය සෞඛ්‍ය පහසුකම් ඉහළ නැංවීමට ගත් ක්‍රියාමාර්ගවලට උදාහරණ වේ. මේ නිසා උණ සන්නිපාතය, බරවා, මැලේරියා, ක්ෂය රෝගය, බාලක පක්ෂගාත රෝගය වැනි රෝග වැළඳෙන පිරිස සැලකිය යුතු තරමකින් අවම කර ගැනීමට හැකියාව ලැබුණි.

### වෙනත් ශුභසාධන කටයුතු

බ්‍රිතාන්‍ය පාලන සමයේ දී මෙරට මහා මාර්ග හා දුම්රිය මාර්ග තැනවීම නිසා ප්‍රවාහනය හා ගමනාගමන කටයුතුවල දියුණුවක් ඇති විය. නිදහසෙන් පසුව එහි ප්‍රතිලාභ ග්‍රාමීය ජනතාවටත් ලබා ගත හැකි වන පරිදි ගම්බද ප්‍රදේශවල මාර්ග තැනවීම හා ගමනාමන කටයුතු දියුණු කිරීමට පියවර ගැනුණි. මේ නිසා ගම හා නගරය අතර පැවති දුරස් බව අඩු වී එතෙක් නගරවලට පමණක් සීමා වී තිබූ ජලය, විදුලිය, පණිවුඩ හුවමාරුව වැනි පොදු පහසුකම් ග්‍රාමීය ප්‍රදේශවලටත් ලැබුණි.

දෙවන ලෝක සංග්‍රාමය පැවති සමයේ දී නාවික ගමනාගමනයට පැවති බාධක නිසා ආහාර ද්‍රව්‍ය ආනයනය සීමා කිරීමට සිදු විය. මේ නිසා රජය විසින් ආහාර සහනාධාර ලබා දීමේ වැඩ පිළිවෙළක් ක්‍රියාත්මක කරන ලදි. මෙසේ කාලයක් සහනාධාර ක්‍රමයන්ට ජනතාව හුරුවීමත් අඩු ආදායම, ඉඩම් හිඟය හා අඩු ඵලදායීතාව වැනි හේතු නිසාත් නිදහසෙන් පසුව ද දරිද්‍රතාව අවම කිරීමේ වැඩ පිළිවෙළක් වශයෙන් ආහාර සහනාධාර ලබා දීම අඛණ්ඩව පවත්වාගෙන යාමට රජයට සිදු විය. මෙහි දී සහල් සහනාධාරය ලබා දීමට ප්‍රමුඛ තැනක් ලැබුණි. සහල් සහනාධාරය වඩාත් විධිමත් කිරීම සඳහා සහනාධාර ලැබෙන සෑම අයකුට ම කූපන් පොතක් පසුව නිකුත් කෙරිණි. එය හාල් පොත නමින් ප්‍රචලිත විය. 1977 වර්ෂයෙන් පසුව සහල් කූපන් පොත වෙනුවට ආහාර ද්‍රව්‍ය ලබා ගැනීමට ආහාර මුද්දර ක්‍රමයක් ක්‍රියාත්මක කෙරිණි.

රජයේ සහනාධාර ලැබූ ජනතාව මුහුණදුන් තවත් ප්‍රධාන ගැටලුවක් වූයේ නිවාස ප්‍රශ්නය යි. මේ නිසා නාගරික ප්‍රදේශවල මෙන් ම ග්‍රාමීය ප්‍රදේශවල ද පැවති නිවාස ප්‍රශ්නය විසඳීම සඳහා නිදහසෙන් පසුව විවිධ වැඩසටහන් ක්‍රියාත්මක කෙරිණි. නාගරික ප්‍රදේශවල තට්ටු නිවාස ඉදිකිරීමට හා නිවාස සංකීර්ණ තැනවීමට රජය කටයුතු කළ අතර ග්‍රාමීය ප්‍රදේශවල විවිධ නිවාස යෝජනා ක්‍රම මගින් නිවාස ඉදි කර ගැනීමට රජයේ ආධාර ලබා දුණි. මෙසේ නිදහස ලැබීමෙන් පසුව රජය අඛණ්ඩව ක්‍රියාත්මක කළ විවිධ ශුභසාධක යෝජනා ක්‍රම මගින් ජනතාව සවිබල ගැන්වීම නිසා වැදගත් ජයග්‍රහණ රැසක් රටට ලබා ගැනීමට හැකියාව ලැබිණි.

# 07 ලෝකයේ කැපී පෙනෙන විප්ලව

## හැඳින්වීම

කිසියම් ක්ෂේත්‍රයක් තුළ කෙටි කාලයක දී ඇති වන ප්‍රබල වෙනස්වීමක් හැඳින්වීම සඳහා විප්ලවය යන පදය යෙදේ. කාර්මික ක්ෂේත්‍රයේ ඇති වූ මෙබඳු වෙනස්වීමක් කාර්මික විප්ලවය වශයෙන් හඳුන්වයි. යුරෝපයේ පුනරුද සමයේ ආගමික ක්ෂේත්‍රයේ ඇති වූ වෙනස්වීම ආගමික විප්ලවය ලෙස සැලකිණි. දේශපාලන ක්ෂේත්‍රයේ ද මෙබඳු විප්ලව ගණනාවක් ඇති විය. ඇමරිකන් නිදහස් සටන හෙවත් ඇමෙරිකන් විප්ලවය, ප්‍රංශ විප්ලවය හා රුසියානු විප්ලවය එබඳු විප්ලවවලට උදාහරණ වේ. එබඳු දේශපාලන විප්ලව පිළිබඳව මෙම පාඩමෙන් තවදුරටත් කරුණු විස්තර කෙරේ.

## 7.1 ඇමෙරිකන් නිදහස් සටන

### හැඳින්වීම

ඇමෙරිකන් ජනපදවාසීන් බ්‍රිතාන්‍ය අධිරාජ්‍යයෙන් නිදහස ලබා ගැනීම සඳහා ගෙන ගිය සටන ඇමෙරිකන් නිදහස් සටන වශයෙන් හඳුන්වයි. 1492 වර්ෂයේ දී ක්‍රිස්ටෝපර් කොළොම්බස් කැරිබියන් මුහුදේ බහමාස් දිවයින්වලට ගොඩබැසීමෙන් පසුව තමා පැමිණියේ ඉන්දියාවට යැයි විශ්වාස කළේ ය. ඒ අනුව එවකට ඇමරිකාවේ වාසය කළ ස්වදේශිකයන් ඉන්දියානු වැසියන් ලෙස හඳුන්වා ඇත. සමේ පැහැය අනුව උතුරු ඇමෙරිකානු ප්‍රදේශවල සිටි ස්වදේශිකයන් රතු ඉන්දියානුවන් ලෙස ද හඳුන්වනු ලැබී ය. මෙම ප්‍රදේශ ඉන්දියාව නැතහොත් අසියාවේ නැගෙනහිර ප්‍රදේශ නොව වෙන ම භූමිභාගයක් ලෙස පළමුවරට ප්‍රකාශ කළේ ගවේෂකයෙකු වූ ඇමරිගෝ වෙස්පුචි විසිනි. එම සොයාගැනීමට ගරුකිරීමක් ලෙස ජර්මන් ජාතික භූගෝල විද්‍යාඥයෙකු එම ප්‍රදේශ හැඳින්වීමට ඇමරිකාව යන නම යෙදී ය. සම්පත් බහුල සරුසාර විශාල රටක් වූ ඇමෙරිකාව පිළිබඳ ඇසූ යුරෝපීයයෝ ඇමරිකාව අත් පත් කරගෙන කණ්ඩායම් වශයෙන් ගොස් එහි ජනපද පිහිටුවීමට කටයුතු කළහ. පෘතුගාලය, ස්පාඤ්ඤය, ඕලන්දය, ප්‍රංශය සහ බ්‍රිතාන්‍ය යන රටවල් එසේ ඇමෙරිකාවේ ජනපද පිහිටුවූ යුරෝපීය රටවල් වේ. යුරෝපීයයන් ඇමෙරිකාවේ ජනපද පිහිටුවීමට බල පෑ හේතු කිහිපයකි. ඒවා පහත පරිදි ය.

- ❖ යුරෝපා රටවල පැවති රෝමානු කතෝලික හා රෙපරමාදු ආගමික ගැටුම් නිසා ආගමික නිදහස පතා නව ප්‍රදේශ වෙත යුරෝපීය ජනයා ඇදී යාම.
- ❖ නව ප්‍රදේශවල ඉඩකඩම් අත්පත් කර ගැනීමෙන් ජන ජීවිතය සෞභාග්‍යවත් කර ගැනීමට යුරෝපියයන් යොමු වීම.

❖ කීර්තිය හා ධනය වර්ධනය කර ගැනීමේ අරමුණෙන් යුරෝපා රටවල පාලකයන් නව ප්‍රදේශ සොයා ජනාවාස පිහිටුවා ගැනීමට ලබා දුන් ධෛර්යය හා උනන්දුව.

## බ්‍රිතාන්‍ය ජනපද පිහිටුවීම

කොළොම්බස්ගේ පැමිණීමෙන් පසු ගත වූ ශතවර්ෂ එකහමාරක පමණ කාලයේ දී විවිධ යුරෝපා ජාතීහු ඇමෙරිකාවේ විවිධ ප්‍රදේශවල ජනපද පිහිටුවූහ. එහි දී ස්පාඤ්ඤවරුන් හා පෘතුගීසීන් දකුණු ඇමෙරිකන් ප්‍රදේශවල නව ජනාවාස පිහිටුවීමට පියවර ගත් අතර බ්‍රිතාන්‍යයෝ හා ප්‍රංශවරු උතුරු ඇමෙරිකන් ප්‍රදේශවල ජනපද පිහිටුවූහ. පසුව ඇමෙරිකා එක්සත් ජනපදය නම් රාජ්‍ය බිහි වූයේ බ්‍රිතාන්‍යයන් විසින් උතුරු ඇමෙරිකන් ප්‍රදේශවල පිහිටුවන ලද ජනපද ආශ්‍රයෙනි.




රූපය 7.1 - බ්‍රිතාන්‍යයන් විසින් ඇමෙරිකාවේ පිහිටුවා ගත් ජනපද

| | |
|---|---|
| 1. වර්ජිනියා | 7. රෝඩ් දිවයින |
| 2. මැසචුසෙට්ස් | 8. ඩෙලවෙයාර් |
| 3. නිව්යෝර්ක් | 9. උතුරු කැරොලිනා |
| 4. නිව්හැම්ෂයර් | 10. නිව් ජර්සි |
| 5. මේරිලන්ඩ් | 11. දකුණු කැරොලිනා |
| 6. කනෙක්ටිකට් | 12. පෙන්සිල්වේනියා |
| | 13. ජෝර්ජියා |

1607 වර්ෂයේ දී බ්‍රිතාන්‍යයන් විසින් වර්ජිනියා ජනපදය පිහිටුවීමෙන් ආරම්භ වූ උතුරු ඇමෙරිකාවේ බ්‍රිතාන්‍ය ජනපදකරණය, ශතවර්ෂයක් තරම් කාලයක් පැවතුණි. මෙම කාලයේ දී බ්‍රිතාන්‍ය රජයේ සෘජු මැදිහත්වීමට වඩා එරට සමාගම්, පුද්ගලයන් හෝ පුද්ගල කණ්ඩායම් විසින් ඇමෙරිකන් ප්‍රදේශවල ජනපද පිහිටුවනු ලැබීම කැපී පෙනෙන ලක්ෂණයකි. බ්‍රිතාන්‍ය රජයෙන් මෙම ජනපදකරණ කටයුතු සඳහා අවශ්‍ය අනුමැතිය හා සහාය ලැබුණි. මෙසේ වරින් වර බ්‍රිතාන්‍යයේ සිට උතුරු ඇමෙරිකාවට ගිය පිරිස් 1733 වර්ෂය වන විට ජනපද දහතුනක් පිහිටුවා තිබුණි. එම ජනපද දහතුනෙහි නම් ඉහතින් දක්වා ඇත.

මෙම ජනපද දහතුනෙන් දෙළහක් ආරම්භ වූයේ ක්‍රිස්තු වර්ෂ 1607 - 1682 අතර කාලයේ දී ය. උතුරු ඇමෙරිකාවේ බ්‍රිතාන්‍ය ජනපද දහතුන අතුරෙන් අවසන් ජනපදය ජෝර්ජියාව වේ. එය 1733 වර්ෂයේ දී පිහිටුවන ලදි. මුල් ජනපදවල ස්වභාවය දෙස බලන විට ඒවා එකවිට ආරම්භ වූ ඒවා නො වන බව පෙනේ. එමෙන් ම එකී ජනපද පිහිටුවීමට බලපෑ හේතූන් ද විවිධ විය. යුරෝපයේ ආගමික නිදහස ලබා ගැනීමේ අපේක්ෂාව මෙන් ම වාණිජමය ප්‍රතිලාභ ලබා ගැනීමේ අරමුණ ද ජනපද රැසක් පිහිටුවීමට බලපෑ හේතුවක් විය. ජනගහන සංයුතිය, ජීවන ක්‍රමය හා ආර්ථික කටයුතු අතින් ද මෙකී ජනපද අතර වෙනස්කම් පැවතුණි. මෙබඳු විෂමතා පැවති නමුත් 18 වන සියවස මැද වන විට ඉංග්‍රීසි භාෂාව කථා කළ එම සංස්කෘතියට අනුව හැඩගැසුණු වෙන ම ජන කොටසක් ලෙස මෙම ජනපදවාසීහු ඉස්මතු වීමට පටන් ගත්හ.

### ඇමෙරිකන් ජනපද හා බ්‍රිතාන්‍ය පාලනය

උතුරු ඇමෙරිකානු ප්‍රදේශවල බ්‍රිතාන්‍ය ජනපද පිහිටුවූයේ බ්‍රිතාන්‍ය සමාගම් හා විවිධ පුද්ගලයන්ගේ මැදිහත්වීම මත බව ඉහත සඳහන් කෙරිණි. මෙසේ ජනපද පිහිටුවීමට මූලික වූවෝ ඒ සඳහා බ්‍රිතාන්‍ය රජයෙන් අවසර පත්‍ර ලබා ගත්හ. එහි දී කොන්දේසි කිහිපයක එකඟතාව ඇතිව ජනපද පිහිටුවූහ. බ්‍රිතාන්‍ය රජයේ ආධිපත්‍යය පිළිගත යුතු බවත් මව් රටේ නීතිය නව ජනපදවල ද අනුගමනය කළ යුතු බවත් එම කොන්දේසිවලට ඇතුළත් විය. ජනපදවල පාලනය මෙහෙයවන ලද්දේ එක් එක් ජනපදයට පත් කළ ආණ්ඩුකාරවරයෙකු විසිනි. ඔහුගේ සහායට ඒ ඒ ජනපදයෙන් තෝරා ගත් ව්‍යවස්ථාදායක සභාවක් පැවතිණ. බ්‍රිතාන්‍යය හා ඇමෙරිකාව අතර පැවති අධික දුර ප්‍රමාණයත් දියුණු පණිවිඩ හුවමාරු ක්‍රම එකල නො තිබීමත් නිසා ස්වකීය කටයුතු කරගෙන යාමේ දී ජනපදවාසීහු තරමක් නිදහස් පාලනයක් පවත්වාගෙන ගියහ. මව්රටට ඈතින් පිහිටීමත් යුරෝපයේ දී විවිධ සටන්වලට මැදි වී සිටීමත් නිසා බ්‍රිතාන්‍යයට ජනපදවල කටයුතු කෙරෙහි ප්‍රමාණවත් අවධානයක් යොමු කළ නොහැකි වීම ඊට මුල් විය. 1763 වර්ෂය පමණ වන තෙක් ඇමෙරිකානු ජනපද සම්බන්ධව බ්‍රිතාන්‍ය දේශපාලන ප්‍රතිපත්තිය ඉතා ලිහිල්ව පැවති බව පෙනේ. එම තත්ත්වය ජනපදවාසීන් තුළ නිදහස පිළිබඳ ආකල්පය වර්ධනය වීමට ද බලපෑ කරුණක් විය. එහෙත් ජනපදවාසීන් මුහුණ දුන් ගැටලු නිසා ඔවුන්ට බ්‍රිතාන්‍ය සහාය ද අවශ්‍ය විය.

1763 වර්ෂයට පෙර ආරක්ෂාව සම්බන්ධයෙන් ඇමෙරිකන් ජනපදවාසීන් මුහුණදුන් ගැටලු දෙකක් තිබුණි. ප්‍රංශවරුන්ගේ තර්ජනය පළමු වැන්න යි. බ්‍රිතාන්‍ය ජනපදවලට උතුරින් ප්‍රංශ බලය ව්‍යාප්තව පැවති හෙයින් ද ඔවුන් තම බලය පැතිරවීමට උත්සාහ කළ හෙයින් ද ජනපදවාසීන්ට බ්‍රිතාන්‍යයේ ආරක්ෂාව අවශ්‍ය වී තිබුණි. ක්‍රිස්තු වර්ෂ 1756 - 1763 කාලයේ ප්‍රංශය හා බ්‍රිතාන්‍යය අතර යුද්ධයක් පැවතුණි. එය හත් අවුරුදු යුද්ධය නමින් හැඳින්වේ. මෙම යුද්ධයෙන් ප්‍රංශය පරාජයට පත් විය. අනතුරුව බ්‍රිතාන්‍යය හා ප්‍රංශය අතර සාම ගිවිසුමක් අත්සන් කිරීම නිසා ජනපදවාසීන්ට තිබූ ප්‍රංශ තර්ජන ද අවසන් විය. ඇමෙරිකානු ජනපද බටහිරට ව්‍යාප්ත වීමට පැවති ප්‍රධාන බාධකය වූයේ රතු ඉන්දියානු තර්ජන වේ. ප්‍රංශවරු බලවත්ව සිටි කාලයේ දී බ්‍රිතාන්‍යයන්ට විරුද්ධව ප්‍රංශ ජාතිකයන් සමඟ සබඳතා පවත්වාගෙන යාමට රතු ඉන්දියානුවන්ට හැකියාව තිබුණි.

එහෙත් ප්‍රංශයේ පරාජයත් සමග එම තත්ත්වය වෙනස් විය. අනතුරුව බ්‍රිතාන්‍යය විසින් ක්‍රියාත්මක කළ ප්‍රතිපත්ති නිසා රතු ඉන්දියානු තර්ජන ද අවම විය.

මෙසේ හත් අවුරුදු යුද්ධයෙන් ප්‍රංශය පරාජය වී උතුරු ඇමෙරිකාවේ ප්‍රංශ බලය බිඳ වැටීමත් අනතුරුව ක්‍රියාත්මක කළ ආරක්ෂක උපාය මාර්ගත් එමගින් රතු ඉන්දියානු තර්ජන අඩු වී යාමත් නිසා ජනපදවල ආරක්ෂාව සම්බන්ධයෙන් ඇමරිකානු ජනපද වාසීන්ට බ්‍රිතාන්‍ය සහාය තවදුරටත් අත්‍යවශ්‍ය කරුණක් නො වී ය.

**නිදහස් සටනට බලපෑ හේතු**

ඇමෙරිකන් ජනපද සම්බන්ධ බ්‍රිතාන්‍ය ආර්ථික ප්‍රතිපත්තිය හා වෙළෙඳ කටයුතු මව් රටට වාසි ලැබෙන ආකාරයෙන් ක්‍රියාත්මක කෙරිණ. ඒ අනුව බ්‍රිතාන්‍යයේ නිෂ්පාදනය කරන ද්‍රව්‍ය ඇමරිකන් ජනපද තුළ නිපදවීම තහනම් විය. ඒ හැරෙන්නට ජනපදවල නිපදවන ලද දුම්කොළ, සීනි, කපු, මී ඉටි, තිරිඟු, තඹ වැනි ද්‍රව්‍ය බ්‍රිතාන්‍යයට පමණක් ලබා දිය යුතු විය. එසේ නම් කොට තිබූ භාණ්ඩ හැර සෙසු ද්‍රව්‍ය වුව ද අපනයනය කළ හැකි වූයේ ඒවා බ්‍රිතාන්‍යයට යවා ඒ හරහා අදළ රටට යැවීමෙනි. එසේ ම නිෂ්පාදන කටයුතු හෝ වෙළෙඳාම අතින් මෙම ජනපද මව් රට සමග තරග නො කළ යුතු යැයි ද නියමයක් තිබුණි. මෙම ප්‍රතිපත්තිවලින් ජනපදවාසීන්ට ආර්ථික වශයෙන් පාඩු සිදු වූවත් බ්‍රිතාන්‍ය නිසා ඔවුන්ට ස්ථාවර වෙළෙඳපොළක් ලැබී තිබුණි. එසේ ම මුල් කාලයේ දී බ්‍රිතාන්‍යය නීති රීති යටත් ප්‍රදේශවල දැඩි ලෙස ක්‍රියාත්මක නො වූ බැවින් සිදු වන පාඩු අවම කර ගැනීමට වෙනත් ජාතීන් සමග හොර වෙළෙඳාම්වල නිරත වීමට හැකියාව ලැබිණ. මෙබඳු කරුණු නිසා 1763 වර්ෂය පමණ වන තෙක් බ්‍රිතාන්‍ය ආර්ථික පිළිවෙත හා නීති රීතිවලට එරෙහිව ඇමෙරිකන් ජනපදවලින් ප්‍රබල විරෝධයක් මතු වූයේ නැත. එහෙත් 1763 වර්ෂයෙන් පසුව බ්‍රිතාන්‍යය විසින් හඳුන්වා දුන් නව නීති රීති නිසා ජනපදවාසීන් හා මව් ආණ්ඩුව අතර මත ගැටුම් ඇති විය. එය නිදහස පිළිබඳ හැඟීම් වර්ධනය වීමට බලපෑ කරුණකි.

හත් අවුරුදු යුද්ධය සඳහා බ්‍රිතාන්‍යයට විශාල වියදමක් දැරීමට සිදු වූ හෙයින් එරට ණය බර ඉහළ ගියේ ය. එම ණය හා පොළිය සඳහා මුදල් සපයා ගැනීමේ දී ඇමෙරිකන් ජනපද විසින් ද කොටසක් දැරිය යුතු බව බ්‍රිතාන්‍යයේ ආකල්පය විය. මේ නිසා බ්‍රිතාන්‍ය අගමැති ජෝර්ජ් ග්‍රැන්විල්, ඇමෙරිකන් ජනපදවලින් අය කළ තීරු බදු ක්‍රමානුකූලව අය කර ගැනීමට පියවර ගත්තේ ය. ජනපදවල හොර වෙළෙඳාම නතර කිරීම සඳහා නාවික මුර සේවා ද තර කළේ ය. මීට අමතරව ආදයම වැඩි කර ගැනීම සඳහා නව බදු පනත් කිහිපයක් පැනවීමට ද ග්‍රැන්විල් ක්‍රියා කළේ ය. 1764 -1765 වර්ෂ අතරතුර කාලයේ පැනවූ එබඳු පනත් තුනකි.

1. සීනි පනත
2. මුදල් නෝට්ටු පනත
3. මුද්දර පනත.

සීනි පනත අනුව හොර වෙළෙඳාම නතර කිරීමට බ්‍රිතාන්‍ය නාවුක හමුද පෙරට වඩා වෙරළබඩ ප්‍රදේශවලට යැවූ හෙයින් ජනපදවාසීන් සමග ගැටුම් ඇති විය. මුදල්

නෝට්ටු පනත අනුව ණය ගෙවීම සඳහා ජනපදවලට මුදල් නෝට්ටු නිකුත් කිරීම තහනම් කෙරිණ. මේ නිසා රිදී හෝ රත්රන්වලින් එම මුදල් ගෙවීමට ජනපදවාසීන්ට සිදු විය. ජනපද වැසියන් මෙම පනත්වලට විරෝධය දක්වන අතරතුර ම 1765 වර්ෂයේ දී බ්‍රිතාන්‍ය විසින් මුද්දර පනතක් ද පනවන ලදි. මේ පනත අනුව සියලු නීතිමය ලියවිලි, බලපත්‍ර, ඔප්පු හා වෙනත් මුද්‍රිත ලේඛනවලින් මුද්දර බද්දක් අය කිරීමට නියම විය. මුද්දර බද්ද ඇමෙරිකන් සමාජයේ වෙළෙඳුන්, නීතිඥයන්, මුද්‍රණකරුවන් වැනි ඉහළ තත්ත්වයන් ඉසුලූ පුද්ගලයන්ටත් බලපෑ හෙයින් ඔවුහු විරෝධතා සංවිධානය කිරීමට ඉදිරිපත් වූහ. මේ පනතට එරෙහිව ප්‍රබල විරෝධයක් මතු වූ අතර ඇමෙරිකන් ජනතාව මුද්දර වර්ජනය කිරීමට ද පෙළඹුණි. මෙම විරෝධතා සංවිධානය කිරීමේ දී ජනපද අතර එක්සත්කමක් ඇති වීමත් කැපී පෙනෙන ලක්ෂණයකි. බ්‍රිතාන්‍යය ඉහත සඳහන් බදුවලට අමතරව තේ, වීදුරු, කඩදාසි ආදිය සඳහා තීරු ගාස්තු අය කිරීම පිළිබඳ වත් ඇමෙරිකාව තුළ විරෝධතා මතු විය. බ්‍රිතාන්‍යයන් විසින් පනවන ලද තවත් පනතක් අනුව ඇමෙරිකාවේ සිටි බ්‍රිතාන්‍ය සේනාංකවලට වාසස්ථාන සැපයීම, මූල්‍ය ප්‍රතිපාදන ලබා දීම ඇතුළු පහසුකම් සැපයීම ජනපදවලට පැවරිණ. මෙම නීති රීතිවලට එරෙහිව ජනපදවාසීන් උද්ඝෝෂණය කරන විට ඒවා මර්දනය කිරීමට ඇතැම් ජනපදවල ව්‍යවස්ථාදායක සභා විසුරුවා හැරීම වැනි මර්දනකාරී ක්‍රියා ද බ්‍රිතාන්‍යය විසින් දියත් කරන ලදි. මේ නිසා ඇමෙරිකන් ජනතාව බ්‍රිතාන්‍යයෙන් නිදහස ලබා ගැනීමේ අරමුණෙන් සංවිධානය වීමට හා සටන් කිරීමට පෙළඹුණහ. මෙම තත්ත්වයන් සමාලෝචනය කර බලන විට ඇමෙරිකන් විප්ලවයට තුඩු දුන් හේතු කිහිපයක් මෙසේ කෙටියෙන් දැක්විය හැකි ය.

**ඇමරිකන් විප්ලයට තුඩු දුන් හේතු :-**

- ඇමෙරිකන් ජනපදවාසීන් කාලයක් තිස්සේ බ්‍රිතාන්‍යය මැදිහත්වීම අඩු වශයෙන් පැවති පාලනයකට හුරු වී සිටීම
- බ්‍රිතාන්‍යය අනුගමනය කළ තම රටට වාසි දයක ආර්ථික ප්‍රතිපත්තිය
- ජනපදවාසීන්ගේ සිතුම් පැතුම් හා ආකල්ප බ්‍රිතාන්‍ය පාලකයන් විසින් නිසි ලෙස අවබෝධ කරගෙන නො සිටීම
- 1763න් පසුව පැනවූ අණ පනත් හා නව බදු වර්ග
- ජනපදවාසීන්ගේ සාධාරණ සටන් මර්දනය කිරීමට බ්‍රිතාන්‍යය කටයුතු කිරීම
- නිදහස පිළිබඳ ජනපද වැසියන් තුළ ඇති වූ උනන්දුව

**නිදහස් සටන**

1763 වර්ෂයෙන් පසුව බ්‍රිතාන්‍යය විසින් හඳුන්වා දෙන ලද නව අණ පනත් හා බදු වර්ගවලට එරෙහිව ඇති වූ විරෝධතාවලින් ජනපදවාසීන් තුළ නිදහස් සටන සඳහා පෙළඹවීමක් ඇති වූ බව පෙනේ. නව පනත් අතුරින් ප්‍රබලතම විරෝධයක් මතු වූයේ මුද්දර පනත සම්බන්ධයෙනි. එහි දී මුද්දර පමණක් නො ව බ්‍රිතාන්‍ය භාණ්ඩ වර්ජනය කිරීම දක්වා ද විරෝධතා වර්ධනය විය. එවකට බ්‍රිතාන්‍යයේ පැවති සම්ප්‍රදය අනුව බදු පැනවීමේ බලය හිමි වූයේ මහජන නියෝජිතයන්ගෙන් සැදුම්ලත් පාර්ලිමේන්තුව වෙතට ය.

එහෙත් ඇමෙරිකන් ජනපද වෙනුවෙන් නියෝජිතයන් සහභාගි නො වූ බැවින් තම රට වෙනුවෙන් බදු පැනවීමට බ්‍රිතාන්‍ය පාර්ලිමේන්තුවට බලයක් නොමැති යැයි ජනපද වැසියන් අතර මතයක් ඇති විය. මෙම මතය ඇමෙරිකන් ජනපද පුරා ප්‍රචාරය වූ අතර එමගින් **නියෝජනයක් නැත්නම් බදුත් නැත** යන සටන් පාඨය බිහි විය. එය ඇමෙරිකන් නිදහස් සටනේ සටන් පාඨය බවට පත් විය. මේ අනුව ආර්ථික කරුණු මත ඇති වූ විරෝධතා දේශපාලන ප්‍රශ්නයක් බවට පෙරළිණ.

මුද්දර පනතට එරෙහිව ඇති වූ ප්‍රබල විරෝධතා නිසා බ්‍රිතාන්‍ය රජය විසින් එය අවලංගු කරන ලදි. එහෙත් ඇමෙරිකානු ජනපද සම්බන්ධයෙන් නීති පැනවීමට බ්‍රිතාන්‍ය පාර්ලිමේන්තුවට බලය ඇති බව ප්‍රකාශයට පත් කෙරිණ. මුද්දර බදු වැනි සෘජු බදුවලට ඇමෙරිකන් ජනතාව විරුද්ධ බව තේරුම් ගත් බ්‍රිතාන්‍ය රජය තම ආදායම තර කර ගැනීම සඳහා 1767 වර්ෂයේ තීරු බදු වර්ග කිහිපයක් පැනවී ය. මේ අනුව ඇමෙරිකාවට ආනයනය කළ වීදුරු, ඊයම්, කඩදාසි හා තේ වැනි භාණ්ඩවලට තීරු ගාස්තු නියම කෙරුණි. මෙම තීරු බදු එකතු කර ගැනීමට බ්‍රිතාන්‍ය රජය දැරූ උත්සාහයත් ජනපදවාසීන් ඊට එරෙහිව දැක්වූ විරෝධතාවත් නිසා දෙපක්ෂය අතර ගැටුම් කිහිපයක් ඇති විය. බොස්ටන්හි දී ජනපදවාසීන් දැක්වූ විරෝධතාවකට බ්‍රිතාන්‍ය හමුදා වෙඩි තැබීමෙන් පස් දෙනෙක් මිය ගියහ. මෙබඳු ක්‍රියා නිසා ඇමෙරිකන් ජනතාව තුළ බ්‍රිතාන්‍ය විරෝධී හැඟීම් වර්ධනය විය. ජනපදවාසීන් බ්‍රිතාන්‍ය භාණ්ඩ වර්ජනය කිරීම නිසා ඉහත දැක්වුණු තීරු බදුවලින් ලැබුණු ආදායමට වඩා කිහිප ගුණයක පාඩුවක් ලැබීමට බ්‍රිතාන්‍යයට සිදු විය. මේ නිසා 1770 වර්ෂයේ දී තේ බද්ද හැර ඉතිරි තීරු බදු සියල්ල අහෝසි කෙරිණ. තේ බද්ද තවදුරටත් ක්‍රියාත්මක කළේ ලාභයක් ලැබීමට වඩා ඇමෙරිකාව වෙනුවෙන් බදු පැනවීමට බ්‍රිතාන්‍යයට ඇති අයිතිය පෙන්වීම සඳහා පමණි.

1773 වර්ෂයේ දී බ්‍රිතාන්‍යය පැනවූ තවත් පනතකින් ඇමෙරිකන් ජනපදවලට තේ සැපයීම පිළිබඳ තනි අයිතිය එක් සමාගමකට පමණක් පැවරිණි. මේ නිසා ඇමෙරිකන් වෙළෙඳුන්ගේ සාම්ප්‍රදායික තේ වෙළෙඳාමට පහර වැදුණි. මෙමගින් කුපිත වූ ඇතැම් ඇමෙරිකානුවෝ බ්‍රිතාන්‍ය වෙළෙඳ සමාගම් විසින් ඇමෙරිකාවට තේ ගොඩබෑම ද අවහිර කළහ.

1773 වර්ෂයේ දෙසැම්බර් මාසයේ දී බොස්ටන් වරායේ නවතා තිබූ තේ නැවකට වෙස්වලාගෙන ඇතුළු වූ බොස්ටන් වැසියන් පිරිසක් එහි තිබූ තේ පෙට්ටි 342ක් මුහුදට විසි කර දැමූහ. **බොස්ටන් තේ සාදය** නමින් ප්‍රචලිත මෙම සිදුවීම ඇමෙරිකන් විප්ලවයේ ආරම්භය ලෙස සැලකේ. මෙයට ප්‍රතිචාර වශයෙන් තේවල වන්දිය ගෙවන තෙක් බොස්ටන් වරාය වසා දැමීමට බ්‍රිතාන්‍යයෝ කටයුතු කළහ. ඊට අමතරව විවිධ නීති රීති පනවමින් ජනපදවාසීන්ගේ අදහස් නො තකා මැසචුසෙට්ස් හා ජෝර්ජියා වැනි ජනපදවල පාලන ප්‍රතිසංවිධානය කිරීමට ද පියවර ගැනුණි. බ්‍රිතාන්‍යය අනුගමනය කළ මෙම මර්දනකාරී පිළිවෙත නිසා කෝපයට පත් ජනපදවාසීහු 1774 වර්ෂයේ දී පිලඩෙල්පියා නගරයට රැස්ව සම්මේලනයක් පැවැත්වූහ. ඇමෙරිකානු විප්ලවය පිළිබඳ ඉතිහාසයේ එය ප්‍රථම මහාද්වීපික සම්මේලනය ලෙස ද හැඳින්වේ.



රූපය 7.2 - බොස්ටන් තේ සාදය

පිලඩෙල්පියා සම්මේලනය ඇමෙරිකන් නිදහස් සටනේ වැදගත් අවස්ථාවකි. ජනපද 12ක නියෝජිතයන් සහභාගී වූ මෙම සමුළුවේ දී ඇමෙරිකන් ජනපද වෙනුවෙන් නීති පැනවීමට හෝ බදු අය කිරීමට බ්‍රිතාන්‍ය පාර්ලිමේන්තුවට බලයක් නැතැයි ප්‍රකාශ විය. එසේ ම බ්‍රිතාන්‍ය භාණ්ඩ වර්ජනය කිරීමටත් ආරක්ෂාව පතා ජනපදවාසීන් සන්නද්ධ විය යුතු බවටත් මෙහි දී යෝජනා සම්මත කර ගැනිණ. මෙයින් පසුව බ්‍රිතාන්‍ය රජය හා ඇමෙරිකන් ජනපද අතර සටන ක්‍රමයෙන් උග්‍ර අතට හැරිණ. 1775 වර්ෂයේ දී ඇමෙරිකාවේ ලෙක්සින්ටන් නගරයේ දී දෙපක්ෂයේ හමුද අතර අවි ගැටුමක් ඇති වී මරණ රැසක් සිදු විය. අනතුරුව පිලඩෙල්පියා නගරයට නැවතත් රැස් වූ ජනපදවල නියෝජිතයෝ (ජනපද භටයන්) මහාද්වීපික හමුදවක් ලෙස සංවිධානය කිරීමට තීරණය කොට එම හමුදවේ අණදෙන නිලධාරි තනතුරට **ජෝර්ජ් වොෂින්ටන්** පත් කර ගත්හ. ඇමෙරිකන් නිදහස් සටනට විදේශ ආධාර ලබා ගැනීම සඳහා කටයුතු කිරීමට ද එහි දී කමිටුවක් පත් කර ගැනිණ.

බ්‍රිතාන්‍ය හමුදවට මුහුණ දීමට අවශ්‍ය පසුබිම සකස් කර ගැනීමෙන් පසු ජනපදවල ඒකාබද්ධ නියෝජිත සභාව විසින් 1776 වර්ෂයේ ජූලි 04 දින ඇමෙරිකන් නිදහස් ප්‍රකාශය නිකුත් කරන ලදි. උපතින් ම මිනිසා සතු අහිමි කළ නො හැකි අයිතිවාසිකම් රැසක් පවතින බවත් ඒවා ආරක්ෂා කර ගැනීම සඳහා මිනිසා ආණ්ඩු පිහිටුවන බවත් සඳහන් කළ එම ලියවිල්ල මගින් ඇමෙරිකාව බ්‍රිතාන්‍ය අධිරාජ්‍යයෙන් වෙන් වූ නිදහස් රාජ්‍යයක් බව ප්‍රකාශයට පත් කෙරිණ. මීට එකඟ නො වූ බ්‍රිතාන්‍යයෝ ඇමෙරිකා ජනපදවලට එරෙහිව සටන් ආරම්භ කළහ. එම ගැටුම වසර කිහිපයක් පැවතුණි. සටන් ආරම්භ වී මුල් වසර දෙක තුළ බ්‍රිතාන්‍ය හමුදව ජයග්‍රහණ කිහිපයක් ලැබූ නමුත් පසුව බොහෝ විට බ්‍රිතාන්‍ය සටන් අසාර්ථක විය. සැතපුම් දහස් ගණනක් දුර නුහුරු නුපුරුදු ප්‍රදේශයක සටන් කිරීමට සිදු වූ බැවින් බ්‍රිතාන්‍ය හමුදවෝ දැඩි දුෂ්කරතාවලට මුහුණ දුන්හ. මෙම දෙපක්ෂය අතර සටන්වල දී ප්‍රංශය ඇමෙරිකන් හමුදවට සහාය ලබා දීමට ඉදිරිපත් විය. පසුව ස්පාඤ්ඤය හා ඕලන්දය ද බ්‍රිතාන්‍ය විරෝධී පිලට එකතු විය. මේ නිසා ඇමෙරිකන් නිදහස් සටන බ්‍රිතාන්‍යයට අවාසිදයක තත්ත්වයට පෙරළිණ. ඇමෙරිකාව ඇතුළත සිදු වූ

සටන් කිහිපයකින් ම තමන් පරාජයට පත්වීම නිසා 1783 වර්ෂය වන විට බ්‍රිතාන්‍යය සාම සාකච්ඡාවලට යොමු විය. සාකච්ඡා අවසානයේ 1783 දී අත්සන් කළ පැරිස් සාම ගිවිසුමෙන් ඇමෙරිකාව නිදහස් ස්වාධීන රාජ්‍යයක් ලෙස බ්‍රිතාන්‍යය විසින් පිළි ගන්නා ලදි. මෙසේ ඇමෙරිකන් ස්වාධීනතාව ජාත්‍යන්තර වශයෙන් පිළිගැනීමෙන් පසුව 1789 වර්ෂයේ දී ඇමෙරිකා එක්සත් ජනපදවාසීහු නව ව්‍යවස්ථාවක් සම්මත කර ගත්හ. ඒ අනුව ජෝර්ජ් වොෂින්ටන් එහි ප්‍රථම ජනාධිපතිවරයා විය.

**නිදහස් සටනේ ප්‍රතිඵල**

බ්‍රිතාන්‍ය රජය යටතේ වෙන්ව පාලනය වූ ජනපද දහතුනක් එක්සත්ව සටන් කිරීමෙන් නිදහස දිනා ගැනීම ලෝක ඉතිහාසයේ වැදගත් සිදුවීමකි. එම අවධිය වන විට ආසියා හා ඇමෙරිකා මහද්වීප තුළ යුරෝපා රටවල යටත් විජිත වශයෙන් පැවති තවත් රටවල් රැසක් තිබුණි. ඇමෙරිකා නිදහස් සටන එම යටත් විජිතවලට ද කිසියම් ආදර්ශයක් සැපයී ය. ඇමෙරිකන් විප්ලවය නිසා ඇති වූ ප්‍රතිඵල කිහිපයක් පහත දැක්වේ.

- ඇමෙරිකා එක්සත් ජනපදය නම් ස්වාධීන රාජ්‍යය බිහි වීම.
- සමස්ත මානව සංහතියට ම නිදහසේ අගය පෙන්වා දුන් අවස්ථාවක් වීම
- මූලික මිනිස් අයිතිවාසිකම් පිළිබඳ ලොව පුරා උනන්දුවක් ඇති වීම.
- ලෝකයේ ප්‍රථම ලිඛිත සන්ධීය ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව බිහි වීම.

## 7.2 ප්‍රංශ විප්ලවය

1789 වර්ෂයේ දී ප්‍රංශ රාජාණ්ඩුවට එරෙහිව නැගී සිටි එරට ජනතාව රාජාණ්ඩුව බිඳ දමා නව පාලනයක් පිහිටුවා ගැනීම ප්‍රංශ විප්ලවය නමින් හැඳින්වේ. ප්‍රංශ විප්ලවයේ ප්‍රතිඵලයක් ලෙස මිනිස් අයිතිවාසිකම් පිළිබඳ ප්‍රංශය තුළ ප්‍රබල අවධානයක් යොමු වූ අතර පසුව එය ලෝකයේ සෙසු රටවල්වලට ද බලපෑවේ ය.

දහ අටවන සියවස වන විට ප්‍රංශය යුරෝපයේ කැපී පෙනෙන රටක් විය. විදේශ වෙළෙඳාම හා කාර්මීකරණය අතින් ද ප්‍රංශය සැලකිය යුතු දියුණුවක් ලබා තිබුණි. වෙනත් රටවලට වඩා ප්‍රංශ ගොවීන්ගේ තත්ත්වය ද යහපත් විය. බුද්ධිමය අතින් හා සමාජ චාරිත්‍ර වාරිත්‍ර අතින් ද ප්‍රංශය යුරෝපයේ කැපී පෙනෙන රටක් බවට පත් වී තිබුණි. එහෙත් ප්‍රංශයේ පාලකයන්ගේ දුර්වලතා මත දේශපාලන, සමාජ හා ආර්ථික ප්‍රශ්න රැසක් උද්ගතව තිබුණි. ප්‍රංශයේ රජ කළ 16 වන ලුවී රජු එරට පරිහානියට වගකිව යුත්තන් අතුරින් එක් ප්‍රධාන පුද්ගලයෙකු විය. මෙම පාලකයාගේ දූෂිත පාලනයට එරෙහිව ඉන් පීඩාවට පත් සාමාන්‍ය ජනතාව " නිදහස, සමානාත්මතාව සහ සහෝදරත්වය" යන සංකල්ප පදනම්

කර ගෙන තම අයිතින් ඉල්ලා සටන් වැදුණි. ප්‍රංශ ජනතාව මෙසේ 1789 වර්ෂයේ දී රාජාණ්ඩු පාලනයට එරෙහිව නැගී සිටියේ එම පාලනයෙන් ඔවුන් දැඩි පීඩාවකට පත්ව සිටි බැවිනි. ප්‍රංශය තුළ එබඳු තත්ත්වයක් නිර්මාණය වීමට බලපෑ හේතු රැසක් පවතී.

## ප්‍රංශ විප්ලවයට බලපෑ දේශපාලන හේතු



රූපය 7.3 - දහසයවන ලුවී රජු

විප්ලවයට පෙර ප්‍රංශයේ පැවතියේ රාජාණ්ඩු ක්‍රමයකි. විප්ලව සමය වන විට ප්‍රංශය පාලනය කරන ලද්දේ බූර්බෝන් රාජ වංශය විසිනි. දහතරවන ලුවී රජු හා දහසයවන ලුවී රජු එම රාජ වංශයේ කැපී පෙනෙන පාලකයන් දෙදෙනෙකි. එරට රජවරු තමන්ට එම පදවිය දේව වරමින් ලැබුණු එකක් සේ සලකා කටයුතු කළහ. රජු වටා ව්‍යවස්ථාදායක විධායක හා අධිකරණ බලතල සියල්ල කේන්ද්‍රගතව තිබුණි. අසීමිත බලයෙන් යුතු වූ දහතරවන ලුවී රජු "රාජ්‍යය නම් මම යි" යනුවෙන් ප්‍රකාශ කළේ ය. "මා අපේක්ෂා කරන ඕනෑ ම දෙයක් නීත්‍යානුකූල යි" යනුවෙන් ද ඔහු ප්‍රකාශ කර ඇත. කිසිදු නඩු විභාගයකින් තොරව ඕනෑ ම අයෙක් අත්අඩංගුවට ගෙන ජීවිතාන්තය දක්වා සිරගත කර තැබීමට රජුට බලය තිබුණි. එසේ සිර ගත කිරීම සම්බන්ධ අසීමිත බලය ප්‍රංශ ජනතාවගේ ඉමහත් අප්‍රසාදයට ලක් විය. රජු මෙම බලය පෞද්ගලික හා දේශපාලන සතුරන් මැඩීමට යොදා ගත් අතර ඔවුන් සිර කර තබන ලද්දේ බැස්ටීල් නම් බන්ධනාගාරයේ ය. මේ නිසා රාජාණ්ඩු ක්‍රමය යටතේ ක්‍රියාත්මක වූ දූෂිත පාලනයේ සංකේතයක් බඳු වූ බැස්ටීල් බන්ධනාගාරයට ප්‍රංශ විප්ලවයේ මුල් ම ප්‍රහාරය එල්ල විය.

රජු ගත කළ අධි සුඛෝපභෝගී ජීවිතය, ජනතා අප්‍රසාදයට බඳුන් වූ තවත් කරුණක් විය. රජු වාසය කළ වර්සෙල්ස් නම් මාලිගය අක්කර ගණනක් පුරා විහිදුණ විශාල එකකි. එය ජලාශ, ජල උද්‍යාන, මල් උද්‍යාන හා අලංකාරයට යෙදූ විවිධ නිර්මාණ ආදියෙන් සමන්විත විය. රජුගේ මාලිගය දෙස බැලීමෙන් රජු ගත කළ අධික සුඛෝපභෝගී ජීවිතය පිළිබඳ කිසියම් අවබෝධයක් ලබාගත හැකි ය.



රූපය 7.4 - වර්සෙල්ස් මාලිගය



රූපය 7.5 - මාලිගයේ උද්‍යානය



රූපය 7.6 - මාලිගයේ ඇතුළ



රූපය 7.7 - මාලිගයේ නිදන කාමරයක්

මෙසේ වෙන ම සුඛෝපභෝගී මාලිගයක තමාට ම විශේෂ වූ වටපිටාවක කල් ගෙවූ බැවින් පොදු ජනතාව හා රජු අතර සබඳතාව බොහෝ දුරස් වී තිබුණි. මාලිගයට ඇතුළු වීම සඳහා සාමාන්‍ය ජනතාවට අවසර නො තිබූ අතර එහි යාමට හැකි වූයේ පූජකවරුන්ට හා රදලයන්ට පමණි. රජු රටේ තොරතුරු දැන ගත්තේ රදලයන් මගිනි. රදලයින් රට හා ජනතාව පිළිබඳ රජු ඉදිරියේ මවා පෑවේ බොහෝ විට වැරදි චිත්‍රයකි.



රූපය 7.8 - වර්සෙල්ස් මාලිගයේ ඉදිරිපස ගේට්ටුව

මෙසේ රජු හා සාමාන්‍ය ජනතාව අතර සම්බන්ධතාව දුරස්වීම ජනතාවගේ කලකිරීමටත් එය විප්ලවයක් දක්වා වර්ධනය වීමටත් හේතු විය.



මාරි ඇන්ටොයිනට් බිසව ඉතා අහංකාර කාන්තාවක් වූවා ය. ඇය රජුගේ අධික බලය හා දුර්වලකම් ප්‍රයෝජනයට ගෙන පාලන කටයුතුවලට ද ඇඟිලි ගසා ඇත.

**රූපය 7.9 - මාරි ඇන්ටොයිනට් බිසව**

රජු ප්‍රමුඛ උපදේශක මණ්ඩලයක් හා එම මණ්ඩලයේ උපදෙස් මත ක්‍රියාත්මක වූ අමාත්‍ය මණ්ඩලයකින් ප්‍රංශ රාජාණ්ඩුව සමන්විත විය. මෙම රාජාණ්ඩුව අතිශයින් ම දූෂිත විය. රදලයන් අත පැවති ප්‍රදේශීය පාලනය අතිශයින් ම අකාර්යක්ෂම විය. එම නිසා රජය විසින් ප්‍රදේශීය පාලනය සඳහා "ඉන්ටෙන්ඩාන්ට්" නම් නිලධාරි පිරිසක් පත් කරනු ලැබ සිටියහ. එහෙත් රදලවරුන් හා නව නිලධාරීන් අතර වූ ගැටුමෙන් පාලනයේ ඒකාබද්ධතාව බිඳී ගොස් සාමාන්‍ය ජනතාව වඩාත් පීඩාවට පත් විය.

කෙතරම් දුෂ්කරතාවට පත් වුව ද රජුගේ ඒකාධිපති බලතලවලට හා රාජාණ්ඩුවේ පාලනයට විරුද්ධ වීමට හෝ තම දුක් ගැනවිලි පැවසීමට හෝ අවස්ථාවක් මහජනතාවට නො වී ය.

ජනතා නියෝජිතයන්ගෙන් සමන්විත "ස්ටේට්ස් ජනරල් සභාව" නම් මණ්ඩලයක් ප්‍රංශයේ පැවති නමුත් එය 1614 සිට වසර 175ක පමණ කාලයකින් කැඳවා නො තිබිණි. මේ නිසා රාජාණ්ඩුවේ තිබූ අකාර්යක්ෂම හා දූෂිත පාලනය ප්‍රංශය තුළ විප්ලවකාරී තත්ත්වයක් ඇති වීමට හේතු වූ බව පෙනේ.

**ප්‍රංශ විප්ලවයට බලපෑ සමාජ හේතු**

විප්ලව සමය වන විට ප්‍රංශයේ පැවැතියේ වැඩවසම් ලක්ෂණ සහිත සමාජ ක්‍රමයකි. වැඩවසම් ක්‍රමය යටතේ විශාල වශයෙන් ඉඩම් අයිති කරගෙන සිටි රදලවරුන්ගේ සහයෝගයෙන් රාජාණ්ඩු පාලන ක්‍රමයක් පවත්වාගෙන යනු ලැබී ය.

විප්ලවාසන්න සමය වන විට ප්‍රංශ සමාජයේ රජ පවුල හැරුණු විට පූජකයන්, රදලයන් හා සාමාන්‍ය ජනතාව වශයෙන් සමාජ ස්ථර තුනක් දක්නට ලැබුණි. පූජකවරු හා රදලයෝ ප්‍රංශ සමාජයේ වරප්‍රසාද ලත් පිරිසක් වූහ. සාමාන්‍ය ජනතාව අතර මධ්‍යම පන්තිය, ගොවි ජනතාව හා කම්කරු ජනතාව වශයෙන් කොටස් තුනක් දක්නට ලැබුණි. රදලවරුන් හා පූජක පිරිස මුළු ජනගහනයෙන් සුළුතරය වූ අතර බහුතරය සාමාන්‍ය ජනතාව විය. මධ්‍යම පන්තිය යනු වෙළෙඳාම හා වෙනත් ව්‍යාපාරික කටයුතුවලින් ධනවත් වූ පිරිසකි. එහෙත් ඔවුන්ට දේශපාලන වශයෙන් වැදගත්කමක් ලැබී නො තිබිණි.

බ්‍රිතාන්‍යය වැනි රටවල මේ අවධිය වන විට මධ්‍යම පන්තියට දේශපාලන බලතල ලැබී තිබුණි. එහෙත් ප්‍රංශයේ රදලයන් සතු වූ අධිපතිවාදී බලතල නිසා මධ්‍යම පාන්තිකයෝ කලකිරී සිටියහ.

බදු ගෙවීමෙන් නිදහස් වූ පූජකවරු සාමාන්‍ය ජනතාවගෙන් බදු ලබන පිරිසක් වූහ. මේ නිසා බොහෝ පූජකවරු ඉතා ධනවත්ව සිටියහ. ප්‍රංශයේ ඉඩම්වලින් වැඩි ප්‍රමාණයක් රදලයන් සතු විය. රදලයන් භුක්ති විඳි වරප්‍රසාදවලින් කිහිපයක් පහත දැක්වේ.

- ❖ රටේ ඕනෑ ම ස්ථානයක දඩයම් කිරීමට ඔවුන්ට අයිතියක් තිබුණි.
- ❖ රදලයන් සතු ධාන්‍ය ඇඹුරුම්හල්, වයින් පෙරන යන්ත්‍ර, පෝරණු ආදියෙන් ගොවියන් සිය අවශ්‍යතා ඉටු කර ගත යුතු වූ අතර ඒ සඳහා අධික ගාස්තු අය කිරීමෙන් රදලයන්ට විශාල ආදායමක් ලැබුණි.
- ❖ ගොවීන්ගේ ඉඩම්වලින් බදු අය කර ගැනීමේ අයිතිය රදලයන් සතු විය.
- ❖ රජයට බදු ගෙවීමෙන් රදලයෝ නිදහස් වූහ.

ප්‍රංශ සමාජයේ ධනයෙන් හා උගත්කමින් ඉදිරියෙන් සිටි පිරිස වූයේ මධ්‍යම පන්තිය යි. එහෙත් එම මට්ටම අනුව සමාජයේ තැනක් ඔවුනට හිමි නො වී ය. උගත්කමින් ඉහළ මට්ටමක සිටිය ද රජයේ නිලතල ඔවුනට හිමි නො වූ අතර ඒවා රදලයන්ට සීමා වී පැවතුණි. කෙනෙකුගේ තත්ත්වය මැනිය යුත්තේ උපත අනුව නො ව හැකියාව මත ය, යන අදහස ඇති වූයේ මේ නිසා ය. ප්‍රංශ විප්ලව සමයේ සමානාත්මතාව යන්නෙන් අදහස් කරන ලද්දේ මෙය යි.

ප්‍රංශයේ වරප්‍රසාද අහිමි සාමාන්‍ය ජනතාව අතරින් මහත් පීඩාවට පත් පිරිස වූයේ ගොවි ජනතාව යි. ඔවුහු ප්‍රංශ ජනගහනයෙන් 92%ක් නියෝජනය කළෝ ය. ඔවුන්ට රදළයන් වෙත අසාධාරණ ලෙස බොහෝ බදු ගෙවීමට සිදු විය. බදු බර හා ජීවත්වීම යන ගැටලුවලින් ඔවුහු දැඩි පීඩාවට පත්ව සිටියහ.

## ප්‍රංශ විප්ලවයට බලපෑ ආර්ථික හේතු

විප්ලව සමය වන විට ප්‍රංශ භාණ්ඩාගාරය සම්පූර්ණයෙන් ම බංකොලොත් වී තිබුණි. ඊට බලපෑ හේතු කිහිපයක් මෙපරිදි ය.

- රජුගේ සහ රජ පවුලේ සුඛෝපභෝගී ජීවිතය සඳහා වැය වූ අධික වියදම්
- අනවශ්‍ය යුධ වියදම්

බ්‍රිතාන්‍ය, ප්‍රංශ සත් අවුරුදු යුද්ධයට සහභාගී වී පරාජයට පත්වීම සහ ඇමෙරිකන් නිදහස් සටනට සහයෝගය දීම නිසා ප්‍රංශයට ආර්ථික වශයෙන් පාඩු විඳීමට සිදු විය.

- අසාධාරණ බදු ක්‍රමය

ප්‍රංශයේ පැවති අධික බදු බර ප්‍රංශ විප්ලවයට බලපෑ තවත් ප්‍රධාන හේතුවක් විය. ප්‍රංශයේ සාමාන්‍ය වැසියන් තම ආදායමෙන් 60%ක් පමණ බදු වශයෙන් ගෙවිය යුතු විය. මහජනතාව පීඩාවට පත් කළ බදු වර්ග රැසක් ප්‍රංශයේ පැවතුණි. ටේල්, ගැබෙල් හා කැපිටේෂන් යන බදු වර්ග තුන ඊට උදාහරණ වේ.

- **ටේල්** - සාමාන්‍ය ජනතාවගේ නිවාස හා ඉඩම්වලින් අය කළ බද්දකි. මෙම බදු වර්ගය ප්‍රදේශයෙන් ප්‍රදේශයට වෙනස් විය. ලියෝන් පැරිස් වැනි නගර මෙම බද්දෙන් නිදහස් කර තිබුණි.
- **ගැබෙල්** - ලුණුවලින් අය කළ බද්දකි. සෑම වැඩිහිටි අයෙක් ම වසරකට ලුණු රාත්තල් හතක් මිල දී ගත යුතු විය. ලුණු මිල ප්‍රදේශයෙන් ප්‍රදේශයට වෙනස් විය. මේ නිසා මිල අඩු ප්‍රදේශවල සිට මිල වැඩි ප්‍රදේශවලට හොරෙන් ලුණු ප්‍රවාහනය කෙරිණ. ලුණු විකිණීම රජයේ ඒකාධිකාරයක් වූ බැවින් හොරෙන් ලුණු ප්‍රවාහනය කළ දහස් ගණන් පිරිස් බන්ධනාගාර ගත කර තිබුණි.
- **කැපිටේෂන්** - සෑම දෙනෙකුගෙන් ම අය කරන බද්දක් ලෙස 1695 දී හඳුන්වා දී තිබුණි. එහෙත් ක්‍රියාත්මක වීමේ දී එම බදු බර ද සාමාන්‍ය ජනතාව පිට ම පැවරිණ.

ප්‍රංශයේ පැවැති ප්‍රදේශ පදනම් කරගත් පාලන ක්‍රමය නිසා පළාතෙන් පළාතට ක්‍රියාත්මක වූ නීති රීති, බදු ක්‍රම වෙනස් විය. මේ තත්ත්වය ප්‍රංශයේ අභ්‍යන්තර හා බාහිර වෙළෙඳාමට ද, ආර්ථික සංවර්ධනයට ද විශාල බාධාවක් විය. වෙළෙඳ කටයුතුවල නිරත වූ මධ්‍යම පාන්තිකයන්ට මේ නීති රීති හා බදු නිසා අධික බදු මුදලක් ගෙවීමට සිදු විය. දකුණු ප්‍රංශයේ සිට පැරීසියට වයින් පටවාගෙන ගිය ජල යාත්‍රාවකට ස්ථාන හතළිහක දී බදු ගෙවීමට සිදු වූ අතර ඒ සඳහා වියදමට අමතරව සති දෙකක කාලයක් ගත වූ බව ද

වාර්තා වේ. රාජ්‍ය භාණ්ඩාගාරය බංකොලොත් වීම නිසා මධ්‍යම පන්තිකයන් ආයෝජනය කළ මුදල් සඳහා සුරක්ෂිත බවක් ද නො වී ය. මෙය මධ්‍යම පන්තියේ දියුණුවට බාධාවක් විය. නිර්බාධවාදී (රජයේ මැදිහත්වීම අඩු) ආර්ථික ක්‍රමයක් මධ්‍යම පන්තියේ අපේක්ෂාව විය. එහෙත් මධ්‍යම පන්තිය අපේක්ෂා කළ ක්‍රියාශීලී පාලනය හෝ ආර්ථික සුරක්ෂිතභාවය හෝ ලබා දීමට ප්‍රංශ රාජාණ්ඩුව අපොහොසත් විය. මධ්‍යම පන්තිය විප්ලවයට නායකත්වය දීමට ඉදිරිපත් වූයේ මෙබඳු කරුණු නිසා ය.

### ප්‍රංශ විප්ලවයට බලපෑ දර්ශනික මතවාද



රූපය 7.10 - මොන්ටෙස්ක්‍යු

ගොඩනැගෙමින් තිබූ රාජාණ්ඩු විරෝධී හැඟීම්වලට ප්‍රංශ දර්ශනික මතවාදවලින් නව ජීවයක් ලැබුණි. මොන්ටෙස්ක්‍යු, වෝල්ටෙයාර් සහ රූසෝ යන දර්ශනිකයන්ගේ අදහස් විප්ලවය දිරිමත් කරන චින්තනයන් සැපයී ය.

**මොන්ටෙස්ක්‍යු** "නීතියේ සාරය" නම් තම කෘතිය මගින් එක් පුද්ගලයෙකු වටා බලය ඒකරාශී වීම නුසුදුසු බවත්, ඉන් ඒකාධිපති පාලනයක් ගොඩනැගෙන බවත් ප්‍රකාශ කළේ ය. එනිසා බලය ව්‍යවස්ථාදායක, විධායක හා අධිකරණ ලෙස අංශ තුනකට බෙදිය යුතු බවත් එමගින් ඒකාධිපති පාලනයක් ගොඩනැගීම වැළැක්වෙන බවත් හෙතෙම පෙන්වා දුන්නේ ය.

**වොල්ටෙයාර්** ස්වාධීන මත ප්‍රකාශ කිරීමේ අයිතිය පිළිබඳව අදහස් දැක්වී ය. ඔහු රාජාණ්ඩුවේ හා පල්ලියේ ඒකාධිකාරය දැඩිව විවේචනය කළේ ය.



රූපය 7.11 - රූසෝ

**රූසෝ** "සමාජ සම්මුතිය" නම් සිය ග්‍රන්ථය මගින් ජනතා ස්වාධිපත්‍යය පිළිබඳ සංකල්පය ඉදිරිපත් කළේ ය. රජු මහජනතාවගේ ශුභ සිද්ධිය සඳහා කටයුතු කළ යුතු බවත් එසේ නො වන පාලකයන් පලවා හැරීමේ අයිතිය ජනතාව සතු බවත් හෙතෙම ප්‍රකාශ කළේ ය. ඔහුගේ මෙම අදහස් සමානාත්මතාව සහ ජනතා පරමාධිපත්‍ය යන සංකල්පවල පදනම විය.

මීට අමතරව ඇමෙරිකන් නිදහස් සටනට සහයෝගය දීම සඳහා ගිය ප්‍රංශ සොල්දාදුවන් එම සටන මගින් නිදහස පිළිබඳ සංකල්පය හඳුනාගැනීම හා එය ප්‍රංශය තුළ ක්‍රියාත්මක කිරීමට එකතු වීමත් ප්‍රංශ විප්ලවය සඳහා බලපෑවේ ය.

**විප්ලවය**

1789 වර්ෂය වන විට රාජාණ්ඩුවට එරෙහිව විරෝධතාවන් ගොඩනැගෙමින් තිබූ ප්‍රංශයේ විප්ලවයට ආසන්න හේතුව වූයේ ආණ්ඩුවේ මුදල් අර්බුදය නිසා උද්ගත වූ තත්ත්වය යි. එම තත්ත්වයට පිළියම් වශයෙන් බදු ප්‍රතිසංස්කරණයක් සිදු කළ යුතු විය. ඒ සඳහා ස්ටේට්ස් ජෙනරල් සභාව නම් මන්ත්‍රණ සභාව කැඳවීමට තීරණය කෙළේ ය. මෙම සභාව වසර 175ක් පමණ කාලයක් තිස්සේ කැඳවා නො තිබූ බැවින් සභාවාරය පැවැත්වීම පිළිබඳ ගැටලු පැන නැගුණි. රදල පන්තිය, පූජක පන්තිය හා සාමාන්‍ය ජනතාව නියෝජනය කළ පිරිස් මෙම සභාවට අයත් වූ අතර රදල පන්තිය හා පූජක පන්තිය ඉහළ සභාවක් (උත්තර මණ්ඩලයක්) ලෙස වෙන ම රැස් විය යුතු යැයි රදලයෝ ප්‍රකාශ කළහ. රදලයන්ගේ අරමුණ වූයේ රදල පූජක දෙපිරිස එකතු වී තුන්වන පන්තියේ යෝජනා පරාජය කිරීම යි. රජතුමා රදලයන්ගේ මතයට පක්ෂ වූ අතර තුන්වන පන්තිය එයට විරුද්ධ විය. මෙම අර්බුදය නිසා සාමාන්‍ය ජනතාව නියෝජනය කළ තුන්වන පන්තියේ නියෝජිතයෝ වෙන ම රැස් වූහ.



රූපය 7.12 - බැස්ටීල් බන්ධනාගාරයට පහර දීම

රදලයන්ගේ බලපෑම මත ඔවුන් රැස් වූ ශාලාව වසා දැමීමට රජු කටයුතු කිරීම නිසා ජාතික මණ්ඩලය ලෙස හඳුන්වා ගත් එම පිරිස ගෘහස්ථ ටෙනිස් පිටියකට රැස් වී ප්‍රංශයට නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් සකස් කර මිසක් විසිර නො යන බවට දිවුරුම් දුන්හ. මෙය **ටෙනිස් පිටියේ දිවුරුම** ලෙස හැඳින්වේ. මෙම පිරිසට ප්‍රංශ මහ ජනතාවගේ සහාය ලැබුණි. රාජාණ්ඩුව කෙරේ කලකිරී සිටි පැරීසියේ ජනතාව අවි ආයුධ ගෙන නගරයට රොක් වූහ. 1789 ජූලි 14 දින ප්‍රංශ රාජාණ්ඩුවේ අසාධාරණකම්වල සංකේතයක් ලෙස දිස්වුණ බැස්ටීල් නම් බන්ධනාගාරයට පහර දුන් ඔවුහු එහි සිටි සිරකරුවන් නිදහස් කළහ. එය ප්‍රංශ විප්ලවයේ ආරම්භය විය.

පැරීසියේ ඇති වූ කැරලිකාර තත්ත්වය රට පුරා පැතිරිණ. 16 වන ලුවී රජුට මෙම තත්ත්වය පාලනය කර ගත නොහැකි විය. මේ නිසා රජුගේ බලය බිඳ වැටී මධ්‍ය පාලනය මෙන් ම ප්‍රදේශීය පාලනය ද විප්ලවවාදීන් අතට පත් විය. විප්ලවවාදීහු ලෆායෙට් නම් නායකයා යටතේ ජාතික ආරක්ෂක හමුදාවක් පිහිටුවාගෙන රට පුරා විප්ලවවාදී කමිටු පිහිටු වූහ. විප්ලවවාදීන්ගේ පාලනය යටතේ 16 වන ලුවී රජුට හා මාරි ඇන්ටොයිනට් බිසවට එරෙහිව නඩු විභාගයක් පවත්වා එම දෙදෙනාට ම මරණ දඬුවම ලබා දෙනු ලැබී ය.

**ප්‍රංශ විප්ලවයේ ප්‍රතිඵල**

ප්‍රංශ විප්ලවය නිසා ප්‍රංශයේ දේශපාලන, ආර්ථික හා සමාජීය අංශවල වෙනස්කම් රැසක් සිදු විය. අසහාය රාජාණ්ඩු ක්‍රමයකට හා අසාධාරණ සමාජ - ආර්ථික ක්‍රමයකට එරෙහිව මහජනතාව නැගී සිටි එම විප්ලවය හේතුවෙන් ලෝක දේශපාලන ක්ෂේත්‍රයට විශාල අත්දැකීම් හා ආදර්ශ රැසක් ලැබුණි. එම විප්ලවයේ ප්‍රතිඵල කිහිපයක් පහත දැක්වේ.

⁂ මූලික මිනිස් අයිතිවාසිකම් පිළිබඳ ලොව පුරා උනන්දුවක් ඇති වීම.

ප්‍රංශ විප්ලවවාදීන් විසින් 1791 වර්ෂයේ දී මානව අයිතිවාසිකම් පිළිබඳ ප්‍රකාශනයක් එළි දක්වන ලදි. මූලික මිනිස් අයිතිවාසිකම් යනු ස්වභාවයෙන් ම මිනිසාට හිමි විය යුතු අයිතීන් විනා පාලකයන් ලබා දිය යුතු දෙයක් නො වන බවට එමගින් අර්ථ දැක්විණ. මානව අයිතිවාසිකම් පිළිබඳ එම ප්‍රකාශනයේ සඳහන් වූ අදහස් කිහිපයක් මෙසේ ය.

සෑම මිනිසෙකු ම නිදහස් පුද්ගලයෙකු ලෙස උපත ලබන බැවින් ඔවුන් සියලු දෙනාට සමාන අයිතිවාසිකම් හිමි විය යුතු ය.

- ❖ සෑම රටවැසියෙකුට ම නීති සම්පාදනය කිරීමේ කාර්යයට සම්බන්ධ වීමට අයිතියක් තිබේ.
- ❖ සෑම පුරවැසියෙකුට ම නිදහසේ අදහස් ප්‍රකාශ කිරීමට හා කැමති ආගමක් ඇදහීමට අයිතිය තිබිය යුතු ය.

ප්‍රංශ විප්ලවයේ ප්‍රධාන සටන් පාඨ වූ නිදහස, සමානාත්මතාව හා සහෝදරත්වය යන සංකල්පවලට ඉහත සඳහන් මිනිස් අයිතිවාසිකම් ප්‍රකාශනයේ උපුටන තුන මගින් පිළිගැනීමක් ලැබිණ. ලොව පුරා සමාජ අසාධාරණකම්වලින් පීඩනයට පත්ව සිටි ජනතාවට මෙමගින් මහත් ආශිර්වාදයක් ලැබිණ. එබැවින් පසුව ලෝකයේ බොහෝ රටවල් මූලික මිනිස් අයිතිවාසිකම් පිළිබඳ සංකල්ප, ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා මගින් ම නීති ගත කිරීමට පෙළඹිණ.

ප්‍රංශ විප්ලවය නිසා ප්‍රංශය තුළ ද වෙනස්කම් රැසක් සිදු විය. ඒවා ද විප්ලවයේ ප්‍රතිඵල ලෙස සැලකිය හැකි ය. එබඳු වෙනස්කම් කිහිපයක් පහත දක්වේ.

- ප්‍රංශ රාජාණ්ඩුක්‍රමය බිඳ වැටීම
- ප්‍රංශ ගොවි ජනතාවට සහන ලැබීම
- ප්‍රංශයේ අස්ථාවර දේශපාලන ක්‍රමයක් බිහි වීම

ප්‍රංශ විප්ලවයට නායකත්වය දුන් පිරිස් විවිධ දේශපාලන මත දැරූ අය වූ හෙයින් විප්ලවයෙන් පසුව විටින් විට ආණ්ඩු මාරුවීම් කිහිපයක් සිදු විය. 1789 සිට 1799 දක්වා වර්ෂවල එම තත්ත්වය පැවතුණි. මෙම අස්ථාවර දේශපාලන තත්ත්වය නිසා 1799 වර්ෂයේ දී හමුදා නිලධාරියෙකු වූ නැපෝලියන් බොනපාට් ප්‍රංශයේ බලය අල්ලා ගත්තේ ය. එතැන් සිට ප්‍රංශයේ බිහි වූයේ අලුත් දේශපාලන තත්ත්වයකි.

**ක්‍රියාකාරකම**

ප්‍රංශවාසීන් දිනාගත් මානව අයිතිවාසිකම් යන මාතෘකාව යටතේ රචනාවක් ලියන්න.

## 7.3 රුසියානු විප්ලවය

විසිවන සියවස ආරම්භ වන විට රුසියාව ලෝකයේ ගොඩබිම් භූමි ප්‍රමාණයෙන් හයෙන් එකක පමණ පැතිරී ගිය විශාල අධිරාජ්‍යයක් විය. මෙම විශාල අධිරාජ්‍යය පාලනය කිරීම සඳහා ක්‍රමවත් සංවිධානයක් අවශ්‍ය වී තිබුණි. එවකට සිටි රුසියානු පාලකයෝ හමුදාව, පොලීසිය සහ රහස් පොලීසිය යොදා මෙම විශාල අධිරාජ්‍යය තුළ දැඩි පාලනයක් ගෙන ගියෝ ය. මෙම පාලනයට රුසියාවේ ක්‍රිස්තියානි පල්ලියෙන් ද මහත් පිටිවහලක් ලැබිණි. මේ තත්ත්වය යටතේ රුසියානු පාලකයන් වූ සාර්වරු ඒකාධිපතියන් වශයෙන් කටයුතු කළහ. රුසියාවේ පැවැති වැඩවසම් සමාජ ආර්ථික ක්‍රමය තුළ ජනගහනයෙන් අතිවිශාල පිරිස වූ ගොවි ජනතාව ද දහනව වන සියවසේ කාර්මික දියුණුව නිසා බිහි වූ කම්කරු පන්තිය ද පාලකයන්ගේ පල්ලියේ සහ වංශාධිපතිවරයාගේ ද දැඩි ග්‍රහණයට

ලක්ව සිටියහ. රුසියාව පළමුවන ලෝක යුද්ධයට සම්බන්ධ වීම නිසා ජනතාව තව තවත් පීඩාවට පත් විය. මේ නිසා විප්ලවයේ තේමාව වූයේ සාමය, ඉඩම් හා ආහාර යන්න යි. මෙම තේමා යටතේ 1917 මාර්තු හා ඔක්තෝම්බර් යන මාසවල විප්ලව දෙකක් ඇති විය. සමාජවාදී සමාජයක් ගොඩනැගීමේ අරමුණින් වර්ධනය වූ මෙම විප්ලවය පිළිබඳ සොයා බලමු.

## විප්ලවයට බලපෑ හේතු

විසිවන සියවස ආරම්භ වන විට ප්‍රංශයේ මෙන් රුසියාවේ ද පැවැතියේ දූෂිත ඒකාධිපති රාජාණ්ඩු ක්‍රමයකි. රුසියාවේ රජ කළ සාර් නමින් හැඳින්වූ රජවරු තමන් ගැන පමණක් සිතා ඉතා දූෂිත පාලනයක් ගෙන ගියහ; රජයේ ආදායම් වැඩි කර ගැනීම සඳහා ජනතාව පෙළමින් බදු අය කළහ; ආගම කෙරෙහි වැඩි අවධානයක් යොමු කළ නමුත් ජනතාවගේ ආර්ථික හා සමාජීය ප්‍රශ්න විසඳීමෙහි ලා උනන්දු නො වූහ.

රුසියාවේ ආර්ථික හා සමාජ රටාව දෙස බලන විට එහි පැවතියේ වැඩවසම් සමාජ ක්‍රමය පදනම් කර ගත් කෘෂිකාර්මික ආර්ථික රටාවක් බව පෙනේ. පාරම්පරිකව ඉඩම් අයිතිය රදලවරුන් සතු විය. රටේ සාමාන්‍ය වැසියන් වූ ගොවියෝ ප්‍රවේණිදාසයන් ලෙස වගා කටයුතු කළහ. රදලවරුන් ධනවතුන් වූ අතර ප්‍රවේණිදාසයන් ඔවුන්ගේ දේපළක් ලෙස සැලකිණ. රදලවරුන්ගේ ඉඩම් වගා කිරීම වෙනුවෙන් අස්වැන්නෙන් කොටසක් බදු වශයෙන් රජයට, පල්ලියට සහ රදලයන්ට ගෙවීමට සිදු වීම නිසා ගොවීහු විවිධ ආර්ථික ගැටලුවලට මුහුණ දුන්හ. 19 වන සියවස වන විට රුසියාවේ පැතිර ගිය කාර්මීකරණය නිසා කම්කරු පිරිසක් ද බිහිව සිටියහ. කම්කරුවන්ගේ තත්ත්වය ගොවියන්ට වඩා සතුටුදායක විය. එහෙත් ඔවුන් ඉතා සුළු පිරිසකි. මධ්‍යම පන්තිය ද සුළු පිරිසකගෙන් සමන්විත වූ අතර ඔවුන්ගේ වැඩි දෙනා රජයේ සේවකයෝ වූහ. රුසියාවේ මෙම තත්ත්වය පවතිද්දී 1904 - 1905 අතරතුර කාලයේ දී ජපානය සමග යුද්ධයෙන් රුසියාව පරාජයට පත් විය. එය 1905 දී රාජ්‍ය විරෝධී කැරැල්ලක් ඇති වීමට ආසන්න ම හේතුවක් විය. ගොවි කැරලි හා කම්කරු වර්ජන වශයෙන් 1905 දී ඇති වූ මෙම රාජ්‍ය විරෝධී සටනට නාවික හමුදාවේ කැරලිකරුවෝ ද එකතු වූහ. මෙම සටන ජය ගැනීමට කැරලිකරුවන්ට නො හැකි වුවත් එය රාජ්‍ය විරෝධි සටනක් සඳහා පෙරනිමිත්තක් විය.

ජනතාව රජයට එරෙහිව පෙළ ගැසෙන බව තේරුම් ගත් සාර් පාලකයෝ දේශපාලන ප්‍රතිසංස්කරණ කිහිපයක් ලබා දුන් නමුත් ඉන් තෘප්තිමත් නො වූ ජනතාව නැවත විරෝධතා දක්වන්නට පටන් ගත්හ. එහි දී රජු ප්‍රතිසංස්කරණ නො තකා හැර දැඩි මර්දනකාරී ප්‍රතිපත්තියක් අනුගමනය කළේ ය. එබැවින් එම කැරලි මෙහෙයවූ ලෙනින්ගේ නායකත්වයෙන් යුත් බෝල්ෂෙවික් පක්ෂය ඩූමාව නම් මන්ත්‍රණ සභාවෙන් ඉවත්ව සිය වැඩ කටයුතු රහසිගතව කරගෙන යාමට පටන් ගත්තේ ය. මේ අතර 1914 දී පළමුවන ලෝක මහා සංග්‍රාමය ඇරඹිණි. රුසියාව මිත්‍ර පාර්ශ්වයේ නායකයෙකු වශයෙන් පළමු වන ලෝක යුද්ධයට සම්බන්ධ විය. මේ නිසා රුසියාවට බොහෝ හානි සිදු විය. එහි දී රුසියානු ගොවීන් හා කම්කරුවන් විශාල වශයෙන් හමුදාවට බඳවාගැනීම සිදු විය. එය ඔවුන්ගේ කැමැත්තෙන් සිදු වූවක් නො වී ය. එහි ප්‍රතිඵලයක් වශයෙන් ගොවිතැන්

කිරීමට පුහුණු ගොවියන් හිඟ වූ බැවින් ගොවිතැන් කටයුතු අඩාළ විය. මේ අවස්ථාවේ කර්මාන්ත ශාලාවලින් වැඩි ප්‍රමාණයක් අවි ආයුධ නිපදවීමට යොදා ගත් බැවින්, ආහාර, බෙහෙත්, පොහොර ආදි අත්‍යවශ්‍ය දේ නිපදවීම අඩාළ විය. මේ නිසා රට පුරා උග්‍ර ආහාර හිඟයක් ඇති වී භාණ්ඩවල මිල නොසිතූ තරම් ඉහළ ගියේ ය. ජනතාව වඩාත් පීඩාවට පත් කළේ පාන් මිල ඉහළ යාම යි. මේ නිසා රටේ ජනතාව ඉතා පීඩාවට පත්ව සිටියහ. එය පුපුරායාම 1917 දී සිදු විය.

### 1917 මාර්තු විප්ලවය

1917 මාර්තු විප්ලවය ආරම්භ වූයේ රෙදි කම්හලක ඇති වූ වැඩ වර්ජනයකිනි. එය දින තුනක් යන විට මහා වැඩ වර්ජනයක් දක්වා වර්ධනය විය. පීඩිත කණ්ඩායම් සියල්ලෝ ම ඒ සඳහා එක් වූහ. වීථි පුරා පාන් ඉල්ලමින් ජනතා උද්ඝෝෂණ පැවැත්විණ. සාර් පාලනයේ හමුදාවෝ ද උද්ඝෝෂණයට එක් වූහ. මේ නිසා රජයට ජනතා විරෝධය පාලනය කළ නො හැකි වූ අතර 1917 මාර්තු මාසයේ දී රජුට සිහසුන අත්හැරීමට සිදු විය. සාර් පාලනය බිඳ වැටීමෙන් පසු පාලන බලය කෙරෙන්ස්කි නම් නායකයාගේ සටන්කාමී බලවේග අතට පත් විය. ඒ යටතේ තාවකාලික ආණ්ඩුවක් පිහිටුවන ලදි. එහෙත් එම පාලකයන්ට රටේ අවශ්‍යතා සඳහා විසඳුම් නො වී ය.

රටේ අත්‍යවශ්‍ය දෑ වූයේ ගොවීන්ට ඉඩම්, යුධ භටයන්ට සාමය හා රටේ සියල්ලන්ට ම ආහාර යන්න යි. මේ නිසා ගොවීහු ඉඩම් ගිනි තබමින්, මංකොල්ලකමින් හා ඒවායේ හිමිකරුවන් විනාශ කරමින් ත්‍රස්ත ක්‍රියාවල නිරත වූහ. එසේ ම නව රජයේ පාලකයෝ ධනවාදීන් සමග සහයෝගයෙන් කටයුතු කිරීමෙන් නිර්ධනයන්ගේ බලාපොරොත්තු අහිමි කළහ. එම රජය යුද්ධ කටයුතු දිගට ම පවත්වාගෙන යාමෙන් සොල්දාදුවන්ගේ ද බලාපොරොත්තු බිඳ වැටුණි.

### 1917 ඔක්තෝබර් විප්ලවය

මේ අතර ලෙනින්ගේ නායකත්වයෙන් යුත් බොල්ෂෙවික්වරු සෝවියට් මණ්ඩල නම් සංවිධාන රට පුරා පිහිටුවමින් ගොවි කම්කරු රජයක් පිහිටුවා ගැනීමේ අරමුණින් කටයුතු කළහ. රුසියානු විප්ලවය ආරම්භ වන අවධියේ මෙන්ෂෙවික්වරුන් හා බොල්ෂෙවික්වරුන් යනුවෙන් දේශපාලන කණ්ඩායම් දෙකක් බිහිව තිබුණි. යම් යම් ප්‍රතිසංස්කරණ මගින් ජනතා ප්‍රශ්න විසඳිය හැකි යැයි කල්පනා කළ සුළුතර පිරිස මෙන්ෂෙවික්වරුන් ලෙස හැඳින්වේ. කොමියුනිස්ට් වාදය පිළිගත් බොල්ෂෙවික්වරුන් බහුතරය වූහ. ධනවාදී අර්ථ ක්‍රමය බිඳ දමා කොමියුනිස්ට් අදහස් මත පන්ති රහිත සමාජයක් බිහි කිරීම බොල්ෂෙවික්වරුන්ගේ අරමුණ විය. ලෙනින් හා ට්‍රොට්ස්කි නායකත්වය දුන් එම සංවිධානයට කම්කරුවන්, ගොවීන්, සොල්දාදුවන් ඇතුළු පීඩිත ජන කොටස්වල සහාය නිරායාසයෙන් ම ලැබුණි. මාර්තු විප්ලවයෙන් පසුව පිහිටුවූ තාවකාලික ආණ්ඩුව මහජනතාවගේ දැවෙන ප්‍රශ්න විසඳීමට අපොහොසත් වූ බැවින් කෙටි කාලයකින් ම එය

මහජන අප්‍රසාදයට ලක් විය. තාවකාලික ආණ්ඩුවට එරෙහිව නැගී එන මහජන විරෝධය දුටු වී. අයි. ලෙනින් **"මේ අවස්ථාවේ අපි බලය අල්ලා නො ගත හොත් ඉතිහාසය අපට සමාව නොදෙනු ඇතැයි"** ප්‍රකාශ කළේ ය. ඒ අනුව 1917 ඔක්තොම්බර් මස විප්ලවය ඇරඹිණ. සන්නද්ධ භට කණ්ඩායම් රජයේ ප්‍රධාන මධ්‍යස්ථාන අල්ලා ගත්හ. (දුම්රිය, බැංකු, තැපැල් කාර්යාල) වීදි පුරා කැරලි කරුවෝ සාමය, ඉඩම්, ආහාර ඉල්ලා උද්ඝෝෂණය කළහ.



රූපය 7.14 - වී. අයි. ලෙනින් මහතා



රූපය 7.15 - ලියෝන් ට්‍රොට්ස්කි මහතා

තමන්ට රජයෙන් ආරක්ෂාවක් නොමැති බව දැනගත් මධ්‍යම පන්තිය හා හමුදා භටයෝ උද්ඝෝෂකයන්ට විරෝධතාවක් නො දැක්වූහ. මෙම විප්ලවයට පාලකයන් හැර සෙසු බොහෝ දෙනාගේ සහයෝගය ලැබුණි. මේ වන විට සෝවියට් ජනතාවගේ පීඩනය කෙතරම් උග්‍රව තිබුණේ ද යන්න එයින් පැහැදිලි වෙයි. බලවත් සටනකින් තොරව විප්ලවය ජය ගැනීමට හැකි වූයේ එබැවිනි. මෙම විප්ලවය ලෝක සම්මත දින දර්ශනය අනුව නොවැම්බර් මස දී සිදු වුව ද ඒ වන විට රුසියාවේ භාවිත වූ පැරණි දින දර්ශනයට අනුව එය ඔක්තෝබර් මාසය විය. එනිසා මෙම විප්ලවය ප්‍රසිද්ධ වූයේ 1917 ඔක්තෝබර් විප්ලවය වශයෙනි.

**විප්ලවයේ ප්‍රතිඵල**

කෙරෙන්ස්කිගේ නායකත්වයෙන් යුත් රජය පෙරළා දමා ලෙනින්ගේ නායකත්වයෙන් යුත් බොල්ෂෙවික්වරුන් රජයක් පිහිටුවීම මේ විප්ලවයේ ප්‍රධාන ප්‍රතිඵලය යි. බොල්ෂෙවික් පක්ෂය පසුව කොමියුනිස්ට් පක්ෂය බවට පත් විය. ලෙනින්ගේ නායකත්වයෙන් යුත් නව රජය ජර්මනිය සමග පැවැති යුද්ධය අවසන් කර සාමය ඇති කිරීමට සමත් විය. ඒ අනුව රුසියාවට සාමය උදා විය. එය සොල්දාදුවන්ගේ බලාපොරොත්තුව විය. ලෙනින්ගේ නායකත්වයෙන් යුතු නව ආණ්ඩුව විසින් පෞද්ගලික ඉඩම් අයිතිය අහෝසි කරන ලදි. රජය වෙත පවරා ගත් එම ඉඩම් මුල දී ගොවීන්ට කුඩා ගොවිපොළවල් වශයෙන් වගා

කිරීමට අවසර දී තිබු නමුත් පසුව ඒවා විශාල සමූහ ගොවිපොළවල් බවට පත් කිරීමට පියවර ගැනුණි. ඒ අනුව ගොවීයෝ සමූහ අයිතිය යටතේ වගා කිරීම සිදු කළහ. මේ අනුව ගොවීන් බලාපොරොත්තු වූ ඉඩම් ඔවුන්ට ලැබුණි. කොමියුනිස්ට් පාලනය යටතේ රුසියාවේ වූ සියලු කර්මාන්තශාලා ජන සතු කළ අතර එහි පාලනය කොමියුනිස්ට් පක්ෂයේ මග පෙන්වීම යටතේ කම්කරුවන්ගෙන් සමන්විත සෝවියට් මණ්ඩලවලට පැවරිණි. මීට අමතරව බැංකු, ගමනාගමනය යනාදිය ද ජනසතු කෙරිණ.

සාර් පාලනය සම්පූර්ණයෙන් ම බිඳ දමා ඒ වෙනුවට කම්කරුවන්ගේ සහ ගොවීන්ගේ නියෝජිතයන්ගෙන් සමන්විත සෝවියට් සභා පදනමක් මත තෝරා ගත් අලුත් නිලධාරි පිරිසක් තනතුරුවලට පත් කෙරිණි. විප්ලවයෙන් පසුව රුසියාව හඳුන්වනු ලැබුවේ සෝවියට් සමාජවාදී සමූහාණ්ඩු සංගමය යන නමිනි. ඒ අනුව රුසියාව සමාජවාදී දර්ශනය පිළිගත් රටක් බවට පත් විය.

**සමාජවාදී දර්ශනය**

සමාජවාදය යනු කොමියුනිස්ට්වාදී දර්ශනය අනුව සමාජය සතු ධන සම්පත් පිළිබඳ පොදු අයිතිය පිළිගැනීම, සෑම පුරවැසියෙකුට ම තම කුසලතා ඉහළ නංවා ගැනීමට සමාන ඉඩක් ලබා දීම, නිෂ්පාදන ඵල සියලු දෙනාට ම සමානව බෙදීයාම යන මූලධර්ම පිළිගත් දේශපාලන දර්ශනයකි.

ඒ අනුව,

- පුද්ගල අවශ්‍යතාවලට වඩා පොදු දියුණුවට හා පොදු අවශ්‍යතාවලට ප්‍රමුඛත්වය දීම.
- සමාජ අසාධාරණකම් හා අසමානතා නැති කිරීම.
- සමාජයේ පන්ති විෂමතා නැති කර සියලු දෙනාට සහෝදරත්වයෙන් සලකන උසස් මානව සමාජයක් ගොඩනැගීම ආදිය සමාජවාදී දර්ශනයේ කැපී පෙනෙන ලක්ෂණ වේ.

රුසියානු විප්ලවයේ තවත් ප්‍රතිඵලයක් ලෙස සමාජවාදී දර්ශනය ලොව පුරා ව්‍යාප්ත වීම දක්නට ලැබේ. දෙවන ලෝක යුද්ධයෙන් පසු ලෝකයේ ප්‍රධාන බලවේග බවට පත් වූයේ සමාජවාදී දර්ශනය හා ධනවාදී දර්ශනය යි. ඒ අනුව ලෝකයේ රුසියාවට හිතවත් බොහෝ රටවල් සමාජවාදී දර්ශනයේ ඇතැම් අංග තම ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවලට ඇතුළු කර ගත්තේ ය.

උදා : චීනය, නැගෙනහිර ජර්මනිය, කියුබාව ඉන් කිහිපයකි.

මෙම පාඩම ආරම්භයේ දී සඳහන් කළ ඇමෙරිකන් විප්ලවයෙන් පසුව ඇමෙරිකා එක්සත් ජනපදය යන බලවත් රාජ්‍යය නිර්මාණය වී එරට මුල් කර ගත් ධනවාදී අර්ථ ක්‍රමය පිළිගත් කඳවුරක් ලෝකයේ බිහි විය.

ඉහත සඳහන් රුසියානු විප්ලවයෙන් පසුව රුසියාව මූලික කරගත් සමාජවාදී කඳවුරක් ද ලෝකයේ බිහි විය. එම කඳවුරු දෙකට ම අයත් නො වූ රටවල් රැසක් නො බැඳි ජාතීන් බවට පත් විය. ශ්‍රී ලංකාව ද නො බැඳි ජාතීන්ගේ ප්‍රතිපත්ති ගරු කරන රටකි.

**ක්‍රියාකාරකම**

සමාජවාදී දර්ශනයේ යහපත් ලක්ෂණ මැයෙන් රචනාවක් ලියන්න.

# 08 ලෝක මහා සංග්‍රාම හා සම්මුතීන්

**හැඳින්වීම**

විසිවන සියවසේ ප්‍රථම භාගයේ දී සමස්ත ලෝකයට ම බලපෑ මහා සංග්‍රාම දෙකක් ඇති විය. මෙම සංග්‍රාම දෙක ම යුරෝපයෙන් ආරම්භ වී පසුව සෙසු මහාද්වීප කරා පැතුරුණි. ලොව බලවත් රටවල් රැසක් මෙම යුද්ධවලට සම්බන්ධ වී සමස්ත ලෝකයට ම බලපෑම් ඇති කළ නිසා ඒවා ලෝක මහා සංග්‍රාම ලෙස හඳුන්වනු ලැබේ. මෙම යුද්ධවලින් සිදු වූ ව්‍යසනය නිසා ම නැවත ලෝක මහා සංග්‍රාමයක් ඇතිවීම වළක්වා ගැනීම පිණිස ලෝක නායකයෝ විවිධ සම්මුති ඇති කර ගත්හ. මෙම පාඩමේ දී ලෝක මහා සංග්‍රාමවලට තුඩුදුන් හේතු, ලෝක මහා සංග්‍රාමවල ස්වභාවය, ප්‍රතිඵල මෙන් ම එක්සත් ජාතීන්ගේ සංගමය හා එහි වැදගත්කම පිළිබඳව ද අවධානය යොමු කෙරේ.

## 8.1 පළමුවන ලෝක මහා සංග්‍රාමය




මධ්‍ය බලවතුන්
ජර්මනිය
ඔස්ට්‍රෝ හන්ගේරියාව
බල්ගේරියා
තුර්කිය

මිත්‍ර බලවතුන්
බ්‍රිතාන්‍යය
ප්‍රංශය
රුසියාව
ඉතාලිය
රුමේනියාව
ග්‍රීසිය

**8.1 සිතියම - පළමුවන ලෝක මහා සංග්‍රාමය පැතිරුණු ආකාරය**

19141918 කාලයේ ලොව පුරා පැතිරී ගිය යුද්ධය පළමු වන ලෝක මහා සංග්‍රාමය නමින් හැඳින්වේ. මීට පෙර ලෝකයේ සෑම මහාද්වීපයක ම ව්‍යාප්ත වූ යුද්ධයක් ගැන ඉතිහාසයේ සඳහන් නො වේ. මෙම යුද්ධය යුරෝපයෙන් ආරම්භ වී, පසුව යුරෝපා ජාතීන් ගොඩනගාගෙන තිබූ යටත් විජිතවලටත් පැතිර ගියේ ය. අවසානයේ දී ඇමරිකා එක්සත් ජනපදයත් යුද්ධයට සම්බන්ධ වීමෙන් සියලු මහද්වීප කරා ව්‍යාප්ත වූ ලෝක මහා සංග්‍රාමයක් ඇති විය.

**පළමුවන ලෝක මහා සංග්‍රාමයට බලපෑ හේතු**

❖ ජර්මනිය එක්සත් කිරීමේ ව්‍යාපාරයේ දී, ප්‍රංශය හා ජර්මනිය සතුරන් බවට පත් වීම.


රූපය 8.1 - ඔටෝ-වොන් බිස්මාර්ක්

19 වන සියවස ආරම්භයේ දී ජර්මන් බස කතා කළ වැසියන්ගෙන් යුතු කුඩා රාජ්‍යයන් 350කට වැඩි සංඛ්‍යාවක් පැවතියත් ජර්මනිය යනුවෙන් හැඳින්විය හැකි රටක් නො තිබුණි. එබඳු පසුබිමක් තිබිය දී ඉහත කී කුඩා රාජ්‍යයන් එකතු කොට ජර්මනිය යනුවෙන් රටක් බිහි කරන ලද්දේ ඔටෝ-වෝන් බිස්මාර්ක් නම් දක්ෂ නායකයා විසිනි. බිස්මාර්ක් 1870 වර්ෂයේ දී ජර්මනිය එක්සත් කොට එය බලවත් රටක් කිරීම සඳහා ප්‍රංශය සමඟ යුද්ධයකට පැටලිණි. එම යුද්ධයෙන් ප්‍රංශය අන්ත පරාජයක් ලැබී ය. එතැන් සිට අසල්වැසි රටවල් දෙකක් වූ ප්‍රංශය හා ජර්මනිය එකිනෙකට සතුරු රටවල් දෙකක් බවට පත් විය.

❖ ජර්මන් අධිරාජයා වූ දෙවන විලියම්ගේ ක්‍රියා කලාපය

ජර්මනියේ නිර්මාතෘවරයා වූ බිස්මාර්ක් එක්සත් සහ ශක්තිමත් ජර්මනියක් පිහිටුවීමෙන් තෘප්තියට පත් විය. ජර්මනියට බාහිර යටත් විජිත පිහිටුවා ගැනීම කෙරෙහි බිස්මාර්ක් උනන්දුවක් නො දැක්වී ය. එහෙත් 1887 වර්ෂයේ දී ජර්මන් අධිරාජයා (කයිසර්) වූ දෙවන විලියම් රජු ජර්මන් ප්‍රදේශ තුළින් පමණක් තෘප්තිමත් වූවෙකු නො වී ය. බිස්මාර්ක්ගේ අරමුණුවලට පටහැනිව යමින් ජර්මනියට යටත් විජිත පිහිටුවා ජර්මන් අධිරාජ්‍යයක් පිහිටුවීම එම රජුගේ අරමුණ විය. එහි දී ජර්මනියේ


රූපය 8.2 - දෙවන විලියම් අධිරාජ්‍යයා

විදේශ ප්‍රතිපත්තිය ලෝකයේ සෙසු රටවල සැකයට භාජන විය. ජර්මන් අධිරාජ්‍යයක් පිහිටුවීම සඳහා ජර්මන් හමුදු ශක්තිය වැඩි කිරීමට කටයුතු කෙරිණි. එයින් කනස්සල්ලට පත් බ්‍රිතාන්‍යය ද ජර්මනියට තරගකාරීව තම හමුදු ශක්තිය වැඩි කළේ ය. මේ නිසා යුරෝපය තුළ යුධකාමී වාතාවරණයක් ක්‍රමයෙන් ගොඩනැගුණි.

❖ යටත් විජිත සඳහා වූ තරගය

19 වන සියවස මැද වන විට යුරෝපයේ බලවත් රටවල් ආසියාවේ හා අප්‍රිකාවේ යටත් විජිත පිහිටුවීම සඳහා තරගයකට අවතීර්ණ වූ ස්වභාවයක් දක්නට ලැබිණ. මෙහි දී වැඩි ම යටත් විජිත හිමිකරුවා වූයේ බ්‍රිතාන්‍යය යි. ප්‍රංශය, බෙල්ජියම, පෘතුගාලය, ස්පාඤ්ඤය හා ඕලන්දය යන රටවලට ඊළඟ ස්ථාන හිමි විය. එක්සත් ජර්මනියක් බිහි වීමෙන් පසු ශීඝ්‍ර කාර්මික දියුණුවක් අත් කරගත් ජර්මනියට සිය නිමිද්‍රව්‍ය අලෙවි කර ගැනීම සඳහා වෙළෙඳපොළ සොයාගැනීම අත්‍යවශ්‍ය විය. ආසියා, අප්‍රිකා ප්‍රදේශ වෙත ජර්මනිය මෙසේ පැමිණීම ගැන සෙසු ජාතීහු බියට පත් වූහ. විශේෂයෙන් එතෙක් බලවතා වශයෙන් සිටි බ්‍රිතාන්‍යය මෙය මහත් තර්ජනයක් ලෙස සැලකී ය. මෙසේ යටත් විජිත සඳහා වූ තරගය ප්‍රතිවිරුද්ධ බලවතුන්ගේ විරුද්ධවාදී අදහස් පෝෂණය වීමට බෙහෙවින් බලපෑවේ ය.

❖ අවි තරගය හා ජාතිවාදය වර්ධනය වීම.

19 වන සියවස අගභාගයේ පටන් යුරෝපයේ සෑම ප්‍රබල රටක් ම (ජර්මනිය, බ්‍රිතාන්‍යය, ප්‍රංශය, රුසියාව) තමන්ගේ බලය වර්ධනය කර ගැනීම සඳහා අවි ආයුධ අතින් සන්නද්ධව සිටීම කෙරෙහි වැඩි විශ්වාසයක් තැබී ය. "අවි ආයුධ බලයෙන් වසර පහක දී ලබා ගත් දේ ආරක්ෂා කර ගැනීමට තවත් වසර 50ක් සන්නද්ධව සිටිය යුතු" යැයි ජර්මන් සෙන්පතියෙකු වූ වොන් වෝල්ක් පවසා ඇත. අවි බලය කෙරෙහි ජර්මනිය තුළ පැවති විශ්වාසය මෙම ප්‍රකාශයෙන් පැහැදිලි වේ. මෙසේ එක් එක් රටවල් අවි ආයුධ කෙරෙහි විශ්වාසය තැබීම නිසා බලවත් යුරෝපීය රටවල් අතර අවි තරගයක් නිර්මාණය විය.

එමෙන් ම ඉතාලියේ හා ජර්මනියේ ජාතිකවාදය තුළින් එම රටවල් එක්සත් කිරීමත් සමග යුරෝපයේ ජාතිකවාදී ප්‍රවණතාව වර්ධනය විය. මෙහි විශේෂ ලක්ෂණය වූයේ තමන්ගේ රටට ආදරය කිරීමත් සෙසු රටවල් හෙළා දැකීමත් ය. මෙම තත්ත්වය ජාතීන් අතර ගැටුම් ඇති වීමට සුදුසු පසුබිමක් නිර්මාණය කළේ ය.

❖ ප්‍රංශය යුරෝපය තුළ තනි කිරීමට බිස්මාර්ක් අනුගමනය කළ විදේශ ප්‍රතිපත්තිය

1870 වර්ෂයේ දී ප්‍රංශය පරාජය කළ ජර්මනියේ බිස්මාර්ක්, ප්‍රංශය සතුව තිබූ ඇල්සාස් සහ ලොරේන් නැමති සාරවත් ප්‍රදේශ දෙක පැහැර ගත්තේ ය. මේ නිසා අනාගතයේ කිසියම් දිනෙක ප්‍රංශය ජර්මනියෙන් පළි ගැනීමට යුද්ධ කරනු ඇතැයි ද, ඇල්සාස් හා ලොරේන් ප්‍රදේශ යළි ලබා ගනු ඇතැයි ද ජර්මනියට බියක් තිබිණි. මේ නිසා යුරෝපයේ බලවත් රටවල් සමග ජර්මනිය මිත්‍ර සබඳතා ඇති කර ගැනීමත් ප්‍රංශයට යුරෝපයේ මිතුරන් නැති කිරීමත් 1870න් පසු ජර්මනියේ විදේශ ප්‍රතිපත්තිය

විය. මෙහි දී තනි වූ ප්‍රංශය යුරෝපයේ මිතුරන් සොයා යාම නිසා ජර්මනිය හා ප්‍රංශය මුල් කර ගත් කඳවුරු දෙකක් ගොඩනැගුණි. මෙහි ප්‍රතිඵල වශයෙන් ජර්මනිය, ඔස්ට්‍රියාව, ඉතාලිය ඇතුළත් කඳවුරක් හා බ්‍රිතාන්‍යය, ප්‍රංශය, රුසියාව ඇතුළත් කඳවුරක් වශයෙන් කඳවුරු දෙකක් නිර්මාණය විය. මෙහි දී ජර්මනිය ඇතුළත් කඳවුර මධ්‍යම බලවතුන් ලෙස හැඳින්වූ අතර ප්‍රංශය ඇතුළත් කඳවුර මිත්‍ර බලවතුන් ලෙස හඳුන්වන ලදි. සෙසු රටවල් ද ඔවුනොවුන්ගේ අවශ්‍යතා මත එම කඳවුරු දෙකෙන් එකකට එකතු විය. එතැන් සිට 1914 වන තෙක් මෙම පිල් දෙක අතර වාග් සංග්‍රාමයක් සිදු විය.

❖ ඔස්ට්‍රියාවේ ඔටුන්න හිමි කුමරුන් ඝාතනය කිරීම.




රූපය 8.3 ප්‍රාන්ස් පර්ඩිනන්ඩ් හා ඔහුගේ බිරිඳ ඝාතනය කිරීම දැක්වෙන සිතුවමක් හා ඔවුන් ගමන් ගත් රථය

ඉහත සඳහන් කළ ආකාරයට යුද්ධය සඳහා යුරෝපය තුළ දැඩි යුද උණුසුමක් පවතිද්දී, ඔස්ට්‍රියාවේ ඔටුන්න හිමි කුමරා වූ ප්‍රාන්ස් ෆර්ඩිනන්ඩ් හා ඔහුගේ බිරිඳ බොස්නියාවේ අගනුවර වූ සරාජීවෝ (සරායෙවෝ) නගරයේ සංචාරය කරමින් සිටිය දී, ඝාතනය කෙරිණි. මෙම ඝාතනය සිදු කළේ සර්බියානු ජාතිකයන් දෙදෙනෙකු විසිනි. ඔස්ට්‍රියාව මෙම සිද්ධිය තමන්ට විරුද්ධව කරන ලද කුමන්ත්‍රණයක් වශයෙන් සලකා කොන්දේසි කිහිපයක් ඉදිරිපත් කොට සර්බියාවෙන් වන්දි ඉල්ලා සිටියේ ය. සර්බියාව එය ප්‍රතික්ෂේප කිරීම නිසා ක්‍රි. ව. 1914 ජූලි මස 28 වන දින ඔස්ට්‍රියාව සර්බියාවට විරුද්ධව යුධ ප්‍රකාශ කළේ ය. සරයේවෝ සිද්ධිය නමින් හඳුන්වන මෙම සිදුවීම, පළමු ලෝක මහා සංග්‍රාමය ආරම්භ වීමට බලපෑ ආසන්න තම හේතුව ලෙස සැලකේ.



රූපය 8.4 - ප්‍රාන්ස් පර්ඩිනන්ඩ් කුමරු

**පළමුවන ලෝක යුද්ධයට සම්බන්ධ වූ රටවල්**

| මිත්‍ර පිලේ රටවල් | මධ්‍යම බලවතුන්ගේ රටවල් |
|---|---|
| ප්‍රංශය, මහා බ්‍රිතාන්‍යය, රුසියාව, ඇමරිකා එක්සත් ජනපදය | ජර්මනිය, ඔස්ට්‍රියාව, තුර්කිය, බල්ගේරියාව, හංගේරියාව |

**පළමුවන ලෝක සංග්‍රාමයේ ව්‍යාප්තිය**

සරයේවෝ සිද්ධියේ දී ඔස්ට්‍රියාව සර්බියාවට එරෙහිව යුද්ධ ප්‍රකාශ කිරීම, ඔස්ට්‍රියාවේ මිතුරු රටක් වූ ජර්මනිය ද අනුමත කළේ ය. ඒ අනුව ඔස්ට්‍රියාව මෙන් ම සර්බියාව ද යුද්ධය සඳහා තම මිතුරන්ගෙන් ආධාර ලබා ගැනීමේ තත්ත්වයක් නිර්මාණය විය. ඔස්ට්‍රියාවේ යුධ බලයට බිය වූ සර්බියාව රුසියාවෙන් ආධාර ඉල්ලී ය. රුසියාව ඒ සඳහා ආධාර ලබා දීමට සූදනම් විය.

එහි දී ඔස්ට්‍රියාවට හිතවත්ව කටයුතු කළ ජර්මනිය සර්බියාවට අධාර නො කරන ලෙස රුසියාවෙන් ඉල්ලා සිටියත් එය ඉටු නො විණි. මේ නිසා ඔස්ට්‍රියාවට පක්ෂ රටක් ලෙස ජර්මනිය ද යුද්ධයට අවතීර්ණ විය. එහි ප්‍රතිඵල වශයෙන් 1914 අගෝස්තු පළමුවැනි දින ජර්මනිය රුසියාවට විරුද්ධව යුද්ධ ප්‍රකාශ කළේ ය.

මේ වන විට රුසියාව හා ප්‍රංශය අතර මිත්‍රත්වයක් පැවති බැවින් ජර්මනිය රුසියාවට පහර දෙන විට ප්‍රංශය රුසියාවට උදව් කරනු ඇතැයි සිතූ ජර්මනිය දෙවරක් නො සිතා ප්‍රංශයට විරුද්ධව ද යුද්ධය ප්‍රකාශ කළේ ය. ජර්මනිය එක්සත් කළ අවධියේ සිට ජර්මනිය හා ප්‍රංශය අතර වෛරයක් තිබුණි. මේ නිසා ප්‍රංශය යුද්ධයට අවතීර්ණ වීමට පෙර ඇයට පහර දීමට සිතූ ජර්මනිය බෙල්ජියමට කඩා වැදී බෙල්ජියම හරහා ප්‍රංශයට පහර දීමට පටන් ගත්තේ ය. ජර්මනියේ මෙම හිතුවක්කාරි ක්‍රියා පිළිවෙත බ්‍රිතාන්‍යයේ ආරක්ෂාවට තර්ජනයක් වූ බැවින් ද බ්‍රිතාන්‍යය හා ප්‍රංශය අතර මිත්‍රත්වයක් පැවති බැවින් ද බ්‍රිතාන්‍යය ජර්මනියට විරුද්ධව යුධ ප්‍රකාශ කරමින් ප්‍රංශයේ සහයට ඉදිරිපත් විය. බ්‍රිතාන්‍යය යනු ඒ වන විටත් ලොව පුරා යටත් විජිත රැසක් හිමි කර ගෙන සිටි රටකි. එබැවින් බ්‍රිතාන්‍යය යුද්ධයට අවතීර්ණ වීමත් සමඟ එම යටත් විජිත කරා ද යුද්ධයේ බලපෑම පැතිරිණි.

දෙපාර්ශ්වය අතර ගොඩබිම් සටන් මෙන් ම මුහුදු සටන් ද ඇති විය. අතිනවීන යුද්ධායුධ ප්‍රයෝජනයට ගනිමින් දීර්ඝ සටන් ක්‍රියාත්මක විය. ජර්මනිය දිගින් දිගට ම සබ්මැරීන් ප්‍රහාර එල්ල කළේ ය. ඒ අනුව බ්‍රිතාන්‍ය වරායෙන් පිටත් වන සෑම නැව් හතරෙන් එකක් ම වාගේ ජර්මන් සබ්මැරීන් ප්‍රහාරයන්ට ගොදුරු විය.

**ඇමරිකා එක්සත් ජනපදය යුද්ධයට සම්බන්ධ වීම**

මේ වන විට බලවත් රාජ්‍යයක් බවට පත් වී සිටි ඇමරිකා එක්සත් ජනපදය මුල දී මධ්‍යස්ථව සිටියේ ය. ඇමරිකානු ජාතිකයන් රැගත් ලුසිටානියා නම් මගී නැව ජර්මන් සබ්මැරීනයක් මගින් ගිල්වා දැමීම නිසා ඇමරිකා එක්සත් ජනපදය ද යුද්ධයට අවතීර්ණ විය. ඇමරිකා එක්සත් ජනපදය මිත්‍ර සන්ධානයට එක්වීම ජර්මනියේ පරාජයට බලපෑ ප්‍රබල ම හේතුවක් විය. එරට සතුව පැවැති විශාල ආහාර තොග යුද්ධයේ දී ඉතා ප්‍රයෝජනවත් වූ අතර මිලියන දෙකක් පමණ වූ පාබල හා නාවුක හමුදාව සහ අතිනවීන යුද්ධායුධ සතුරු පිලට ප්‍රබල තර්ජනයක් එල්ල කිරීමට සමත් විය.

මුල දී මධ්‍යම බලවතුන්ගේ පාර්ශ්වයේ සිටි ඉතාලිය, රහස් ගිවිසුමක් මගින් මිත්‍ර පාක්ෂිකයන්ට එක්ව ජර්මනියට විරුද්ධව යුධ ප්‍රකාශ කිරීම විශේෂ සිදුවීමකි. ඉතාලියේ මෙම ක්‍රියා කලාපය නිසා ජර්මනිය හා ඔස්ට්‍රියාව අතර පැවැති යුධ රහස්, සතුරන් අතට පත්වීම ජර්මනියට අවාසි සහගත විය.



රූපය 8.5 ලුසිටානියා නැව

මිත්‍ර පිලේ රටවල් දිගින් දිගට ම එල්ල කළ ප්‍රහාර නිසා ජර්මනියේ සේනා ශක්තිය හීන වී යුද්ධ බලය දුර්වල විය. රට තුළ ආහාර අර්බුදයක් ඇති වූ අතර එය හමුදාවල නොසන්සුන්තාවක් ඇති කිරීමට බලපෑවේ ය. එසේ ම මහජන කැළඹීම් ඇති වී, රට පුරා කලබලකාරී තත්ත්වයක් උද්ගත විය. ජර්මනියේ නාවුක හමුදාව කැරලි ගසා අධිරාජයා නෙරපීමට උද්ඝෝෂණය කළ හෙයින් ඔහු සිහසුන අත්හැරීම ජර්මනියේ පරාජය වේගවත් කළේ ය. මෙසේ 1914 සිට 1918 දක්වා පැවැති පළමු වැනි ලෝක මහා සංග්‍රාමය අවසන් වූයේ ජර්මනිය ප්‍රමුඛ මධ්‍යම බලවතුන්ට පරාජය අත් කර දෙමිනි.

**පළමුවන ලෝක මහා සංග්‍රාමයේ ප්‍රතිඵල**

- ❖ මධ්‍යම බලවතුන් පරාජයට පත් වී මිත්‍ර බලවතුන් ජය ගැනීම යුද්ධයේ වැදගත් ම ප්‍රතිඵලය යි.
- ❖ ගිනි අවි භාවිත කිරීම හේතුවෙන් අතිවිශාල ජීවිත හා දේපල හානියක් සිදු වූ අතර ලක්ෂ සංඛ්‍යාත ජන සංඛ්‍යාවක් ආබාධිත තත්ත්වයට පත් වූහ.
- ❖ වර්සෙල්ස් ගිවිසුම ඇති වීම

  යුද්ධය අවසානයේ සාම ගිවිසුමක් ඇති කර ගැනීම සඳහා 1919 ජනවාරි මාසයේ ප්‍රංශයේ පැරිස් නුවර පවත්වන ලද සාකච්ඡාවලට රටවල් ගණනාවක ම නියෝජිතයෝ සහභාගි වූහ.

එම නායකයන්ගේ නම් පහත දැක්වේ

| | |
|---|---|
| ඇමරිකා එක්සත් ජනපද ජනාධිපති | වුඩ්රෝ විල්සන් |
| බ්‍රිතාන්‍ය අගමැති | ලොයිඩ් ජෝර්ජ් |
| ප්‍රංශ අගමැති | ක්ලෙමන්ෂෝ |
| ඉතාලියේ අගමැති | විටෝරියෝ ඕලැන්ඩෝ |

මෙම සාම සාකච්ඡාවල ප්‍රතිඵල වශයෙන් පරාජිත පාර්ශ්ව සමග ගිවිසුම් කිහිපයක් ඇති කර ගැනුණි. මේ අතර ජර්මනිය සමග අත්සන් කළ වර්සෙල්ස් ගිවිසුම ද වේ. යුද්ධයේ චූදිතයා වශයෙන් ජර්මනියට වර්සෙල්ස් ගිවිසුමෙන් දැඩි දඬුවම් පමුණුවනු ලැබී ය.

වර්සෙල්ස් ගිවිසුමෙන් ජර්මනියට දැඩි දඬුවම් පැමිණවූ ආකාරය

- ❖ ජයග්‍රාහී රටවලට විශාල වන්දි මුදලක් ගෙවීමට ජර්මනියට සිදු වීම.
- ❖ හමුදා තබා ගැනීම හා අවි ආයුධ නිෂ්පාදනය සඳහා ජර්මනියට සීමා පැමිණවීම.
- ❖ ජර්මනිය ප්‍රංශයෙන් අල්ලාගෙන තිබූ ඇල්සාස් හා ලොරේන් යන ප්‍රදේශ යළි ප්‍රංශයට පවරා දීම.
- ❖ යුරෝපයෙන් පිටත ජර්මනිය සතු වූ යටත් විජිත ජයග්‍රාහී ජාතීන් අතර බෙදා ගැනීම.

- ❖ යුරෝපයේ පැවැති ඒකාධිපති රාජාණ්ඩු බිඳ වැටීම. පළමුවන ලෝක යුද්ධය නිසා ජර්මන් අධිරාජ්‍යය, ඔස්ට්‍රියා හංගේරියා අධිරාජ්‍ය, තුර්කි අධිරාජ්‍යය වැනි ඒකාධිපති රාජාණ්ඩු බිඳ වැටිණි. එහි ප්‍රතිඵල ලෙස විවිධ ජන වර්ග පදනම් කරගෙන නිදහස්

රාජ්‍ය කිහිපයක් මෙම ප්‍රදේශවල ඇති විය.

උදා : ෆින්ලන්තය, පෝලන්තය, චෙකොස්ලෝවැකියාව

- ❖ ආර්ථික අතින් බිඳ වැටී නිෂ්පාදන ශක්තිය දුර්වල වීමෙන් හා භාණ්ඩවල මිල ඉහළ යාමෙන් සමස්ත යුරෝපය ම ආර්ථික පරිහානියකට මුහුණ පෑවේ ය. යුද්ධය අවසානයේ ඇමරිකා එක්සත් ජනපදය හා බ්‍රිතාන්‍යය ලෝක බලවතුන් ලෙස කැපී පෙනුණි. බ්‍රිතාන්‍ය නාවුක හමුදා ශක්තිය ඉස්මතු වූ අතර ඔවුන්ට අයත් යටත් විජිත සංඛ්‍යාව ද වැඩි විය.

- ❖ අනාගතයේ දී මෙවැනි ව්‍යසනයකින් ලෝකය ආරක්ෂා කර ගැනීම සඳහා ජාතීන්ගේ සංගමය නමින් ජාත්‍යන්තර සංවිධානයක් පිහිටුවා ගැනීමට විධිවිධාන යොදන ලදි.

## 8.2 ජාතීන්ගේ සංගමය

1919 පැවැත්වූ, පැරිස් සාම සාකච්ඡාවල දී, ලෝක සාමය හා ආරක්ෂාව පවත්වා ගැනීම හා නැවත මෙබඳු යුද්ධයක් ඇති වීම වළක්වා ගැනීම පිණිස ජාත්‍යන්තර සංවිධානයක් පිහිටුවා ගැනීමේ අවශ්‍යතාව අවධාරණය කෙරිණි. ඇමරිකා එක්සත් ජනපදයේ ජනාධිපති වුඩ්රෝ විල්සන් මහතා ඒ සඳහා මුල් වී ක්‍රියා කළේ ය. 1920 ජනවාරි 10 දින ජාතීන්ගේ සංගමය බිහි වූයේ එහි ප්‍රතිඵලයක් වශයෙනි. ආරම්භයේ දී මෙම සංවිධානයට රටවල් 42ක් සම්බන්ධ විය.

ජාතීන්ගේ සංගමය පිහිටුවීමේ අරමුණු

- ❖ රටවල් අතර ඇති වන වාද භේද සාමකාමීව විසඳීම
- ❖ අනාගතයේ ලෝක යුද්ධ ඇතිවීම වැළැක්වීම
- ❖ ජාත්‍යන්තර අවබෝධය හා සහයෝගය ගොඩනැගීම
- ❖ කුඩා රාජ්‍යයන්ගේ නිදහස හා ස්වාධීනත්වය ආරක්ෂා කිරීම
- ❖ විශ්ව සාමූහිකත්වය මගින් ලෝක සාමය සුරක්ෂිත කිරීම.

**ජාතීන්ගේ සංගමය සාමය සඳහා දැරූ ප්‍රයත්න**

ජාතින්ගේ සංගමය පිහිටුවීමෙන් පසු වසර 20ක් පමණ කාලයක් යුද්ධ ඇතිවීම වලක්වා ගැනීමට එම සංගමය සමත් විය. සංගමය පිහිටුවූ මුල් කාලයේ දී කුඩා රාජ්‍යයන් මෙන් ම විශාල රාජ්‍යයන් ද සිය අර්බුද විසඳීමේ දී, ජාතීන්ගේ සංගමය ගනු ලැබූ තීරණවලට ගෞරවනීය ලෙස අවනත වීම එයට හේතු විය. එලෙස ජාතීන්ගේ සංගමයේ

කටයුතු සාර්ථක වූ අවස්ථා කිහිපයක් පහත දැක්වේ.

- ස්වීඩනය හා පින්ලන්තය, ජර්මනිය හා පෝලන්තය, ග්‍රීසිය හා බල්ගේරියාව, ඉරානය හා තුර්කිය වැනි රටවල් අතර ඇති වූ යුද ගැටුම් වැලැක්වීම.
- සරණාගතයන් පුනරුත්ථාපනය සඳහා මැදිහත්ව කටයුතු කිරීම.
- පළමුවන ලෝක යුද්ධයෙන් පසුව ජාතීන්ගේ සංගමයේ භාරකාරත්වයට පත් කොට තිබූ යටත් විජිත පිළිබඳ අධීක්ෂණ කටයුතු සාර්ථකව සිදු කිරීම.
- නිති විරෝධී වහල් වෙළෙඳාම හා මත්ද්‍රව්‍ය වෙළෙඳාම අඩපණ කිරීමට අවශ්‍ය කටයුතු කිරීම.

**ජාතින්ගේ සංගමය අසාර්ථක වීමට හේතු**

ජාතීන්ගේ සංගමය පිහිටුවීමේ මූලික අරමුණක් වූයේ ලෝක සාමය ආරක්ෂා කර ගැනීම හා නැවත යුද්ධයක් ඇතිවීම වළක්වාගැනීම යි. එහෙත් සංගමය පිහිටුවා වසර 20ක් ගත වීමටත් පෙර පළමුවන ලෝක සංග්‍රාමය ආරම්භ කිරීමේ වරදකරු ලෙස සලකන ලද ජර්මනියේ ම මූලිකත්වයෙන් දෙවන ලෝක සංග්‍රාමය ඇති විය. නැවත යුද්ධයක් වැළැක්වීමේ ජාතීන්ගේ සංගමයේ අරමුණ බිඳ වැටුණු බව ඉන් පැහැදිලි ය. මෙසේ ජාතීන්ගේ සංගමය අසාර්ථක වීමට බලපෑ හේතු කිහිපයක් දැකිය හැකි ය.

⏭ ලෝකයේ ධනවත් රටක් මෙන් ම යුද්ධ බලවතෙකු වූ ඇමරිකා එක්සත් ජනපදය ජාතීන්ගේ සංගමයේ සාමාජිකත්වය ලබා නො ගැනීම එහි අසාර්ථකත්වය සඳහා බලපෑවේ ය. ජාතීන්ගේ සංගමයේ සාමාජික රටවල අවශ්‍යතාව මත සැකසූ සංගමයේ ඇතැම් ප්‍රතිපත්ති පිළිගැනීමට ඇමරිකානු සෙනෙට් සභාව අකමැති විය. මේ නිසා බලවත් රටක් වූ ඇමෙරිකාව ජාතීන්ගේ සංගමයේ සාමාජිකයෙකු නො වීමෙන් එහි ප්‍රතිපත්ති ආරක්ෂා කිරීමට ද බැඳී නො සිටියේ ය. මෙයත් සංගමයේ අසාර්ථකත්වයට හේතු විය. එසේ ම ලෝකයේ තවත් බලවතෙකු වූ රුසියාව ජාතීන්ගේ සංගමයෙන් ඈත් කර තැබීම ද එහි දුර්වලත්වයට හේතු විය.

⏭ ජාතීන්ගේ සංගමය ගනු ලැබූ තීරණ ක්‍රියාත්මක කිරීම සඳහා සාමාජිකයන් පොළඹවා ගැනීමේ දී සංගමය අසාර්ථක විය. මෙයට ප්‍රධාන හේතුවක් වූයේ සංගමයේ තීරණ සාමාජිකයන් ලවා ඉටු කරවා ගැනීමට අවශ්‍ය බලයක් එයට නො තිබීම යි. මේ සඳහා යොද ගත හැකි හමුදවක් සංගමයට නො සිටීම හා කිසියම් සාම හමුදවක් යොද ගැනීමට අවශ්‍ය පොදු එකඟතාවක් ඇති නො වීම එහි දී කැපී පෙනේ.

⏭ ජාතීන්ගේ සංගමයේ සාමාජිකත්වය ලබා සිටි බලවත් රටවල් අතර එකමුතුකමක් නො තිබීමත් කිසියම් කරුණක දී ඔවුන් පොදු අවශ්‍යතාවට මුල් තැන දී තමන්ගේ අරමුණු පසුපසට ගැනීමට නො පෙළඹීමත් සංගමය මුහුණ දුන් අභියෝගයක් විය. දෙවන ලෝක යුද්ධයට පෙර ජර්මනිය ජාතීන්ගේ සංගමයෙන් ඉවත් වූ විට සංගමයේ සාමාජික රටවල් එතරම් උනන්දුවක් නො දැක්වී ය. ඊට හේතුවක් වූයේ ජර්මනිය විසින් කොමියුනිස්ට් වාදය මර්දනය කිරීම ගැන අනෙකුත් බටහිර රටවල් සතුටු වීම යි.

⏭ ලෝක සාමය කඩ වූ ඇතැම් අවස්ථාවල දී එම රටවලට විරුද්ධව කටයුතු කිරීමට සංගමය අපොහොසත් විය.

ඉතාලිය විසින් ඇබිසිනියාව ආක්‍රමණය කරනු ලැබූ අවස්ථාවේ දී ඉතාලියට විරුද්ධව ආර්ථික සම්බාධක පැනවී ය. එහෙත් ඒවා හරිහැටි ක්‍රියාත්මක කිරීමට සංගමය අපොහොසත් විය.

⏭ ජපානය මැංචූරියාව ආක්‍රමණය කළ අවස්ථාවේ ජපානයට විරුද්ධව කිසි දු ක්‍රියාමාර්ගයක් නො ගැනීම මීට තවත් උදාහරණයකි.

මෙසේ ජාතීන්ගේ සංගමය අසාර්ථක වීමේ ප්‍රතිඵලය වූයේ නැවත වරක් ලෝක සංග්‍රාමයක් ඇති වීම යි. එය දෙවන ලෝක සංග්‍රාමය යි.

**ක්‍රියාකාරකම**

1. පළමුවන ලෝක යුද්ධයට සම්බන්ධ වූ රටවල් සිතියමක ලකුණු කරන්න.
2. පළමුවන ලෝක යුද්ධයට තුඩු දුන් හේතු තුනක් විස්තර කරන්න.
3. ලෝක යුද්ධයේ ප්‍රතිඵල සඳහන් කරන්න

## 8.3 දෙවන ලෝක මහා සංග්‍රාමය

ක්‍රි. ව. 1918 වන විට පළමුවන ලෝක මහා සංග්‍රාමය අවසන් වූ බව අපි ඉහත දී ඉගෙන ගත්තෙමු. පළමුවන ලෝක මහා සංග්‍රාමය අවසන් වී දශක දෙකක් ගත වන විට නැවතත් ලෝකයේ යුද ගිනිදැල් ඇවිලෙන පසුබිමක් සැකසෙමින් තිබුණි. එහි ප්‍රතිඵලයක් ලෙස නැවත ලෝක මහා සංග්‍රාමයක් ඇති විය. 1939 සැප්තැම්බර් මස සිට 1945 අගෝස්තු දක්වා පුරා වසර හයක පමණ කාලයක් ලොව පුරා පැවැති මෙම බිහිසුණු සංග්‍රාමය දෙවන ලෝක මහා සංග්‍රාමය ලෙස හැඳින්වේ.

**දෙවන ලෝක සංග්‍රාමයට තුඩු දුන් හේතු**

දෙවන ලෝක සංග්‍රාමය ආරම්භ වූයේ 1939 දී වුවත් එය ක්ෂණිකව ඇති වූ සිදු වීමක් නො වී ය. පළමුවන ලෝක සංග්‍රාමය අවසන් වී දශකයක් පමණ ගත වන විට යුරෝපයේ ඇතැම් රටවල ක්‍රියාකාරිත්වය සහ බලවත් රටවල් අතර තිබූ තරගකාරිත්වය නැවතත් යුද්ධයකට පසුබිම නිර්මාණය කළේ ය. මේ තත්ත්වය දෙස පරීක්ෂාකාරීව බලන විට දෙවන ලෝක සංග්‍රාමයට තුඩු දුන් හේතු කිහිපයක් හඳුනාගත හැකි ය. එම හේතු එකිනෙක විමසා බලමු.

## 01. ජර්මනියේ හිට්ලර් බලවත්වීම හා ඔහුගේ ක්‍රියා කලාපය



රූපය 8.6 - ඇඩොල්ෆ් හිට්ලර්

පළමුවෙනි ලෝක සංග්‍රාමයෙන් පසු බටහිර රටවල් මැදිහත් වීමෙන් ජර්මනියේ නව ආණ්ඩුවක් පිහිටුවූ අතර එය වෛමාර් සමූහාණ්ඩුව ලෙස හැඳින්වේ. සමකාලීනව ජර්මනිය මුහුණ දුන් ප්‍රශ්නවලට විසඳුම් ලබාදීමට වෛමාර් සමූහාණ්ඩුව අසමත් වීම නිසා ජර්මනිය තුළ හිට්ලර් වැන්නෙකුට බලය ලබා ගත හැකි තත්ත්වයක් සකස් විය. වර්සෙල්ස් ගිවිසුම අනුව ජර්මනියට විශාල යුධ වන්දියක් ගෙවීමට සිදු විය. 1920 වර්ෂයෙන් පසු ජර්මනියේ ප්‍රාග්ධනය සම්පූර්ණයෙන් යුධ වන්දි ගෙවීමට වැය වීම නිසා වෛමාර් සමූහාණ්ඩුව ශීඝ්‍රයෙන් මුදල් අච්චු ගැසීමට පෙළඹුණි. මේ නිසා මුදලේ අගය ශීඝ්‍රයෙන් පහත වැටී රට තුළ ඉහළ උද්ධමනයක් නිර්මාණය විය. රටේ භාණ්ඩ මිල ඉතා අධික ලෙස ඉහළ ගිය අතර විරැකියාව ද අතිවිශාල විය. හිට්ලර්ගේ අනුගාමිකයෝ මෙම තත්ත්වය තම වාසියට හරවා ගත්හ. 1929 වර්ෂයේ දී ඇති වූ ලෝක ආර්ථික පරිහානිය ජර්මනියට ද තදින් බලපෑවේ ය. මේ නිසා ජර්මනියේ රැකියා හිඟය ඉහළ ගිය අතර භාණ්ඩ මිල ද වැඩි විය. ඇතැම් නගරවල කම්කරු වැඩවර්ජන පවා ඇති විය. ලෝකයේ බොහෝ රටවල් මෙම ආර්ථික පරිහානියට මුහුණ දුන් නමුත් හිට්ලර්ගේ අනුගාමිකයෝ ප්‍රජාතන්ත්‍රවාදී වෛමාර් රජයට ප්‍රශ්න විසඳිය නො හැකි බව හුවා දැක්වූහ.

**ඇඩොල්ෆ් හිට්ලර්** යනු ඔස්ට්‍රියන් ජාතිකයෙකි. පළමු වන ලෝක සංග්‍රාමයේ දී ඔහු ජර්මනිය වෙනුවෙන් සටන් කළේ ය. වෛමාර් ආණ්ඩු සමයේ දී රජයට විරුද්ධව කුමන්ත්‍රණයක් කිරීම නිසා ඔහු සිරගත විය. සිර ජීවිතය ගත කරන අතර ම ඔහු තම ප්‍රසිද්ධ කෘතිය වන **මගේ සටන** නමැති කෘතිය ලිවී ය. එම කෘතියෙන් ජර්මන් නට්සිවාදය පිළිබඳව ඔහු තම අදහස් ඉදිරිපත් කළේ ය. හිරෙන් නිදහස් වූ පසු ජර්මනිය තුළ උමතු ජාතිවාදයක් පතුරවමින් සිටි හිට්ලර් 1933 දී එරට පාර්ලිමේන්තුවේ (රීෂ්ටාග්) බලය අල්ලාගෙන ජර්මන් චාන්ස්ලර්වරයා බවට පත් විය. හිට්ලර්ගේ පක්ෂය ජාතික සමාජවාදී පක්ෂය ලෙස හැඳින්වේ.

නට්සිවාදය

- ප්‍රජාතන්ත්‍රවාදයට කොමියුනිස්ට්වාදයට මෙන් ම ධනවාදයට විරුද්ධ දර්ශනයක් වූ නට්සිවාදයෙහි මූලික ඉගැන්වීම වූයේ ජර්මන් ජාතිය නිර්මල ආර්යයන්ගෙන් පැවත එන ලොව උතුම් ම ජාතිය බව යි.
- යුදෙව්වන් හෙළා දැකීම නට්සිවාදයේ විශේෂ ලක්ෂණයකි.
- හිට්ලර් විසින් රචනා කරන ලද මයින් කාම්ෆ් (මගේ සටන) නම් කෘතියේ නට්සිවාදය විස්තර කොට ඇත.
- නට්සිවාදය යනු පක්ෂයේ ඒකාධිපතිත්වය පදනම් කර ගත් දේශපාලන ක්‍රමයකි.

හිට්ලර් තමන්ගේ උපදේශකයන් ඉදිරියේ කථා පවත්වමින් ජනතාවගේ සිත් ඇද බැඳ ගන්නා ලෙස ජනතාව ඇමතීමට පෙරපුහුණුවීම් පවා සිදු කළ බව වාර්තා වේ. හිට්ලර් 1933 දී බලයට පත් වූයේ එරට පාර්ලිමේන්තුවේ තවත් මන්ත්‍රීවරුන්ගේ සහය ලබාගනිමිනි. එහෙත් ක්‍රමයෙන් තම බලය ස්ථාවර කර ගත් හෙතෙම ඒකාධිපති බලතල රැස් කරන්නට විය. ඔහු ජර්මනියේ චාන්සලර් ධුරයට පත් වන විට වොන් හින්ඩෙන්බර්ග් ජර්මනියේ ජනාධිපති වරයා ලෙස කටයුතු කළේ ය. මහලු ජනාධිපති හින්ඩෙන්බර්ග් ටික කලකින් මිය ගිය අතර හිට්ලර් විසින් ජනාධිපතිගේ බලතල තමන් වෙත පවරා ගන්නා ලදි. මැතිවරණයක් ආසන්නව තිබිය දී අනුගාමිකයන් ලවා ජර්මන් පාර්ලිමේන්තු ගොඩනැගිල්ලට ගිනි තැබ්බවූ හෙතෙම එහි වරද කොමියුනිස්ට්වරුන් වෙත පැවරී ය. අනතුරුව ඔහු සියලු දේශපාලන පක්ෂ තහනම් කොට කොමියුනිස්ට්වාදීන් හා යුදෙව්වන් වැනි විරුද්ධවාදීන් සංහාරය කිරීමට පටන් ගත්තේ ය. මෙහි දී හිට්ලර්ගේ එස් එස් හමුදාව හා ගෙස්ටාපෝ නැමති රහස් පොලීසිය ම්ලේච්ඡ ඝාතනවල යෙදුණි. හිට්ලර් යනු ජන මාධ්‍ය උපරිම මට්ටමින් තමන්ට වාසි දයක අයුරින් යොදා ගත් අයෙකි. ඔහුගේ මාධ්‍ය කටයුතු භාරව සිටි ගොබෙල්ස් ඇමතිවරයා මාධ්‍ය සාරධර්ම උල්ලංඝනය කරමින් හිට්ලර්ට පක්ෂපාතී ජන මතයක් ඇති කිරීමට ජන මාධ්‍ය යොදා ගත්තේ ය. හිට්ලර් විසින් ජර්මනිය තුළ ප්‍රජාතන්ත්‍රවාදී නිදහස සම්පූර්ණයෙන් ම අහුරා දමන ලදි. පුවත්පත් නිදහස, රැස්වීම් පැවැත් වීමේ නිදහස, අදහස් ප්‍රකාශ කිරීමේ නිදහස තහනම් කෙරිණි. හිට්ලර් පොරොන්දු වූ උතුම් ජර්මනිය ගොඩනැගීම වෙනුවෙන් සමකාලීන ජර්මානුවෝ මෙබඳු දේ ඉවසා සිටියහ. හිට්ලර් ජර්මනිය තුළ කොමියුනිස්ට්වාදීන් මර්දනය කරනු දුටු බටහිර ධනවාදී රටවල් කොමියුනිස්ට් වාදය විනාශ කිරීමෙන් තෘප්තිමත් වී හිට්ලර්ට එරෙහිව කටයුතු කිරීමෙන් වැලකුණි. මේ නිසා හිට්ලර් තවත් මුරණ්ඩු වූ බව පෙනේ.

1934 වර්ෂයේ දී ජාතීන්ගේ සංගමයෙන් ඉවත් වූ හිට්ලර් ජර්මනිය නැවත යුද්ධයක් කරා මෙහෙයවිය. 1938 දී අසල්වැසි ඔස්ට්‍රියාව ආක්‍රමණය කළ හිට්ලර් එය ජර්මනියට ඈඳා ගෙන එහි නට්සිවාදී පාලනයක් ආරම්භ කළේ ය. අනතුරුව චෙකොස්ලෝවැකියාව කෙරෙහි අවධානය යොමු කළ හිට්ලර් එහි සිටි චෙකොස්ලෝවැකියානු හා ජර්මන් ජාතිකයන් වෙන් කරමින් සුඩෙටන්ලන්තය යනුවෙන් වෙන ම ඒකකයක් පිහිටුවීමට උදව් කළේ ය. අනතුරුව සුඩෙන්ටන්ලන්තය පමණක් නොව චෙකොස්ලෝවැකියාව ද ආක්‍රමණය කළ හිට්ලර් එරට ජර්මන් බලයට යටත් කළේ ය. හිට්ලර් පෝලන්තය ආක්‍රමණය කරන තෙක් බටහිර රටවලින් ඔහුට සැලකිය යුතු විරෝධයක් මතු නො වුණි. එහෙත් හිට්ලර්ගේ පෝලන්ත ආක්‍රමණයත් සමග බ්‍රිතාන්‍යය සහ ප්‍රංශය වැනි රටවල් හිට්ලර්ට විරුද්ධව සටනට පැමිණුණි. එය දෙවන ලෝක සංග්‍රාමයේ ආරම්භය විය. 1933 වර්ෂයේ දී බලයට පැමිණි හිට්ලර් වසර 6ක් තුළ ජර්මනිය බලවත් කොට දෙවන ලෝක සංග්‍රාමය ඇරඹූ අතර හිට්ලර් පරාජය කොට ජර්මන් නට්සිවාදය ලොවෙන් අතුගා දැමීමට ඇමෙරිකාව, එංගලන්තය, රුසියාව ඇතුළු මිත්‍ර ජාතීන්ට වසර හයක් හිට්ලර් සමග සටන් කිරීමට සිදු විය.

මේ කාලයේ දී හිට්ලර් විසින් වධ කඳවුරු පිහිටුවා අහිංසක යුදෙව්වන් හා රුසියානුවන් ලක්ෂ ගණනින් ඝාතනය කරවනු ලැබීය. අවුට්විට්ස්, බර්ගර් බෙල්සන්, බෙල්ෂෙග්, සොම්බොර් එවැනි කඳවුරුවලට උදහරණ වේ. මෙසේ හිට්ලර් හා නට්සි වාදී නායකයන් ගෙන ගිය ආක්‍රමණකාරී ප්‍රතිපත්තීන් නිසා දෙවන ලෝක සංග්‍රාමයේ දී

සමස්ත ලෝක වාසීන්ට ම දුක් විඳීමට සිදු විය. මුළු ලෝකයේ ම ප්‍රමුඛ අවධානය යුද්ධයට යොමු වීම හේතුවෙන් සමස්ත ලෝකයේ සංවර්ධනය වසර ගණනකින් පසු පසට ගියේ ය. පළමුවන ලෝක සංග්‍රාමයෙන් පසු සිදු වූ විශාල ම විනාශය දෙවන ලෝක සංග්‍රාම කාලයේ දී සිදු විය.



රූපය 8.7 නාසි වද කඳවුරක දී ඝාතනය වූ පිරිසකගේ මුදු හා පාවහන්



රූපය 8.8 නාසි ඝාතන කඳවුරුවලට ගාල් කර සිටි
අහිංසක ළමා සිරකරුවන්

## 02. ඉතාලියේ මුසෝලිනීගේ ක්‍රියාකලාපය


රූපය 8.9 බෙනීටෝ මුසෝලිනී

පළමුවන ලෝක යුද්ධයේ දී, ඉතාලිය ජයග්‍රාහී පිළේ සිටි නමුත් යුද්ධයෙන් පසු ඇති කරගත් සාම ගිවිසුම් එරටට වාසි සහගත නො වී ය. මෙම ගිවිසුම් මගින් එරට අපේක්ෂා කළ තරම් යටත් විජිත ලබා ගැනීමට හැකියාව නො ලැබුණි. ඒ නිසා ඉතාලිය තුළ යුද්ධයෙන් පසු විරැකියාව, ආහාර හිඟය වැනි ආර්ථික ගැටලු රැසක් පැන නැගුණි. එසේ ම රට තුළ කම්කරු ප්‍රශ්න උග්‍ර වී වැඩවර්ජන රැල්ලක් පැතිරුණි. ඉතාලියේ පැවැති මෙම අස්ථාවර තත්ත්වයෙන් ප්‍රයෝජන ගත් බෙනීටෝ මුසෝලිනී 1922 වර්ෂයේ දී පැසිස්ට්වාදී දේශපාලන පක්ෂය හරහා ඉතාලියේ දේශපාලන බලය අල්ලා ගත්තේ ය. මුසෝලිනීගේ දේශපාලන ක්‍රමය පැසිස්ට්වාදය ලෙස හැඳින්වේ. පැසිස්ට්වාදය යනු හිට්ලර්ගේ නාසිවාදය මෙන් තනි පක්ෂයේ ඒකාධිපති පාලන ක්‍රමයකි. ඉතාලියේ බලය ලබා ගත් මුසෝලිනී කළු කමිස හමුදාව නම් සන්නද්ධ භටයන් යොදා ගෙන පැසිස්ට්වාදයට එරෙහි පිරිස් විනාශ කිරීමට කටයුතු කළේ ය. මෙසේ ඒකාධිපති පාලනය මගින් මුසෝලිනී ඉතාලියේ ආර්ථිකය තරමක් ශක්තිමත් කළ නමුත් 1929 වර්ෂයේ දී ලෝක ආර්ථික පරිහානියේ අහිසි බලපෑම් ඉදිරියේ ඔහුගේ ප්‍රයත්නය අසාර්ථක විය. අභ්‍යන්තර දේශපාලන බලය හැම අංශයකින් ම තමන් අතට ගොනු කර ගත් මුසෝලිනී අනතුරුව ඉතාලි බලය විදේශීය වශයෙන් පැතිරවීමේ ව්‍යාපාරයකට අත ගැසී ය. ජර්මනිය මෙන් ම ඉතාලිය ද එක්සත් රටක් බවට පත් වූයේ 1870 වර්ෂයේ දී ය. ඒ වන විට ලෝකයේ බොහෝ සාරවත් ප්‍රදේශ සෙසු යුරෝපා ජාතිකයෝ අල්ලාගෙන තිබුණි. මේ නිසා ඉතාලිය යටත් විජිත පිහිටුවීමට යාමේ දී යුරෝපා රටවල් අතර ගැටුම් ඇති විය හැකි පසුබිමක් තිබුණි. 1936 වර්ෂයේ දී මුසෝලිනී අප්‍රිකාවේ ඇබිසීනියාව හෙවත් වර්තමාන ඉතියෝපියාව ආක්‍රමණය කොට අල්ලා ගත්තේ ය. පසුව හිට්ලර් සමග එකතු වූ මුසෝලිනී පැසිස්ට් බලය තවදුරටත් ව්‍යාප්ත කර ගැනීමේ අරමුණින් දෙවන ලෝක සංග්‍රාමයට සම්බන්ධ විය. එහි දී නට්සිවාදී හා පැසිස්ට්වාදී බල කඳවුර එංගලන්තය, රුසියාව, ඇමෙරිකාව ප්‍රමුඛ රටවලට එරෙහිව සටන් වැදිණි. ලෝක සංග්‍රාමය අවසාන අවධියේ දී අත්අඩංගුවට පත් වූ මුසෝලිනී ජීවිතයෙන් වන්දි ගෙවී ය.

## 03. ජපානයේ ක්‍රියාකලාපය

19 වන සියවස අග භාගයේ සිට ආසියාවේ රටවල් අතරින් ජපානය දියුණු රටක් ලෙස ඉදිරියට පැමිණ තිබේ. එරට ආර්ථික කටයුතු පවත්වාගෙන යාමේ දී නිෂ්පාදන කටයුතු සඳහා අවශ්‍ය අමුද්‍රව්‍ය ලබා ගැනීමට මෙන් ම ස්වකීය නිෂ්පාදන අලෙවි කිරීම සඳහා ද වෙළෙඳපළවල් සොයා ගැනීමේ අවශ්‍යතාවක් මතු විය. එහෙත් ඒ වන විට ආසියාවේ බොහෝ ප්‍රදේශ යුරෝපා ජාතීන්ගේ යටත් විජිත බවට පත්ව තිබුණි. එබැවින්

ජපානයේ ඉහත කී ආර්ථික අවශ්‍යතා ඉටු කර ගැනීමට යාමේ දී හෙවත් ආසියාවේ ජපන් අධිරාජ්‍යයක් ගොඩනැගීමේ දී අනිවාර්යයෙන් ම යුරෝපා රටවල් සමග ගැටුම් ඇති වීමේ පසුබිමක් නිර්මාණය වෙමින් තිබුණි. 1934 දී ජපානය උතුරු චීනයේ මැන්චූරියාව ආක්‍රමණය කොට එය යටත් කර ගත්තේ ය. ජපානයේ ආක්‍රමණකාරි පිළිවෙත ජාතීන්ගේ සංගමයේ සාකච්ඡාවට භාජන වූ අතර එකී ආක්‍රමණය පිළිබඳ ජාතීන්ගේ සංගමය ඉදිරියේ ජපානය වැරදිකරු බවට ද පත් විය. මේ අවස්ථාවේ දී ජාතීන්ගේ සංගමයෙන් ඉවත් වූ ජපානය චීනයේ වැදගත් වරායන් හා නගර කිහිපයක් අල්ලා ගනිමින් තම ආක්‍රමණකාරී පිළිවෙත දිගට ම පවත්වාගෙන ගියේ ය. හිට්ලර්ගේ හා මුසෝලිනීගේ කටයුතු යුරෝපයට මුලදී බලපෑවා සේ ජපානයේ ක්‍රියාකලාපය ආසියාව කෙරෙහි බලපෑවේ ය. මේ නිසා දෙවන ලෝක යුද්ධය ඇරඹෙන අවධිය වන විට ජපානය ආසියානු රටවල ආක්‍රමණිකයා බවට පත් විය. මෙපරිද්දෙන් යුද ගිනිදැල් ආසියාවට පැමිණීම ඉක්මන් වීමට ජපානයේ ක්‍රියාකාරිත්වය බලපෑවේ ය.

### 04. ජාතීන්ගේ සංගමයේ දුර්වලතා

ජාතීන්ගේ සංගමය පිහිටුවීමේ මූලික අරමුණ වූයේ ලෝක සාමය ආරක්ෂා කර ගැනීම හා යළි යුද්ධයක් ඇතිවීම වැළැක්වීම බව ඉහත දී පැහැදිලි කෙරිණි. එහෙත් යුද්ධයක් වළක්වා ගැනීම පිණිස අවශ්‍ය බලය හෝ ශක්තිය එම සංගමය සතුව නො තිබුණි.

ලෝක සාමය ආරක්ෂා කිරීම සඳහා සාමූහිකව පිහිටුවා ගත් ජාතීන්ගේ සංගමය එම කාර්යය කිරීමට අසමත් වීම නිසා විවිධ රටවල් මිත්‍ර ගිවිසුම්වලට එළඹුණි. මෙහි ප්‍රතිඵලයක් ලෙස බලවත් ජාතීහු තම කණ්ඩායමේ ආරක්ෂාව සඳහා ආයුධ සන්නද්ධ වීමට පටන් ගත්හ. මෙසේ විවිධ රටවලට බෙදී ආයුධ සන්නද්ධ වීම මගින් යුද්ධය සඳහා පසුබිමක් නිර්මාණය විය.

**දෙවන ලෝක යුද්ධයේ පාර්ශ්වකරුවන්**




සිතියම 8.2

මිත්‍ර බලවතුන් - බ්‍රිතාන්‍යය, ප්‍රංශය, ඇමෙරිකා එක්සත් ජනපදය ඇතුළු බටහිර ලිබරල් වාදී රටවල් බොහොමයක් මෙම මිත්‍ර බලවතුන්ගේ පක්ෂයට ඇතුළු විය. කොමියුනිස්ට්වාදී රුසියාව ද මිත්‍ර පක්ෂයට අයත් විය.

ජර්මනිය හා ඉතාලිය යන යුරෝපීය රටවල් දෙක 1937 වර්ෂයේ දී ජපානය සමග රහසිගත ගිවිසුමකට එළඹුණි. එහි දී රටවල් තුනේ ම අගනුවරවල නම් අනුව මේ පිරිස බර්ලින් රෝම ටෝකියෝ අක්ෂය නමින් හැඳින්විණි. පසුව මෙම රටවල් තුන හැඳින්වීමට අක්ෂ බලවතුන් යන පදය භාවිත විය.



රූපය 8.10 ජර්මන් ප්‍රහාරක සබ්මැරීනයක්



රූපය 8.11 යුදෙව්වන් හා යුද්ධයේ දී අල්ලා ගත් සිරකරුවන් විනාශ කිරීමට හිට්ලර් විසින් යොදා ගත් ගෑස් උදුන්

**දෙවන ලෝක යුද්ධයේ ව්‍යාප්තිය**

ජර්මනියේ හිට්ලර් ක්‍රි. ව. 1939 සැප්තැම්බර් 01 දින පෝලන්තය ආක්‍රමණය කිරීමත් සමඟ දෙවන ලෝක සංග්‍රාමය ආරම්භ විය. පෝලන්තය ආරක්ෂා කිරීමට ගිවිසගෙන සිටි බ්‍රිතාන්‍යය හා ප්‍රංශය ජර්මනියට විරුද්ධව යුධ ප්‍රකාශ කරමින් දෙවන ලෝක මහා සංග්‍රාමයට අවතීර්ණ විය. ජර්මනිය සති හතරක් ඇතුළත පෝලන්තය පරාජයට පත්

කළේ ය. සිය රණකාමී පිළිවෙත ඉදිරියට ගෙන යමින් හිට්ලර් විසින් නෝර්වේ, ඩෙන්මාර්කය ඕලන්දය, බෙල්ජියම යන රටවල් අල්ලා ගන්නා ලදි. 1940 ජූනි මාසයේ දී ප්‍රංශයට පහර දී හිට්ලර් එහි අගනුවර වූ පැරීසිය අල්ලා ගත්තේ ය.



රූපය 8.12 බ්‍රිතාන්‍ය ප්‍රහාරක ගුවන් යානා

ජර්මන් සේනා පැරීසියට ඇතුළු වීමත් සමග මුසෝලිනී ද යුද්ධයට සම්බන්ධ වෙමින් ඉතාලි දේශ සීමා දෙසින් සිය සේනා ප්‍රංශයේ විවිධ ප්‍රදේශ ආක්‍රමණය කිරීම සඳහා මෙහෙයවී ය. මෙසේ ජර්මන් ඉතාලි හමුද ප්‍රංශය යටත් කිරීමෙන් පසු ඇති කර ගත් ගිවිසුම අනුව ප්‍රංශය, ජර්මනිය යටතට පත් විය.



රූපය 8.13 වින්ස්ටන් චර්චිල්

ප්‍රංශයේ පරාජය බ්‍රිතාන්‍යයට එල්ල කළ බලවත් පහරක් ලෙස සැලකූ බ්‍රිතාන්‍ය අගමැති වින්ස්ටන් චර්චිල්, ඉදිරියේ ඇති විය හැකි අන්තරායන්ට මුහුණ දීම සඳහා උපක්‍රමශීලීව කටයුතු කිරීමේ වැදගත්කම වටහා ගත්තේ ය. චතුර කථිකයෙකු මෙන් ම දක්ෂ නායකයෙකු ද වූ චර්චිල් මුළුමහත් බ්‍රිතාන්‍ය ජනතාව ම නට්සි විරෝධී සටනට පෙළඹවීමට සමත් විය. එමෙන් ම ඔහු බ්‍රිතාන්‍ය අධිරාජ්‍යයට අයත් කැනඩාව, ඔස්ට්‍රේලියාව, නවසීලන්තය, දකුණු අප්‍රිකාව, ඉන්දියාව, ලංකාව ආදී රටවල් සහභාගි කොට ගනිමින් ජර්මනියට විරුද්ධ යුධ පෙරමුණක් ගොඩනගා ගත්තේ ය. මීට අමතරව ඇමරිකා එක්සත් ජනපදයෙන් බ්‍රිතාන්‍යයට විශාල සහයක් ලැබුණි.

### ඇමරිකා එක්සත් ජනපදය යුද්ධයට සම්බන්ධ වීම

ජර්මනිය හා ඉතාලිය යුරෝපා රටවල් අත්පත් කර ගනිමින් සිටි අවධියේ දී ජපානය ද ආසියාවේ අධිරාජ්‍යයක් ගොඩනංවා ගැනීමට ආක්‍රමණ ආරම්භ කිරීම පිළිබඳව ඉහතින් සාකච්ඡා කළෙමු. මෙහි දී පෙරදිග යටත් විජිත වැඩි වශයෙන් තිබූ බ්‍රිතාන්‍යය, ප්‍රංශය, ඇමරිකා එක්සත් ජනපදය ආදී රටවල් සමග ජපානයට ගැටෙන්නට සිදු විය. මෙම සටන්වල දී පර්ල් වරායේ හමුදා කඳවුර ජපානයට ප්‍රධාන වශයෙන් බාධාවක් විය. එබැවින් 1941 නොවැම්බර් 07 දින ජපානය පර්ල් වරායේ ඇමරිකානු නාවුක කඳවුරට බෝම්බ හෙළා විනාශ කළේ ය. මෙම සිදුවීම මත ඇමරිකා එක්සත් ජනපද ජනාධිපති

ෆ්‍රැන්ක්ලින් රූස්වෙල්ට් ජපානයට විරුද්ධව යුධ ප්‍රකාශ කළේ ය. ඒ අනුව ජපානය හා එකතු වී සිටි ජර්මනිය හා ඉතාලිය ඇමරිකාවට විරුද්ධව යුද්ධ ප්‍රකාශ කර ඇත. මේ අනුව 1941 අවසානය තෙක් ම යුරෝපයට පමණක් සීමා වී තිබූ යුද්ධය ලෝක මහා සංග්‍රාමයක් බවට පත් විය.

ජර්මනියේ මීළඟ ඉලක්කය වූයේ බ්‍රිතාන්‍යය යි. හිට්ලර් ගුවන් හමුදාව මගින් බ්‍රිතාන්‍යය ආක්‍රමණය කිරීමට තීරණය කළේ ය. ඉන්පසු ජර්මන් ගුවන් හමුදාව බ්‍රිතාන්‍ය ගුවන්තොටුපළවලට හා නගරවලට බෝම්බ හෙළී ය. බ්‍රිතාන්‍යයට ප්‍රබල නාවුක හා ගුවන් බලයක් තිබිණි. බ්‍රිතාන්‍යය ද එම ශක්තිය යොදාගෙන සතුරු ගුවන් යානා විනාශ කිරීම සඳහා ප්‍රහාරක ගුවන් යානා යෙදවී ය. 1940 සැප්තැම්බර් මස 14 දින දෙපාර්ශ්වය අතර



රූපය 8.14 පර්ල් වරායට පහර දීම

ඉතා දරුණු ගුවන් සටන් සිදු විය. එහි දී බ්‍රිතාන්‍ය ගුවන් හමුදව විසින් ජර්මන් ගුවන් යානා 56ක් පමණ බිම හෙළන ලදැයි වාර්තා වේ. තමන් සිතුවාට වඩා බ්‍රිතාන්‍ය යුධ ශක්තිය බොහෝ ඉදිරියෙන් සිටින බවත් එහි ප්‍රබල කාර්ය ශූරත්වයත් වටහා ගත් හිට්ලර් බ්‍රිතාන්‍යට පහර දීම නවතා දැමී ය.

## ජර්මනිය රුසියාව ආක්‍රමණය කිරීම

අනතුරුව හිට්ලර් විසින් කිසි දු පැහැදිලි හේතුවක් නො දක්වා රුසියාව ආක්‍රමණය කරන ලදි. අපහසුතාවකින් තොරව රුසියාව අල්ලා ගත හැකි වෙතැයි හිට්ලර් කල්පනා කළේ ය. ප්‍රංශ මහා අධිරාජයා වූ නැපෝලියන් බොනපාට් මීට පෙර රුසියාව ආක්‍රමණය කොට අන්ත පරාජයක් ලබා දස දහස් ගණනක් තුවාළකරුවන් සමග පසු බැස ගියේ ය. වසර 125කට පසු හිට්ලර් ද එබඳු පරාජයක් අභිමුවට පැමිණියේ ය. සෝවියට් හමුදව

කල්තියාම ජර්මනිය සමග මෙබඳු සටනකට සූදානම්ව සිටියේ ය. එබැවින් මෙහි දී සතුරා මුලා කිරීමට අවශ්‍ය සියලු උපායන් යොදන ලදි. දැඩි සීත සෘතුව එළඹෙන තෙක් ජර්මන් හමුදාව රඳවා ගැනීම රුසියාව අනුගමනය කළ එබඳු උපායකි. එදා නැපෝලියන් හමුදාව සීත සෘතුවේ දී මුහුණ දුන් ඉරණමට නට්සි හමුදාවට ද මුහුණ දීමට සිදු විය. ජර්මන් හමුදාව දිග සීත සෘතුවකට සූදානම්ව සිටියේ නැත. මේ නිසා අධික සීතල, ආහාර හිඟය, ලෙඩ රෝග ආදිය අතිවිශාල වශයෙන් ජර්මන් හමුදා මිය යාමට හේතුවක් විය. උපායශීලිව තම හමුදා පසුපසට ගැනීමට තරම් විචක්ෂණ භාවයක් හිට්ලර් තුළ නො තිබුණි. රුසියන් භූමියේ දී තම හමුදා මුහුණ දී ඇති සැබෑ දුෂ්කරතාව පිළිබඳ අනවබෝධයෙන් පසු වූ හිට්ලර් සිය හමුදා ඉදිරියට ම මෙහෙයවීමට අණ දුන්නේ ය. එහි දී ජර්මන් හමුදා දරුණු පරාජයකට ලක් කිරීමට රුසියාවේ රතු හමුදාවට හැකියාව ලැබුණි.

### ජර්මනිය යටත් වීම

රුසියාව සටන ඉදිරියට ගෙන යමින් නැගෙනහිර යුරෝපයේ නට්සි පාලනය යටතේ පැවැති ප්‍රදේශ මුදා ගෙන ජර්මනිය දෙසට පැමිණියේ ය. මේ අතරතුර ප්‍රංශ හා ඇමරිකානු සේනා බටහිර දෙසින් ප්‍රහාර එල්ල කළහ. 1945 මාර්තු මාසය වන විට ජර්මනියට පැමිණි මිත්‍ර සේනා මැයි මස වන විට බර්ලින් නුවරට ළඟා වූහ. පරාජය අත ළඟ බව අවබෝධ කරගත් හිට්ලර් ඇතුළු ඔහුගේ අණ දෙන නිලධාරිහු රාශියක් ම සිය දිවි නසා ගත්හ. ඒ අනුව 1945 මැයි මාසයේ දී ජර්මනිය කොන්දේසි විරහිතව යටත් විය.

### ජපානය යටත් වීම





රූපය 8.15 හිරෝෂිමාවට හෙළන ලද පරමාණු බෝම්බය

ජපානය සිය යුධ ශක්තිය මෙහෙයවමින් සිංගප්පූරුව, මලයාසියාව, බුරුමය, හොංකොං ආදි බ්‍රිතාන්‍ය යටත් විජිත අල්ලා ගත්තේ ය. අනතුරුව බෝර්නියෝ, ජාවා, සුමාත්‍රා, පිලිපීනය ආදි රටවල් ද අල්ලා ගත්තේ ය. මෙලෙස ක්‍රි. ව. 1942 වන විට ලංකාව හා ඉන්දියාව හැර මුළු දකුණු සහ අග්නිදිග ආසියාව ම යටත් වූ බව පෙනෙන්නට තිබුණි.

ක්‍රි. ව. 1942 අප්‍රේල් 05 දා කොළඹට ද අප්‍රේල් 07 දා ත්‍රිකුණාමලයට ද ජපානය විසින් බෝම්බ හෙළන ලදි. මේ නිසා ජපන් හමුදාව ශ්‍රී ලංකාව ආක්‍රමණය කරනු ඇතැයි සිතූ බ්‍රිතාන්‍යයන් තම සේනාංක කිහිපයක් ම ලංකාවේ ස්ථානගත කළේ ය. එහෙත් දෙපාර්ශ්වය අතර කිසි දු ගැටුමක් ලංකාව තුළ සිදු නො වී ය.

ජපානය හා මිත්‍ර පාක්ෂික හමුදා අතර දරුණු සටන් ඇති වූ අතර එම සටන්වලින් ජපානය පරාජයට පත් විය. පරාජයට පත් වෙමින් සිටි ජපානයට මිත්‍ර පක්ෂය විසින් කරන ලද අවසන් නිවේදනය ද ප්‍රතික්ෂේප කිරීම නිසා ක්‍රි. ව. 1945 අගෝස්තු 06 දා හිරෝෂිමාවට ද, අගෝස්තු 09 දා නාගසාකි නගරයට ද ඇමරිකා එක්සත් ජනපදය විසින් පරමාණු බෝම්බ හෙළන ලදි. තත්පර කිහිපයක් තුළ නගර දෙක විනාශ වූ අතර ලක්ෂයකට අධික පිරිසක් මිය ගියහ. ඊට වඩා විශාල පිරිසක් තුවාළ ලැබූහ. විකිරණ බලපෑම නිසා බොහෝ පිරිසක් පරම්පරාගත රෝගීන් බවට පත් වූහ. මෙම දරුණු විනාශය දුටු ජපානයේ හිරෝහිතෝ අධිරාජයා 1945 අගෝස්තු 14 දින කොන්දේසි විරහිතව යටත් වීමට එකඟ වීමත් සමඟ දෙවන ලෝක මහා සංග්‍රාමය නිමාවට පත් විය.



රූපය 8.16 හිරෝෂිමා විනාශය

**දෙවන ලෝක මහා සංග්‍රාමයේ ප්‍රතිඵල**

❖ දෙවන ලෝක මහා සංග්‍රාමයෙන් ජර්මනිය, ඉතාලිය හා ජපානය අයත් වූ අක්ෂ පිල පරාජයට පත් විය.

❖ එම යුද්ධය ලෝක ඉතිහාසයේ මෙතෙක් ඇති වූ බිහිසුණු ම සංග්‍රාමය විය. මෙම සංග්‍රාමයේ දී මිනිස් ජීවිත මිලියන 50කට වඩා විනාශ වූ බව සැලකේ. දේපල හා ධන විනාශය ගණනය කළ නො හැකි තරම් ය.

❖ යුදෙව්වන් ඝාතනය කිරීමේ හිට්ලර්ගේ වැඩ පිළිවෙළ අනුව ජර්මනිය, පෝලන්තය, හංගේරියාව වැනි ජර්මන් බලය පැතිරුණු රටවල යුදෙව්වන් මිලියන ගණනක් නට්සි හමුදාව විසින් වද කඳවුරුවලට ගාල් කර මරා දමන ලදි.

❖ පරමාණු බෝම්බය යුධ අවියක් ලෙස භාවිත කරන ලද අතර ඉන් ඇති වූ බිහිසුණු විනාශයෙන් පරාජයට පත් වූවෝ පමණක් නො ව ජය ලැබූවෝ ද මහත් කම්පනයට පත් වූහ. පරමාණු බෝම්බ හෙළීමෙන් ඒ අවස්ථාවේ විශාල ජීවිත ප්‍රමාණයක් විනාශ වූවා පමණක් නොව එහි භයානක ප්‍රතිඵල අනාගත පරම්පරාව කෙරෙහි ද ඇති විය.

❖ මෙතෙක් ලෝක බලවතුන් වශයෙන් සිටි ප්‍රංශයට හා බ්‍රිතාන්‍යයට එම ස්ථාන අහිමි වී ගිය අතර ඔවුන්ගේ අධිරාජ්‍යවාදී සංකල්ප බිඳ වැටුණි. මේ නිසා බ්‍රිතාන්‍යය හා ප්‍රංශය සතුව පැවැති ශ්‍රී ලංකාව, ඉන්දියාව හා ඉන්දු චීනය ඇතුළු යටත් විජිත රැසකට නිදහස ලැබිණි.

❖ විනාශයට පත් වූ යුරෝපයේ පරාජිත රටවල් නගා සිටුවීම සඳහා ඇමරිකා එක්සත් ජනපදය ඉදිරිපත් විය. මෙම ආධාර වැඩපිළිවෙළ එවක ඇමරිකා එක්සත් ජනපද රාජ්‍ය ලේකම් ධුරය දැරූ ජෝන් මාර්ෂල්ගේ නමින් මාර්ෂල් සැලැස්ම ලෙස හඳුන්වනු ලැබී ය.

❖ ලෝක මහා සංග්‍රාමයෙන් පසුව ඇමරිකා එක්සත් ජනපදය හා සෝවියට් රුසියාව ලෝක බලවතුන් ලෙස නැගී සිටියහ. ඇමරිකා එක්සත් ජනපදය ප්‍රජාතන්ත්‍රවාදයේ ආරක්ෂකයා බවට පත් වූ අතර සෝවියට් රුසියාව සමාජවාදයේ ආරක්ෂකයා බවට පත් විය. මෙම බලවතුන් දෙදෙනා මුල් කොටගෙන ලෝකයේ තවත් රටවල් රැසක් බල කඳවුරු දෙකකට බෙදුණි. ඇමරිකා එක්සත් ජනපදය ප්‍රමුඛ රටවල් ධනවාදී කඳවුර ලෙස ද සෝවියට් රුසියාව ප්‍රමුඛ රටවල් සමාජවාදී කඳවුර ලෙස ද හැඳින්වේ.



රූපය 8.17 හිට්ලර්ගේ හමුදාව විසින් විනාශ කරන ලද ගමක මිය ගිය දරුවන් සිහි කිරීමට තැනූ ස්මාරකයක්

දෙවන ලෝක යුද්ධයෙන් පසුව ලෝකය මෙසේ බල කඳවුරු දෙකකට බෙදී අවි ආයුධ භාවිත නො කොට වුවත් තම කඳවුර ජයග්‍රාහී කරගැනීම සඳහා විවිධ උපක්‍රම යොදා ගනිමින් සටනක් ගෙන ගියහ. මෙය සීතල යුද්ධය හෙවත් නිරවි යුද්ධය ලෙස හඳුන්වයි. දෙවන ලෝක යුද්ධයෙන් පසු දශක හතරක් පමණ යනතුරු මෙය පැවතුණි. මේ සඳහා ඔවුන් භාවිත කළ ප්‍රධාන උපක්‍රම වූයේ,

- රහස් ඔත්තු සේවා යොදා ගැනීම
- සංවිධාන පිහිටුවා ගැනීම
- ආධාර වැඩපිළිවෙළ දියත් කිරීම ආදිය යි.

දෙවන ලෝක මහා සංග්‍රාමයෙන් පසු ආසියා, අප්‍රිකා රටවලට යටත් විජිත තත්ත්වයෙන් මිදී ස්වාධීනත්වය ලබා ගැනීමට අවස්ථාව ලැබුණි. එම රටවල සමාජ ආර්ථික තත්ත්වය ගොඩ නැගීම පිණිස ආධාර ලබා දීමට ඇමරිකා එක්සත් ජනපදය හා සෝවියට් රුසියාව ඉදිරිපත් විය. එමඟින් ඔවුන් බලාපොරොත්තු වූයේ එම රටවල් තම බල කඳවුර වෙතට නම්මවා ගැනීම යි. එහි දී ආධාර ලබාදෙන පක්ෂයට සෘජුව හෝ වක්‍රව පක්ෂපාතී වීමට සිදු වීම මේ රටවල ස්වාධීනත්වයට ගැටලුවක් විය. මේ නිසා කිසි දු බල කඳවුරකට නො බැඳී කටයුතු කිරීම අරමුණු කර ගනිමින් ක්‍රි. ව. 1961 දී නො බැඳි ජාතීන්ගේ සමුළුව පිහිටුවා ඇත. හිටපු ඉන්දියානු අගමැති ජවහර්ලාල් නේරුතුමා මෙහි පුරෝගාමී නායකයෙකි.

එවකට යුගෝස්ලෝවියානු ජනාධිපති මාර්ෂල් ටිටෝ හා ඊජිප්තු ජනාධිපති අබ්දුල් ගමාල් නසාර් යන නායකයන් ද මේ සඳහා විශාල සහායක් දක්වා ඇත.

**ක්‍රියාකාරකම**

පහත වගුව සම්පූර්ණ කරන්න.

| දෙවන ලෝක සංග්‍රාමයට තුඩු දුන් හේතු | දෙවන ලෝක සංග්‍රාමයේ ප්‍රතිඵල |
|---|---|
| | |

## 8.4 එක්සත් ජාතීන්ගේ සංවිධානය

දෙවන ලෝක සංග්‍රාමය පවතින අතරතුර ම බ්‍රිතාන්‍ය අගමැති වින්ස්ටන් චර්චිල් හා ඇමෙරිකා එක්සත් ජනපදයේ ජනාධිපති ෆ්‍රැන්ක්ලින් රූස්වෙල්ට් 1941 වර්ෂයේ අගෝස්තු මස "අත්ලාන්තික් ප්‍රඥප්තිය" අත්සන් කළහ. මිත්‍ර ජාතීන් යුද්ධයට අවතීර්ණ වී ඇත්තේ

කුමක් සඳහා දැයි පැහැදිලි කළ මෙම ලියවිල්ලෙන් සාමය උදෙසා ජාත්‍යන්තර සහයෝගය ලබා ගැනීම, ජාතීන්ගේ ස්වාධීනතාව හා ස්වාධිපත්‍යය ආරක්ෂා කිරීම ගැන අවධානය යොමු කර ඇත. මෙම එකඟතාව පදනම් කර ගැනීමෙන් 1942 වර්ෂයේ ජනවාරි මස වොෂින්ටන් නගරයේ දී අක්ෂ බලවතුන්ට එරෙහිව සටන් කරන ජාතීන් 26කගේ නම් ප්‍රකාශයට පත් කෙරුණි. එහි දී මෙම ජාතීන් හැඳින්වීමට එක්සත් ජාතීන් යන නාමය මුල් වරට භාවිත විය. අනතුරුව 1943 ඔක්තෝබර් මස රුසියාව, බ්‍රිතාන්‍ය, ඇමෙරිකාව හා චීනය යන රටවල විදේශ ඇමතිවරුන් මොස්කව් නුවර පැවැත්වූ සාකච්ඡාවක දී ලෝක සාමය ඇති කර ගැනීම සඳහා අන්තර්ජාතික සංවිධානයක් පිහිටුවීම පිළිබඳව සාකච්ඡා කළහ.



රූපය 8.18 නිව්යෝර්ක්හි පිහිටි එක්සත් ජාතීන්ගේ මූලස්ථාන ගොඩනැගිල්ල



රූපය 8.19 එක්සත් ජාතීන්ගේ නිල ලාංඡනය

ක්‍රි. ව. 1943 දෙසැම්බර් මාසයේ ටෙහෙරාන් නුවරදී

- ★ ඇමරිකා එක්සත් ජනපද ජනාධිපති ෆ්‍රැන්ක්ලින් රූස්වෙල්ට්
- ★ බ්‍රිතාන්‍ය අගමැති වින්ස්ටන් චර්චිල්
- ★ රුසියානු නායක ජෝශප් ස්ටාලින්

යන ලෝක බලවත්තු තිදෙනා මේ පිළිබඳව තවදුරටත් සාකච්ඡාවක් පැවැත්වූහ. ලෝක සාමය පවත්වාගෙන යාම සඳහා ජගත් සංවිධානයක් පිහිටුවිය යුතු ය, යන යෝජනාව මෙහි දී ඉහත නායකයෝ පිළිගත්හ. ඒ අනුව එක්සත් ජාතීන්ගේ සංවිධානය බිහි වීමට පදනම් වූ එක්සත් ජාතීන්ගේ ප්‍රඥප්තිය සම්පාදනය කිරීම සඳහා 1945 ජූනි මාසයේ දී ඇමරිකා එක්සත් ජනපදයේ සැන් ප්‍රැන්සිස්කෝ නුවර දී සාකච්ඡාවක් පැවැත්වී ය. මේ සඳහා රටවල් 50ක නියෝජිතයෝ සහභාගී වූහ. සමුළුවට සහභාගී නො වූ පෝලන්තය ද පසුව ප්‍රඥප්තියට අත්සන් තැබී ය. ඒ අනුව ආරම්භක සාමාජික සංඛ්‍යාව 51ක් විය. 1945 ඔක්තෝබර් 24 වනදා ප්‍රඥප්තිය නිල වශයෙන් අනුමත කරන ලදුව සංවිධානය නිල වශයෙන් පිහිටුවී ය. එහෙයින් ඔක්තෝබර් 24 දින එක්සත් ජාතීන්ගේ දිනය ලෙස සලකනු ලැබේ.

**එක්සත් ජාතීන්ගේ සංගමය පිහිටුවීමේ අරමුණු**

- ජාත්‍යන්තර සාමය හා ආරක්ෂාව පවත්වාගෙන යාම.
- ජාතීන් අතර මිත්‍ර සම්බන්ධතා වර්ධනය කිරීම.
- මානව අයිතිවාසිකම් හා මූලික නිදහස තහවුරු කිරීමෙහි ලා ජාත්‍යන්තර සහයෝගය සාක්ෂාත් කර ගැනීම.

**එක්සත් ජාතීන්ගේ සංවිධානයේ ව්‍යුහය.**

එක්සත් ජාතීන්ගේ සංවිධානය ප්‍රධාන ආයතන හයකින් සමන්විත ය

1. මහා මණ්ඩලය
2. ආරක්ෂක මණ්ඩලය
3. ආර්ථික හා සමාජීය මණ්ඩලය
4. භාරකාර මණ්ඩලය
5. ජාත්‍යන්තර අධිකරණය
6. මහලේකම් කාර්යාලය

**මහා මණ්ඩලය**


රූපය 8.20 එක්සත් ජාතීන්ගේ මහා මණ්ඩල රැස්වීම් ශාලාව

එක්සත් ජාතීන්ගේ සියලු සාමාජික රටවල නියෝජිතයන් එක් වීමෙන් මෙය නිර්මාණය වේ. මෙහි සාමාජික සංඛ්‍යාව 193කි. සෑම අවුරුද්දක ම සැප්තැම්බර් මාසයේ මෙම සභාවේ නිත්‍ය සැසිවාරය පැවැත්වේ. මෙම මණ්ඩලයේ සියලු ම සාමාජිකයන් නියෝජනය වන්නේ සමාන පදනමක් මත යි. සෑම සාමාජික රටකට ම එක ඡන්දය බැගින් හිමි වේ. මහා මණ්ඩලයේ ප්‍රධාන කාර්යයන් හා බලතල පහත පරිදි දැක්විය හැකි ය.

- අන්තර්ජාතික සාමයට හා ආරක්ෂාවට අදාළ ඕනෑ ම ප්‍රශ්නයක් සාකච්ඡා කිරීම හා ඒ පිළිබඳව නිර්දේශ ඉදිරිපත් කිරීම, සාමාජික රාජ්‍යයන්ගේ ආර්ථික, සෞඛ්‍යය, මානව අයිතිවාසිකම් ආදි ක්ෂේත්‍රවල ප්‍රවර්ධනය උදෙසා යෝජනා ඉදිරිපත් කිරීම.
- එක්සත් ජාතීන්ගේ අය වැය සලකා බලා අනුමත කිරීම හා සාමාජික රටවල් විසින් ගෙවිය යුතු දායක මුදල් ප්‍රමාණය සලකා බැලිම.
- ආරක්ෂක මණ්ඩලයේ නිර්දේශ මත මහලේකම් පත් කිරීම, අන්තර්ජාතික අධිකරණයට විනිශ්චයකරුවන් පත් කිරීම සහ නව සාමාජිකයන් සංවිධානයට බඳවා ගැනීම.

## ආරක්ෂක මණ්ඩලය




රූපය 8.21 ආරක්ෂක මණ්ඩලයේ සාමාජිකයන් ඡන්දය භාවිත කරන අවස්ථාවක්

මෙම මණ්ඩලය සාමාජික රටවල් 15කින් සමන්විත ය. ඇමරිකා එක්සත් ජනපදය, සෝවියට් සංගමය, එක්සත් රාජධානිය, ප්‍රංශය හා චීනය යන රටවල් පහ මෙහි නිත්‍ය සාමාජිකයන් වේ. සෙසු සාමාජිකයන් 10 දෙනාගේ සාමාජිකත්වය වසර දෙකකට සීමා වේ. ආරක්ෂක මණ්ඩලයේ නිත්‍ය සාමාජිකයන් පස් දෙනාට නිෂේධ බලය හිමි වේ. නිෂේධ බලය යනු, ඕනෑම යෝජනාවකට විපක්ෂව ඡන්දය දී එම යෝජනාව නිෂ්ප්‍රභ කිරීමට නිත්‍ය සාමාජිකයන්ට ඇති බලය යි. ආරක්ෂක මණ්ඩලයේ තීරණ පිළිගෙන ක්‍රියාත්මක කිරීමට එක්සත් ජාතීන්ගේ සියලු සාමාජිකයෝ ප්‍රඥප්තියෙන් බැඳී සිටිති.

ජාත්‍යන්තර සාමයට හා ආරක්ෂාවට තර්ජනය විය හැකි ගැටුම් පිළිබඳ පරීක්ෂා කොට බලා ඒවා සාමකාමීව විසඳීම සඳහා නිර්දේශ ඉදිරිපත් කිරීම ආරක්ෂක මණ්ඩලයේ ප්‍රධාන කාර්ය යි. කිසියම් ආක්‍රමණිකයෙකුට විරුද්ධව ආර්ථික සම්බාධක පැනවීම හා අවශ්‍ය නම් යුධ බලය යෙදවීම වැනි ක්‍රියාමාර්ග ගැනීම මෙම මණ්ඩලයේ වැදගත් කාර්යයන් වේ.

## ආර්ථික හා සමාජීය මණ්ඩලය




රූපය 8.22 ආර්ථික හා සමාජ කටයුතු මණ්ඩලයේ රැස්වීම් අවස්ථාවක්

ECOSOC

මෙම මණ්ඩලයේ සාමාජික සංඛ්‍යාව 54කි. ඔවුන්ගේ සාමාජිකත්ව කාලය අවුරුදු තුනකි. අන්තර්ජාතික සහයෝගයෙන් ලෝක ප්‍රජාවගේ ආර්ථික, සාමාජික, සංස්කෘතික, අධ්‍යාපනික හා සෞඛ්‍ය අංශ වැඩි දියුණු කිරීම මෙහි ප්‍රධාන අරමුණු වේ. මෙම මණ්ඩලය සිය කටයුතු කරගෙන යාම සඳහා අනුබද්ධ ආයතන රාශියක් උපයෝගී කර ගනියි.

ජාත්‍යන්තර කම්කරු සංවිධානය (ILO), ආහාර හා කෘෂිකර්ම සංවිධානය (FAO)"එක්සත් ජාතින්ගේ ආධ්‍යාපනික, විද්‍යාත්මක හා සංස්කෘතික සංවිධානය (UNESCO), ජාත්‍යන්තර මූල්‍ය අරමුදල (IMF), ලෝක සෞඛ්‍යය සංවිධානය (WHO), එක්සත් ජාතීන්ගේ ළමා අරමුදල (UNICEF) ආදිය ඒ අතර වැදගත් වේ.

## භාරකාර මණ්ඩලය

මෙම මණ්ඩලය සතු වූ ප්‍රධාන කාර්යය වූයේ එක්සත් ජාතීන්ගේ භාරකාර ක්‍රමය යටතට ගනු ලැබූ ප්‍රදේශ පාලනය කිරීම යි. එක්සත් ජාතීන්ගේ සංවිධානය පිහිටුවූ අවධියේ භාරකාර රාජ්‍ය 11ක් විය. 1994 වන විට සියලු භාරකාර ප්‍රදේශ ස්වාධීනත්වය හිමි කර ගනු ලැබී ය. එතැන් සිට මෙම මණ්ඩලය අක්‍රීයව පැවතුණි. මහලේකම්වරයාගේ නිර්දේශ පරිදි භාරකාරත්ව මණ්ඩලය අහෝසි කිරීමට 2005 ලෝක නායක සමුළුව තීරණය කර ඇත.

## ජාත්‍යන්තර අධිකරණය

එක්සත් ජාතීන්ගේ ප්‍රධාන අධිකරණය ජාත්‍යන්තර අධිකරණය වේ. නෙදර්ලන්තයේ හේග් නුවර එය පිහිටුවා ඇත. සාමාජික රටවල, අධිකරණ ක්ෂේත්‍රවල ඉහළ ම තනතුරු දැරූවන් හා අන්තර්ජාතික නීතිය පිළිබඳ විශේෂඥයන් අතරින් විනිශ්චයකරුවන් තෝරාගනු ලැබේ.



රූපය 8.23 හේග් නගරයේ පිහිටි අන්තර්ජාතික අධිකරණය

එක්සත් ජාතීන්ගේ විවිධ ආයතනවලට අවශ්‍ය නීති උපදෙස් ලබාදීම ජාත්‍යන්තර අධිකරණයේ ප්‍රධාන කාර්යය වේ. එසේ ම සාමාජික රටවල් අතර පැන නගින ආරවුලක් සම්බන්ධව නීතිමය විසඳුමක් ලබා ගැනීම සඳහා ද මෙම අධිකරණයේ පිහිට පැතිය හැකි ය.

## මහලේකම් කාර්යාලය

එක්සත් ජාතීන්ගේ ප්‍රධාන පරිපාලන කාර්යාලය මහලේකම් කාර්යාලය යි. ඇමරිකා එක්සත් ජනපදයේ නිව්යෝර්ක් නුවර මෙය පිහිටුවා තිබේ. ආරක්ෂක මණ්ඩලයේ නිර්දේශ අනුව මහා මණ්ඩලය විසින් අවුරුදු පහක කාල සීමාවකට තෝරා පත් කර ගන්නා මහලේකම්වරයා මෙම කාර්යාලයේ ප්‍රධාන නිලධාරියා ය. ජාත්‍යන්තර සාමයට හා ආරක්ෂාවට හානි වේ යැයි සිතන ඕනෑ ම ප්‍රශ්නයක් ආරක්ෂක මණ්ඩලයට ඉදිරිපත් කිරීමට මහලේකම්වරයාට බලය ඇත.

මෙම කාර්යාලයට අයත් කාර්යයන් සඳහා ලොව පුරා කාර්යාල රැසක් පවත්වාගෙන යයි. ඒවායේ නිලධාරීන් සංඛ්‍යාව නවදහසකට ආසන්න වේ.

## එක්සත් ජාතීන්ගේ සංවිධානය ලෝක සාමය රැකීම සඳහා ගත් ප්‍රයත්න

අනාගත පරම්පරාව විනාශකාරි යුධ බියෙන් මුදවාගැනීමේ පරමාර්ථය ඇතිව පිහිටුවූ එක්සත් ජාතීන්ගේ සංවිධානය සිය කටයුතු ආරම්භ කළේ පරමාණු බලශක්ති කොමිසම පිහිටුවීමෙනි. දෙවන ලෝක සංග්‍රාමයේ දී පරමාණු බෝම්බයෙන් සිදු වූ විනාශය නිසා පරමාණු බලය පාලනය කිරීමේ අවශ්‍යතාව දැඩිව ලොවට කියා පෑම සඳහා ආරම්භයේ දී ම මෙවැනි කාර්යයකට යොමු වන්නට ඇත.

දෙවන ලෝක මහා සංග්‍රාමය නිම වීමෙන් පසුව ඇමෙරිකා එක්සත් ජනපදය හා රුසියාව යන රටවල් දෙක ප්‍රමුඛ කොට ලෝකයේ කඳවුරු දෙකක් නිර්මාණය වූ බැවින් තම තම බල කඳවුරෙහි ජයග්‍රහණය තකා උපායශීලීව කටයුතු කිරීමට බලවත් රටවල් පෙළඹුණි. අවි ආයුධ භාවිතයෙන් තොරව ගෙන ගිය මේ තත්ත්වය සීතල යුද්ධය හෙවත් නිරවි යුද්ධය වශයෙන් හැඳින්වේ. එම තත්ත්වය යටතේ ගැටුම් ඇති වීමට ගිය අවස්ථා කිහිපයක් එක්සත් ජාතීන්ගේ සංවිධානයේ මැදිහත් වීමෙන් ගැටුම්වලින් තොරව විසඳා ගැනීමට හැකි විය. එයට උදහරණ කිහිපයක් පහත දැක්වේ.

- සුවස් අර්බුදය

මිසර ජනාධිපති අබ්දුල් ගමාල් නසාර් සමාජවාදී ආර්ථික පිළිවෙත අගයමින් සුවස් ඇළ ජනසතු කළේ ය. මින් ප්‍රංශ සමාගම් අපහසුතාවට පත් වීම නිසා ඊශ්‍රායල, බ්‍රිතාන්‍ය සහ ප්‍රංශ හමුදා සුවස් ප්‍රදේශය වෙත එවන ලදි. එක්සත් ජාතීන්ගේ මැදිහත් වීමෙන් මෙය සමථයකට පත් කිරීමට හැකි විය.

- ගල්ෆ් අර්බුදය

ඉරාකය සහ කුවේටය අතර දේශ සීමාවේ පිහිටි තෙල් නිධියක් මුල්කරගෙන මෙම ගැටුම ඇතිවිය. මේ නිසා ඉරාකය විසින් කුවේටය ආක්‍රමණය කරන ලදි. මෙම යුද්ධය නිසා විශාල විනාශයක් සිදු විය. පසුව එක්සත් ජාතීන්ගේ මැදිහත් වීමෙන් මෙම අර්බුදය විසඳා ගැනීමට හැකි විය.

- කියුබානු මිසයිල අර්බුදය

කියුබානු විප්ලවය අවස්ථාවේ එරටින් එක්සත් ජනපදයට පලාගිය පිරිස් එක්සත් ජනපදයේ යුධ පුහුණුව ලැබ පිදෙල් කැස්ත්‍රෝගේ සමාජවාදී රජයට එරෙහිව ආයුධ සන්නධව පැමිණියහ. කැරලිකරුවන්ට එක්සත් ජනපදයේ ආධාර ලබාදුන් බැවින් එරටට පහර දිය හැකි මිසයිල රුසියාව විසින් කියුබාවේ සවි කරන ලදි. මේ නිසා ඇමරිකාව විසින් කියුබාව වටලන ලද අතර රුසියාවට එල්ල කොට තුර්කියේ ද මිසයිල රඳවන ලදි. මෙම ගැටලුව එක්සත් ජාතීන්ගේ මහලේකම්ගේ මැදිහත් වීමෙන් විසඳන ලදි.

## වර්තමාන ලෝක සාමය රැකීම සඳහා එක්සත් ජාතීන්ගේ සංවිධානයට ගත හැකි ක්‍රියාමාර්ග

දෙවන ලෝක යුද්ධයෙන් පසු රටවල් අතර ඇති වූ අර්බුද ගණනාවක් එක්සත් ජාතීන්ගේ සංවිධානයේ මැදිහත් වීමෙන් සමථයකට පත් කළ ආකරය අපි ඉහතින් දුටුවෙමු. රටවල් අතර ඇති වන අර්බුද සමථයකට පත් කොට ලෝක සාමය රැක ගැනීම සඳහා එක්සත් ජාතීන්ගේ සංවිධානයට ගත හැකි ක්‍රියාමාර්ග කිහිපයක් තිබේ. ලෝක සාමයට තර්ජනයක් විය හැකි අවස්ථාවල බොහෝ විට එක්සත් ජාතීන්ගේ සංවිධානයේ ආරක්ෂක මණ්ඩලයේ මැදිහත් වීමෙන් ගැටලු නිරාකරණය කර ගැනීමට උත්සාහ කෙරේ. අන්තර් ජාතික සාමය හා ආරක්ෂාව පවත්වා ගැනීමේ මූලික වගකීම ආරක්ෂක මණ්ඩලය වෙත පැවරී තිබීම ඊට හේතු වේ.

ආරක්ෂක මණ්ඩලයේ නිර්දේශ පරිදි ලෝක සාමය ආරක්ෂා කිරීම සඳහා එක්සත් ජාතීන්ගේ සංවිධානයට ගත හැකි ක්‍රියාමාර්ග කිහිපයක් පහත දැක්වේ.

### ආර්ථික සම්බාධක පැනවීම

එක්සත් ජාතීන්ගේ සංවිධානයේ තීරණවලට එරෙහිව කටයුතු කරන රටවලට ආර්ථික සම්බාධක පැනවීම මගින් එකී තීරණ ක්‍රියාත්මක කරවීමට, අදාළ රටවල් පොළඹවා ගත හැකි ය.

### න්‍යෂ්ටික අවි තැනීම සීමා කිරීම හා පාලනය කිරීම සඳහා කටයුතු කිරීම

ඇතැම් රටවල් අලුතෙන් න්‍යෂ්ටික අවි තනන බවට තොරතුරු ලැබුණු විට එක්සත් ජාතීන්ගේ කොමිසන් සභා මගින් ඒවා පරීක්ෂා කෙරේ. උතුරු කොරියාවේ සහ ඉරානයේ න්‍යෂ්ටික අවි පිරික්සීමට එවැනි කොමිසන් පත් කෙරිණි.

### සාම සාධක හමුදාව යෙදවීම

දෙපාර්ශ්වයක් අතර දරුණු යුද ගැටුම් ඇති විය හැකි අවස්ථාවල තත්ත්වය පාලනය කිරීම සඳහා එක්සත් ජාතීන්ගේ සාම සාධක හමුදාව යොදවනු ලැබේ.